# සිංහල
# භාෂාව හා සාහිත්‍යය

## 09 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අතිසෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර දා නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය** - පී. එන්. අයිලප්පෙරුම
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම** - ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය** - ප්‍රගීතිකා ජයසේකර
නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

1. රත්නසිරි අරංගල - මහාචාර්ය
ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

2. සඳගෝමි කෝපරහේවා - මහාචාර්ය
කොළඹ විශ්වවිද්‍යාලය

3. එම්. ආර්. ඩබ්ලිව්. මද්දුම - අධ්‍යක්ෂ
සිංහල භාෂා දෙපාර්තමේන්තුව
ජාතික අධ්‍යාපන ආයතනය

4. පූජ්‍ය කුකුරම්පොල ඤාණවිමල හිමි - ජ්‍යෝෂ්ඨ කථිකාචාර්ය
සිංහල භාෂා දෙපාර්තමේන්තුව
ජාතික අධ්‍යාපන ආයතනය

5. පී. ඒ. වීරක්කොඩි - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ
භාෂා හා මානව ශාස්ත්‍ර අංශය
අධ්‍යාපන අමාත්‍යාංශය

6. ප්‍රගීතිකා ජයසේකර - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**භාෂා සංස්කරණය**

පූජ්‍ය ආචාර්ය මොරකන්දේගොඩ අරියවංස හිමි - ජ්‍යෝෂ්ඨ කථිකාචාර්ය
රුහුණ විශ්වවිද්‍යාලය

## ලේඛක මණ්ඩලය

1. පී. ජී. ජී. ගයා වැයිහේන - ගුරු උපදේශක
කලාප අධ්‍යාපන කාර්යාලය
හෝමාගම

2. පුෂ්පා ජෙනට් කළුආරච්චි - ගුරු උපදේශිකා
කලාප අධ්‍යාපන කාර්යාලය, රත්නපුර.

3. තරංගා රණසිංහ - ගුරු සේවය
මොරටුව මහා විද්‍යාලය,
මොරටුව

4. ප්‍රසාදිනී දන්වත්ත ලියනගේ - නියෝජ්‍ය විදුහල්පති
බප/ජය/ධර්මාශෝක ක.වි.
මහරගම

5. එච්. ඒ. දිලුම් රත්නමාලා

## සෝදුපත් කියවීම

ජයත් පියදසුන් - නියෝජ්‍ය ප්‍රධාන උපකර්තෘ, සිළුමිණ,
ලංකාවේ සීමාසහිත එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගම

## චිත්‍ර නිර්මාණය

සමන් කළුබෝවිල - ගුරු සේවය,
අනුර මධ්‍ය මහා විද්‍යාලය, යක්කල.

## පිටකවර නිර්මාණය

ඉන්දික ගුණවර්ධන

## පරිගණක අක්ෂර සංයෝජනය

එස්. වී. ජී. එරංගා දිල්රුක්ෂි - පරිගණක තාක්ෂණික සහායක,
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# පටුන



# 1

# ශ්‍රී පාදය වැන්දවූ හැටි

කිසියම් ජන කොට්ඨාසයක් අතර කලාන්තරයක් තිස්සේ කටින් කට පැවත එන කතාන්දර, කවි, පිරුළු, රූඪී ආදිය ජනශ්‍රැතිය ලෙස හැඳින්වෙයි. ජනශ්‍රැතියෙන් අදාළ ජන කොට්ඨාසයේ ලෝකය පිළිබඳ විශ්වාස සහ දැක්ම නිරූපණය වේ. එමෙන් ම ජන කොට්ඨාසයක ලේඛන ගත නොවූ ඉතිහාසය ජනශ්‍රැතියක ඇතුළත් විය හැකි ය. ඉතිහාස ග්‍රන්ථවල ඇතුළත් නොවන වැදගත් තොරතුරු ද ඇතැම් විට ජනශ්‍රැතියෙහි ගැබ් විය හැකි ය. ජන කතාව ජනශ්‍රැතියට අයත් සාහිත්‍යාංගයකි. ගැමි ජනයාගේ ජීවිතයේ ප්‍රකට වන සතුට, ශෝකය මෙන් ම ජීවිතයේ විවිධ සිද්ධි හා අවස්ථා වෙත ඔවුන් විසින් හෙළන ලද උපේක්ෂා සහගත දෘෂ්ටිය ද ජන කතාවල සියුම් ලෙස නිරූපණය වී ඇත. මෙහි එන ජන කතාව විශ්‍රාමික විදුහල්පතිවරයකු වූ ඩී. පී. වික්‍රමසිංහ මහතාගේ 'මග දිගට ජන කතා' කෘතියෙන් උපුටා ගන්නා ලද්දකි.

මල්ලැහැව ගමට දකුණු දෙසින් පිහිටියේ කොටගම නමැති ගමයි. එය ද ඉතා පුරාණ කාලයේ සිට වැදගත් පරම්පරාවන්ට වාසභූමි වූ සරුසාර ගමකි. මේ ගම් දෙකට මැදින් ගල්ඔය ගලා බසී. දෙහිගල කඳුවැටියේ මැද භාගයේ උල්පත්වලින් පටන් ගන්නා මේ ගල්ඔය හරස්කර සේනානායක සමුද්‍රය නමැති අතිවිශාල මහා වාපිය බඳින ලද්දේ මෑතක දී ය. ගල්ඔයේ උත්පත්ති ප්‍රදේශය අසලින් මේ ගංගාව වැදගන්නා ශාඛා ඔයවල්වල ජලයෙන් පෝෂිත කොටගම වෙල්යාය ඉතා විශාල ය. එමෙන් ම ඉතා සාරවත් ය. වෙල්ලස්සේ පිහිටි ගම්වලින් මධ්‍යස්ථ දේශගුණයෙන් හා දර්ශනීයත්වයෙන් ද ප්‍රධානත්වය දෙතොත් නිරායාසයෙන් ම එය කොටගමට ලැබෙනවා ඇත.

පෙර සිංහල රජුන් දවස (අහවල් රජුගේ කාලයේ යැයි ස්ථිරව කිය නොහැකි ය) මේ ගමෙහි ඉතා ධනවත් වූ ද වංශවත් වූ ද රදල පවුලක් විය. ධනවත්කම අනුව කොටගම සිටාණෝ යන නම මේ රදලවරයාට ව්‍යවහාර විය. ඒ සිටාණන්ට හා සිටු දේවියටත් සිටියේ එක ම දියණියකි. වැඩිවියට පත් දියණිය ඉතා ගුණවත් නැණවත් රූපශෝභිනියක් වූවා ය. සුදුසු කල්හි ඇය සුදුසු කුල පුත්‍රයෙකුට විවාහ කර දුන්නෙන්, ඒ යුවළ මවුපියන් සමග ඒ සිටු මැඳුරෙහි ම වාසය කළෝ ය. කල්යාමෙන් පසු මහලු මවුපිය දෙදෙන කාලක්‍රියා කළෙන් ඔවුන්ට අයිති මුළු ධන සම්පත්තියෙහි ම පාලනය ඔවුන් වෙත පැවරිණි. ඉතා සමගි සම්පන්න ප්‍රීතිමත් විවාහ ජීවිතයක් ගත කළ ඔවුනට පුතුන් තිදෙනකු ලැබිණි. වැඩිමහල් පුතා අටළොස්වියට පත් කල්හි, ඒ පියා ද ජීවතුන් අතරෙන් තුරන් විය. සිටුකුමරිය අධෛර්ය නොවී සිය විශාල ධනස්කන්ධය ද නැති වී යා නො දී ආරක්ෂා කරමින් පුතුන් තිදෙනා ද හදා වඩා ගත්තා ය.

සුදුසු කල්හි සිය පුතුනට ද සුදුසු අන්දමින් කුලකුමරියන් සොයා ආවාහ කරදුන් සිටු කුමරිය, පරලොව සඳහා නොයෙක් පින්කම්හි යෙදුණා ය. නිති පන්සිල් රැකීමත් පෝය අටසිල් රැකීමත් අසල වූ විහාරස්ථානයට දන් පැන් දීමත් දුගියන්ට ආධාර කිරීමත් ඕ නො කඩවා සිදු කළා ය. අනුරාධපුර, කතරගම ආදි දුර බැහැර ස්ථානවලට වන්දනාව පිණිස ගියා ය. මෙසේ පින් කරමින් සිටිය දී ස්වභාව ධර්මය පරිදි මහලු බවට පත්ව සිය උත්සාහයෙන් ඈත ගමන් යාමට බැරි තත්ත්වයට පත් වූවා ය. ‘මම ලක්දිව බොහෝ විහාරස්ථාන වන්දනා කළෙමි. මට වන්දනා කර ගන්ට බැරි වූයේ ශ්‍රී පාද පද්මය පමණ යි. අහෝ! තරුණ කාලයේ එය කර ගන්ට බැරි විය. කෙසේ හෝ මැරෙන්ට පළමුව ශ්‍රී පාද පද්මය ද වැඳ ගත්තොත්, ප්‍රීතිමත් සිතින් අවසන් හුස්ම හෙළිය හැකි ය. එය කෙසේ හෝ කළ යුතු ම ය. මම එය මගේ පුතුන්ට කියා බලමි. යම් පුතෙක් මගේ ඒ අදහස ඉෂ්ට කළ හොත් ඔහුට මගේ මුළු වස්තුව ම පවරන්නෙමි’යි ඕ සිතුවා ය.

මෙසේ සිතූ සිටු දුව තම පුතුන් තිදෙනා කැඳවා “දරුවෙනි, මම ලංකාවේ බොහෝ වෙහෙර විහාර වන්දනා කළෙමි. මට වන්දනා කරන්ට බැරි වූයේ ශ්‍රී පාද පද්මය පමණ යි. ඒ නිසා ඔබ තිදෙනාගෙන් යමෙකු මා ශ්‍රී පාදස්ථානයට ගෙන ගොස් වන්දනා කරවුව හොත් මගේ මුළු

වස්තුව ඔහුට පවරන්නෙමි"යි කීවා ය. එබස් ඇසූ වැඩිමහල් පුත්තු දෙන්නා ම "අනේ අම්මේ, ඔබේ දැන් තත්ත්වය හැටියට කෙසේ ශ්‍රී පාද ගමන කළ හැකි ද? එය පිහිටියේ කොතරම් දුර ද? කොතරම් උස පර්වතයක් මුදුනේ ද? දැන් අම්මාගේ තත්ත්වයේ හැටියට කිසි සේත් එය කළ නොහැකි යි. එබැවින් එය සිතින් අස් කර ගත මැනව"යි කීවෝ ය. ඒ අසා සිටි බාල පුත්‍රයා 'අම්මාට ශ්‍රී පාදය වන්දනා කරගන්ට බැරි වුවොත් ඒ ගැන කලකිරුණු සිතින් ම ලෙඩ වී ඉක්මනින් මිය යාමට ද පුළුවනි. එහෙත් එවැනි දුෂ්කර ගමනක් අම්මා සමග යාමට ද නුපුළුවන. ගියොත් ආපසු එන්ට ලැබේ යයි සිතිය නොහැකි ය. ඒ නිසා මම දවස් කීපයකින් යා හැකි ශ්‍රී පාදය වැනි කන්දක් සොයා ඒ මත ශ්‍රී පාද ලාංඡනයක් කොටවා අම්මා කැඳවාගෙන ගොස් වන්දවා ඇගේ සිතේ ආසාව පසිඳලමි"යි සිතුවේ ය. "මෑණියනි, මම ඔබ ශ්‍රී පාදයට කැඳවාගෙන යමි. නමුත් ඊට පෙර, එහි යාමට සුදුසු ගමන් මාර්ගය ආදිය දැනගත යුතු ය. මා එය දැනගෙන එන තුරු සතුටින් සිටිනු මැනව"යි පවසා විශාල ධන සම්භාරයකුත් රැගෙන ඉතා විශ්වාස කීප දෙනෙකුත් වුවමනා උපකරණත් රැගෙන එවැනි කන්දක් සොයමින් ඇවිද්දේ ය.

උස් කඳු ප්‍රදේශය පිහිටියේ තම ගමෙන් දකුණු දෙස බැවින් ඒ දෙසට ගමන් කළ ඔවුහු බදුලු පුරයට පැමිණියෝ ය. ඉනුත් දකුණු දෙසට දික්වැල්ල නාවුල්ල ආදි ගම් පසු කර පුරාණයේ දී ඒ කඳුකර ප්‍රදේශයෙන් ගුත්හල් මඩුල්ලට වැටී තිබූ දුර්ග මාර්ගය පටන්ගන්නා වූ ද, මාගම් පත්තුවෙන් සමුද්‍රය වැලඳගන්නා කිරිඳිඔයේ උත්පත්ති ප්‍රදේශය වන බඹරගම පසු කොට ඇද හැළෙන රාවණා ඇල්ල යයි ප්‍රසිද්ධ ස්ථානය අසල වූ ද රාවණා රජු විසුවේ යයි කටකතා අනුව පවතිනා ගිරිගුහාව පසෙකින් වූ ද උස් වූ පර්වත ශිඛරයක් දැක සුදුසු ස්ථානයක් ලද්දේ යයි සතුටුව ඒ අසල තාවකාලික පැලක් සාදා එහි නතර වූවෝ ය. සිටු කුමාරයා ගල් වඩුවන් ලවා ඒ ගිරි ශිඛරයට නැගීමට පඩි පෙළක් ද, ශිඛරය මුදුනේ ගල මත ශ්‍රී පාද ලාංඡනයක් ද කෙටවූවේ ය. එසේ ම ශ්‍රී පාද ස්ථානයේ ඇති සමන් දෙවොල මෙන් දේවාලයක් ද, දොළොස් මහේ පහනක් ද ඝණ්ටාරයක් ද වට කර ප්‍රාකාරයක් ද ඉතා ඉක්මනින් ගොඩනගා සියල්ල සම්පූර්ණ කර පිරිවර සමග ආපසු ගමට පැමිණියේ ය.

ඉක්බිති සිටු කුමරා "මෑණියනි, මම ශ්‍රී පාද ස්ථානයට යන ගමන් මාර්ගය හා යා යුතු විධිය ද දැනගෙන ආවෙමි. ඒ නිසා ශ්‍රී පාද වන්දනාවට යාම පිණිස සූදානම් වනු මැනවැ"යි දන්වා සිටියේ ය. සිටු මාතාව ඉතාමත් ප්‍රීතියට පත්ව, පූජාවට අවශ්‍ය සියලු උපකරණ වහා ම සකස් කරවාගෙන තමාට උපස්ථානය සඳහා හිතවත් දැස්සන් කීපදෙනකු ද ගමනට නිල කරවාගෙන තමා ගමනට සූදානම් බව පුත්‍රයාට දැන්වූවා ය. සිටු කුමරා ද, ගමනට සුදුසු වේලාවක් සූදානම් කර ගෙන, ගෙන යාම සඳහා අවශ්‍ය දෝලා ගෙන, ප්‍රමාණ වන පිරිස ද රැස් කර ගෙන ගෙන යාම සඳහා අවශ්‍ය ආහාර, බෙහෙත් ආදි උපකරණ ඒවා ගෙන යාමට පිරිස ද එක්රැස් කර ගෙන සුබ නැකතින් මෑණියන් පෙරදැරි කර ගෙන වන්දනා ගමනට පිටත් විය. ඔවුහු තැනිතලා ප්‍රදේශය පසු කර කඳුකර පර්වත භූමිකාවට නැග ඒ ඒ ස්ථානයන්හි ලැගුම් ගනිමින් ක්‍රමයෙන් ගොස් සති දෙකක දී පමණ බදුලු

පුරවරයට පැමිණියෝ ය. “මෑණියනි, අප මේ පැමිණියේ සමන්තකූට පර්වතය අසල පිහිටි රත්නපුර නගරයට ය. ගමනේ දුෂ්කර කොටස ඇත්තේ ඉදිරියට ය. සමන් දෙවියන්ගේ කරුණාවෙන් අපට තව දවස් කීපයකින් ශ්‍රී පාද පද්මය දැක වැඳ පුදා ගන්නට හැකි වේ යයි සිටු කුමාරයා කීවේ ය.

බදුලු පුරයෙන් පිටත් වූ ඔවුහු අතරමග නොයෙක් ස්ථානවල නැවතී ගිමන් හරිමින් ගොස් රාවණා ඇල්ල සමීපයෙහි වූ කඳු කපොල්ලට පැමිණියෝ ය. “මෑණියනි, මේ සීත ගඟුලයැ”යි කියා රාවණා ඇල්ල සමීපයෙන් ජලස්නානය කරවා පිරුවට අඳවා දෝලාවෙන් ම මෑණියන් කඳු ශිඛරයට කැඳවාගෙන ගියේ ය. “මෑණියනි, මේ ශ්‍රී පාද පද්මය යි. මේ සමන් දේවාලය යි. මේ පෙනෙන්නේ දොළොස්මහ පාන යි. අර තිබෙන්නේ සංඝාරාමය යි” ආදි වශයෙන් පෙන්වා දී, “සිත් සේ වැඳ පුදා ගනු මැනවැ”යි කී කුමාරයා රාත්‍රී වාසය පිණිස ස්ථානයක් වැඩකරුවන් ලවා පිළියෙල කරවී ය. ශ්‍රද්ධාවෙන් ඉපිල ගිය සිටු මාතාව ගෙන ගිය පූජා භාණ්ඩ පුද කර සිත් සේ වැඳ පුදා ගත්තා ය. එදින කඳු ශිඛරයෙහි ම ගත කළ ඔවුහු පාන්දර සූර්යෝදය සමග වන ඉර සේවය ද බලා යහතින් කන්දෙන් පහළ බැස ක්‍රමයෙන් මග ගෙවා සිය ගමට පැමිණියෝ ය.

ශ්‍රී පාද වන්දනාවෙන් පසු ප්‍රීතියට පත් වූ සිටු මාතාව තමා සන්තකව පැවති සියලු වස්තුව පොරොන්දු ප්‍රකාර බාල පුතාට පැවරුවා ය. මවකගේ සන්තානයෙහි පවතින දාරක ප්‍රේමයෙහි බලමහිමය මෙතැන දී ඇයගේ සිත්හි බලපවත්වන්නට විය. ඕ බාල පුතාට කතා කර, “පුතණුවනි, මා සිතෙහි බල පැවැත්වූ ඒ වන්දනා ගමන ඔබ ඉටු කළ නිසාත්, මා ඒ ගැන පොරොන්දුවක් වූ නිසාත් මගේ මුළු වස්තුව ම ඔබට පැවැරුයෙමි. එහෙත්, ඉතිරි දරුවන් දෙදෙනා කෙසේ ජීවත් වේ ද? ඔවුන්ට යන කලදසාව කිම? මගේ ඒ ආශාව ඉටු කළා සේ ම ඔබ දැන් මගේ සිතේ ශෝකය ද දුරු කළොත් මට ඉතා සන්තෝෂයෙන් අන්තිම ගමන යා හැකි ය. එය ද කළ හැකි වන්නේ ඔබට පමණ යි” යැයි කීවා ය.

යුතුකම් දන්නා වූ ද, උණු වන හෘදයක් ඇත්තා වූ ද ඒ සිටු පුත්‍රයා “මෑණියනි, ඔබගේ ශෝකය දුරු කරවා ගත මැනව. මම මගේ වැඩිමහල් සහෝදරයන් දෙදෙනා මගට බැස්සීමට සතුටු නො වෙමි. ඔබ නො කීවත් මා බලාපොරොත්තු වූයේ මගේ සහෝදරයන්ට මා ලත් වස්තුව බෙදා දීමට ය. එබැවින් සිත පහදා ගත මැනව. අද ම මගේ සහෝදරයන් දෙදෙනාට මා ලත් වස්තුව බෙදා දෙමි”යි කියා සහෝදරයන් දෙදෙනා කැඳවා මෑණියන් ඉදිරිපිට දී ම තමා ලත් වස්තු සම්භාරය තුනට බෙදා දෙකොටසක් තම සහෝදරයන් දෙදෙනාට පැවරුවේ ය. එයින් ප්‍රීතියට පත් මහලු සිටු දේවිය “පුත, ඔබ බෝසත්වරයෙකි. ඔබට බුදුබව ලැබේවා! යි ප්‍රාර්ථනා කරමි. දැන් ඉතින් මට ප්‍රීතියෙන් මගේ අවසන් ගමන යා හැකි ය”යි කීවා ය. ඉන් ටික කලකට පසු ඕ කම් වූ පරිද්දෙන් මිය පරලොව ගියා ය. සහෝදරයෝ තිදෙන සමගියෙන් ජීවත්ව ඉඳ, මහලු විය පත්ව පරලෝක ප්‍රාප්ත වූවෝ ය.

1. තම මවට ශ්‍රී පාදය වැන්දවීමට බාල පුතා යොදා ගත් උපක්‍රමය විස්තර කරන්න.
2. මේ සිටු පුත්‍රයා ගුණ යහපත්කමින් පරිපූර්ණ අයකු බව ප්‍රකට වන්නේ කවර කරුණු නිසා ද?
3. ජන කතා පිළිබඳ ඔබේ අදහස වාක්‍ය තුනකින් පමණ ලියන්න.
4. මෙම ජන කතාවේ ඔබ සිත් ගත් අවස්ථා 2ක් ලියන්න.



# සිංහල භාෂාවේ රසවත් යෙදුම්

ලිවීමේ දී අදහස් වඩා රසවත් ආකාරයෙන් ප්‍රකාශ කිරීමට විශේෂ යෙදුම් උපකාරි වේ. සිංහල භාෂාවේ ප්‍රකාශන ශක්තිය ප්‍රකට කරන සාම්ප්‍රදායික යෙදුම් භාෂාව අලංකාර කිරීම සඳහා යොදා ගෙන ඇත. මේ යෙදුම් ඇසුරෙන් වාක්‍යවල අර්ථය වඩාත් තීව්‍ර ලෙස පැහැදිලි කොට ප්‍රකාශ කළ හැකි ය.

සිංහල වාක් සම්ප්‍රදායේ ප්‍රධාන අංග කීපයක් ලෙස ප්‍රස්තාව පිරුළු, ආප්තෝපදේශ හා රූඪී හඳුන්වා දිය හැකි ය.

## ප්‍රස්තාව පිරුළු

අවස්ථාවට උචිත කියමන, නැති නම් තැනට සුදුසු කියමන බඳු අදහසක් මේ යෙදුම් විශේෂයෙන් මතු කර දක්වයි. බොහෝ විට මේවා පබැඳී ඇත්තේ, කිසියම් කතාවක් හෝ සිදුවීමක් මුල් කොට ගෙන ය. එසේ ම කිසියම් සත්‍යතාවක් හෝ සමාන බවක් හෝ මුල් කර ගත් පිරුළු ද ඇත. ලු, සේ, මෙන්, වැනි, වගේ නිපාතවලින් බොහෝ විට මේවා කෙළවර වී තිබෙනු දැකිය හැකි ය. මුඛ පරම්පරාගතව ඉදිරියට ගෙන ආ පොදු ජනතාවගේ ව්‍යවහාර භාෂාවේ පොහොසත්කම පෙන්වා දීමට ප්‍රස්තාව පිරුළු කදිම නිදසුනකි.

උදාහරණ:- කණා කැස්බෑවා විය සිදුරෙන් අහස බලන්නා සේ

උණා පුරුකේ දැම්මත් බලු වලිගයේ ඇද නෑරේ

කණා කොකාගේ සුද පෙනෙන්නේ ඉගිළෙන විට ලු

ගල හොඳ නම් අඹරන කහ මක් වේ ද?

පය බරවායට පිටි කර බෙහෙත් බැන්දා වගෙයි

## ආප්තෝපදේශ

'ආප්ත' යනුවෙන් අදහස් කෙරෙනුයේ දැනුමැති, ඇසූ පිරූ තැන් ඇති, වියත් යන්න යි. ඒ නිසා බහුශ්‍රැතයන් විසින් දෙනු ලබන උපදෙස් හෝ අවවාද 'ආප්තෝපදේශ' (ආප්ත + උපදේශ) වශයෙන් හඳුන්වා දිය හැකි ය. සැඟවුණු අරුතින් හෝ ව්‍යංග්‍යාර්ථයෙන් තොරව ඍජුව ම කිසියම් උපදෙසක් ලබා දීම ආප්තෝපදේශවල ස්වභාවය යි.

උදාහරණ :- ඔබා දෙනු පර හට - තමා සම්මතයෙහි පිහිටා සිට

-ලෝකෝපකාරය-

| | | | | |
|---|---|---|---|---|
| ගොඩැල්ලේ | තරම | දැනගෙන | ළිඳ | කපනු |
| බොරැල්ලේ | තරම | දැනගෙන | උඩ | පනිනු |
| කඩුල්ලේ | තරම | දැනගෙන | වැට | බඳිනු |
| තමන්ගේ | තරම | දැනගෙන | කල් | අරිනු |

-ජනකවි-

අඟුරු කිරෙන් සේදුවත් සුදු නො වේ

උගත මනා ශිල්පයමයි මතු රැකෙනා

හැදෙන ගහ දෙපෙත්තෙන් දැනේ

අවි ගත්තෝ අවියෙන් ම නසිති

පිරුණු කළේ දිය නො සැලේ

## රූඪී

භාවිත කෙරෙන වචනවල ප්‍රකටව පෙනෙන අර්ථවලට ඉඳුරා ම වෙනස් අර්ථයක් ධ්වනිත වන ලෙස යොදන භාෂාත්මක යෙදුම් රූඪී නම් වේ. පුළුල් අදහසක් වචන කීපයකින් හකුළා තීව්‍රව අර්ථවත්ව ප්‍රකාශ කිරීම රූඪීවල විශේෂ ලක්ෂණය යි. ඉඟි වැකි ලෙස ද හඳුන්වන්නේ රූඪී ම ය. වචනවලට ආරූඪ අර්ථයක් යෙදීම ලෙසින් ද මෙය හඳුන්වා දිය හැකි ය. වාක්‍යයක අර්ථය තීව්‍ර කිරීමට මෙන් ම රසවත් කිරීමට ද රූඪී උපකාරී වෙයි. රූඪී හා ප්‍රස්තාව පිරුළු අතර තරමක සමානකමක් දැකිය හැකි වුවත්, සංක්ෂිප්ත බව හා ව්‍යංග්‍යාර්ථවත් බව හේතුවෙන් රූඪී වෙන් කොට හඳුනා ගැනීම පහසු වෙයි.

උදාහරණ:- උගුරට හොරා බේත් කෑවා

මූණේ දැලි ගෑවා

ගොළුබෙලි ගමන

ඇගේ ලේ වතුර වුණා

කජු කන්නා වගේ

## ලිඛිත අභ්‍යාස

1. **ගැළපෙන රූඪී වරහන් තුළින් තෝරා හිස්තැන් පුරවන්න.**

   i. මැණිකක් ලැබුණු පසු ඔහුගේ ............ වගෙයි.

   ii. ගෙදරින් ලිපියක් ලැබෙන තුරු ............ මාධවන්ගේ සිරිත යි.

   iii. ඔහු මගේ දියුණුවට ........... සේ මට හැඟේ.

   iv. සුමතිපාල ........... බව මාමා කීවේ ය.

   v. ............ සිටියත්, දුකේ දී හැරයන්නෝ මිතුරෝ නො වෙති.

(දිවෙන් දිව ගාගෙන, ඇඟිලි ගැනීම, කරල පැහිලා, දිව දෙකේ මිනිසකු, අකුල් හෙළනවා)

2. I **කොටසේ අරුත්වලට ගැළපෙන රූඪී** II **කොටසින් තෝරන්න.**

| I කොටස | II කොටස |
|---|---|
| කරදර පිට කරදර | වැල්වටාරම් |
| ආදායම පහත වැටීම | කොරේ පිටට මරේ |
| ගෞරවය නැතිව යෑම | බහින කලාව |
| සුදන වෙස් ගත් දුදනා | උපාසක බළලා |
| අනවශ්‍ය විස්තර කීම | සායම යනවා |

## ප්‍රායෝගික අභ්‍යාස

1. **මේ ජන කතාව ඔබ කැමැති වෙනත් ආකාරයකින් ගොඩ නගා ඉදිරිපත් කරන්න.**
2. **පහත දක්වා ඇති පිරුළු ඇති වීමට පාදක වූ කතා පුවත් විමසන්න.**

   i. ගමරාලගේ වංගෙඩිය වගේ

   ii. බළලුන් ලවා කොස් ඇට බැව්වා වගේ

   iii. ලැජ්ජා නැතිකම මහමුදලිකමටත් වඩා ලොකු යි

   iv. කැකිල්ලේ රජ්ජුරුවන්ගේ නඩු තීන්දුව වගේ

   v. බල්ලගේ වැඩේ බූරුවා බාරගත්තා වගේ



# 2

# ලප සේ සඳ විලසේ

සාහිත්‍යය යනු භාෂාව මාධ්‍ය කොට ගෙන හැඟීම් ප්‍රබලාකාරයෙන් දැනවීම සඳහා මානවයා ගොඩනගා ගත් මාර්ගයකි. ගද්‍ය, පද්‍ය හා චම්පූ යනුවෙන් සාහිත්‍යයේ ප්‍රධාන ප්‍රභේද තුනකි. පද්‍යය යනු තාලානුකූලභාවයෙන් යුක්ත වන සේ කරන ලද පද සංයෝජනයකි. සිංහල පද්‍යයට, සිංහල භාෂාවේ ඉතිහාසය තරමට ම දිගු ඉතිහාසයක් පවතී. සිංහල පද්‍ය නිර්මාණයට බොහෝ විට වස්තු වූයේ බුදු සිරිත හෝ බෝසත් සිරිත ය. මෙය පැරණි කවීන් අතර සම්මුතියක් බඳු විය. සම්භාව්‍ය සිංහල සාහිත්‍යය, පාලි හා සංස්කෘත මෙන් ම දෙමළ සාහිත්‍යය ද ඇසුරෙන් සකස් වූවකි. සහජ කවිත්වයත් පෘථුල සංස්කෘතික විඥානයත් සහිතව සම්භාව්‍ය සාහිත්‍යයෙන් බැහැර වූ සාහිත්‍ය ධාරාවක් ද පැතිර ආවේ ය. ‘වෙස්සන්තර ජාතක කාව්‍යය’ ඒ ධාරාවේ මුල් පෙළේ කෘතියකි. මේ පාඩමට ඇතුළත් වන්නේ එයින් උපුටා ගත් කවි කිහිපයකි.

සිය පිරිවර රටතොට හැම වස්තුව නැති නි මිමා
එද ලොබ හැර ඔබ සමගින් තපසට ආවෙ මිමා
තුරු පිරිවර පුන්සඳ මෙන් වන මැද උන්නෙ මිමා
වෙසතුරු පිය රජුනි ඔබට බාර යි අපෙ අ මිමා

ආදා සිට හිමයේ අපි සමගිව ඉඳ නි තිනේ
රෑ දා වල් වත් පිළිවෙත් කළදැයි සම සි තිනේ
ආ දා රෙක් ඔබ මිස නැත අම්මා හට ඉ තිනේ
බා දා නො ව ඔබ බුදු වන් අප දන් දුන් පි නිනේ

ලප සේ සඳ විලසේ දවසක් වෙන්නුවෙ මිමා
එප සේ බුදු කෙනෙකුන් මෙන් රැකිදැයි නිතියෙ මිමා
සැප සේ අප දන් දුන්නෙත් වැදුවෙන් වද අ මිමා
අප සේ පිය රජුනි දනට නො දෙන්නෙ අපෙ අ මිමා

වදා වඩා රස කිරි දී ඇති කළදැයි පෙම් නේ
අඬා විඩා හැර පලවැල ගෙන දුන්දැයි නිති නේ
වඩා මෙඅප වංගගිරිය ආ අම්මා සදි නේ
වඩා සදෙව් ලොව සැප විඳ නිවන් දකින් සොඳි නේ

පෙම්මා සුරතල් කියමින් දෙතනේ කිරි බො මිමා
වම්මා කඳුළැලි ඉස ඉස ඇවිදින්දැයි අ මිමා
අම්මා අප නොදැක ඉතින් කෙලෙසක වැවෙ මිමා
සම්මා සම්බුදු වෙනදා නිවන් දකින් අ මිමා

සැට දහසක් රජුන් මැදේ ඉපිද සොඳේ අ මිමා
රට දහසක් වල බැලුවත් නුඹ සේ නුදුටි මිමා
කට දහසක් ඇතුව කිවත් නුඹෙ ගුණ නැත නි මිමා
වට දහසක් ගව් හිමයේ ගිය දෝ අපෙ අ මිමා

දුක් විඳ දසමස උසුලා වැදුදැයි අපෙ අම්මා
අඳුන් තෙලින් නිති සරසා ඇති කළ දැයි අම්මා
රස පලවැල නෙලා දිදී රස්සා කළ අම්මා
සතර අපාවල නො ඉපද නිවන් දකින් අම්මා

ගසක දොඩම් මදෙයි කියා කෑ දැයි අපෙ අම්මා
අහස තරුත් මදෙයි සිතා විලි ලූ දැයි අම්මා
මුහුදු දියත් මදෙයි සිතා රසකිරි දුන් අම්මා
සතර අපායේ නො වැටී නිවන් දකින් අම්මා

## අවබෝධය

1. මේ කවිවල තේරුම ඔබේ වචනයෙන් ලියන්න.
2. කවිවල අලංකාරය වැඩි කිරීම සඳහා යොදා ගෙන ඇති උපමා දෙකක් ලියන්න.
3. මව දරුවන් පෝෂණය කිරීමට ගත් වෙහෙස දැක්වෙන කවි පද උපුටා දක්වන්න.
4. අම්මා වෙනුවෙන් මේ දරුවන් දෙදෙනා විසින් කළ ප්‍රාර්ථනාවන් ඇතුළත් කවි පද තෝරා ලියන්න.
5. මෙම පද්‍ය පන්තිය පිළිබඳ ඔබේ අදහස කෙටියෙන් ලියන්න.
6. මේ පද්‍ය පන්තියේ ඇතුළත් ගැමි වහරින් උපුටා ගත් යෙදුම් පහක් ලියන්න.



# සමානාර්ථ පද සහ විරුද්ධාර්ථ පද

## සමානාර්ථ පද

ඕනෑ ම භාෂාවක එක් පදයකට සමාන තේරුම් ඇති වෙනත් පද රාශියක් තිබිය හැකි ය. ඒවා සමානාර්ථ පද හෙවත් පර්යාය පද ලෙස හැඳින්විය හැකි ය. සිංහල භාෂාව ද මෙබඳු සමානාර්ථ පදවලින් නොඅඩුව පෝෂණය වී ඇත.

| | |
|---|---|
| සඳ | චන්ද්‍ර, තරුපති, තාරපති, නිශාකර, සිසි, සෝම්, හිමකර, තරිඳු |
| ප්‍රසිද්ධ | පුවතර, පසිඳු, පතළ, ප්‍රකට, පරසිඳු |
| පිපි | විකසිත, පුබුදු, පිබිදි, පුල්, පුප්, මිණිදැදිරි, මිණිමුතු |
| සතුට | සොම්නස, සතොස, ප්‍රමෝදය, තුට, තොස, සන්තුෂ්ටිය, ආනන්දය, අමන්දානන්දය, ප්‍රහර්ෂය |
| විශාල | විසල්, මහත්, තුමුල, මහා, පෘථුල, ලොකු |
| ජලය | පැන්, උදක, අඹ, දිය, වතුර, නී |
| වනය | වනාන්තරය, කැලෑව, වල, අරණ, අටවි, මූකලාන, බැද්ද |
| ගස | වෘක්ෂය, තුර, රුක, පාදප, ද්‍රැම |
| රන් | ස්වර්ණ, කනක, කාංචන, කසුන්, රත්තරන් |
| මුහුද | සමුදුර, සයුර, සමුද්‍රය, රුවනාර, සිඳු, සාගරය, ජලනිධි, සින්ධු |

# විරුද්ධාර්ථ පද

යම් කිසි පදයකට විරුද්ධ අර්ථයක් දෙන පදය විරුද්ධාර්ථ පද ලෙස හැඳින්වෙයි.

විරුද්ධාර්ථ පද සෑදෙන ප්‍රධාන ආකාර 03ක් හඳුනා ගත හැකි ය.

1. නාම පදයකට හෝ ක්‍රියා පදයකට ඉදිරියෙන් "නො" නිපාත පදය යෙදීමෙන්

උදාහරණ:-

හැකි - නොහැකි
කියන - නොකියන
තෙමා - නොතෙමා
සඟවා - නොසඟවා
දුටු - නොදුටු

2. නාම පදයකට හෝ ක්‍රියා පදයකට ඉදිරියෙන් උපසර්ග පද යෙදීමෙන්
(අ, අව, නි, නු, නිර්, නිශ්/නිෂ්, දු, දුර්, දුශ්/දුෂ්, වි, කු ආදි උපසර්ග)

උදාහරණ:-

| | |
|---|---|
| අ | ශෝෂ - අශෝෂ |
| | පිරිසිදු - අපිරිසිදු |
| | වංක - අවංක |

| | |
|---|---|
| අව | මඟුල් - අවමඟුල් |
| | නම්බුව - අවනම්බුව |
| | ලස්සන - අවලස්සන |

| | |
|---|---|
| නි | වැරදි - නිවැරදි |
| | සරු - නිසරු |
| | දොස් - නිදොස් |

| | |
|---|---|
| නු | සුදුසු - නුසුදුසු |
| | හුරු - නුහුරු |
| | පුරුදු - නුපුරුදු |

| | |
|---|---|
| නිර් | ලෝභ - නිර්ලෝභ |
| | දෝෂ - නිර්දෝෂ |
| | වස්ත්‍ර - නිර්වස්ත්‍ර |

| | |
|---|---|
| නිශ්/නිෂ් | ශබ්ද - නිශ්ශබ්ද |
| | චල - නිශ්චල |
| | ඵල - නිෂ්ඵල |

| | |
|---|---|
| දු | බල - දුබල |
| | සිරිත් - දුසිරිත් |
| | ගඳ - දුගඳ |

| | |
|---|---|
| දුර් | බල - දුර්බල |
| | ගුණ - දුර්ගුණ |
| | ජන - දුර්ජන |

| | | |
|---|---|---|
| දුශ්/ දුෂ් | ශීල | - දුශ්ශීල |
| | ප්‍රතිපත්ති | - දුෂ්ප්‍රතිපත්ති |
| | කර | - දුෂ්කර |

| | | |
|---|---|---|
| වි | දේශීය | - විදේශීය |
| | පක්ෂ | - විපක්ෂ |
| | යෝග | - වියෝග |

| | | |
|---|---|---|
| කු | කවි | - කුකවි |
| | දිටු | - කුදිටු |
| | පුරිස් | - කුපුරිස් |

3. අන්‍ය පදයක් ඒ සඳහා භාවිත කිරීමෙන්

උදාහරණ:- එළිය - අඳුර    කළු - සුදු
අලුත් - පැරණි

## ලිඛිත අභ්‍යාස

1. පහත සඳහන් පදවලට සමානාර්ථ පද 03 බැගින් සොයා ලියන්න.
   i. සිංහයා -    iv. මව -    vii. නෙළුම -
   ii. කාන්තාව -    v. රංචුව -    viii. දුක -
   iii. ගෙය -    vi. දක්ෂ -    ix. කුරුළු -    x. රජ -

2. ගැළපෙන විරුද්ධාර්ථ පද යොදා පහත වගුව සම්පූර්ණ කරන්න.

| නො-නිපාතය | අ-උපසර්ගය | අව-උපසර්ගය | නි-උපසර්ගය | දු-උපසර්ගය | අන්‍ය පද |
|---|---|---|---|---|---|
| යන - නොයන | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |
| | | | | | |

## ප්‍රායෝගික අභ්‍යාස

1. මන්ද්‍රී දේවියට තම දරුවන් කෙරෙහි ඇති සෙනෙහස ඉස්මතු කරවන කවි පන්තියක් ගොඩ නගන්න.
2. පන්ති රැස්වීමේ දී මවුගුණ ගී රස වින්දන වැඩසටහනක් පවත්වන්න.



# 3

# දේශීය නර්තනයේ රන් සලකුණ

දේශනයකට සාවධානව සවන් දීම දේශකයාට ගෞරව කිරීමකි. මනාව සවන් දීම දේශනයක ඇතුළත් කරුණු අවබෝධ කර ගැනීමේ මග යි. අවධානය රඳවා ගෙන ශ්‍රවණය කිරීම මගින් ස්මරණ ශක්තිය දියුණු වෙයි. සවන් නො දී ඒ පිළිබඳ කතා කිරීම හෝ අදහස් ප්‍රකාශ කිරීම හෝ කළ නොහැකි ය. භාෂා ශක්‍යතාවන් වර්ධනය කර ගැනීමට නම් මුලින් ම කළ යුත්තේ හොඳින් සවන් දීම යි. ඉන් පසු කථනය සඳහා මග පෑදෙයි. ආචාර්ය එස්. පණීභාරත නම් වූ ශ්‍රේෂ්ඨ කලාකරුවා ගැන මෙම පාඩමෙහි ඇතුළත් තොරතුරු අසන්නට සැලැස්වීම හා එතුමා ගැන තොරතුරු ඉදිරිපත් කිරීමට ඔබ පෙලඹවීම මේ පාඩමේ අරමුණ යි.

දිනය : 2017 පෙබරවාරි 24
ස්ථානය : කෑගල්ල, අල්ගම 'නෘත්‍ය' කලායතනය
අවස්ථාව : ජාතික නර්තන දිනය වෙනුවෙන් පැවැත්වෙන සම්මාන ප්‍රදානෝත්සවය
දේශනය : සම්මානනීය නර්තන ශිල්පී, කලාසූරි ජගත් විමලසුරේන්ද්‍ර මහතා

ගෞරවාර්හ ස්වාමීන් වහන්ස, ගරු පූජකවරුනි, සම්භාවනීය අමුත්තනි, 'නෘත්‍ය' කලායතනයේ අධිපතිතුමා ඇතුළු ආචාර්ය මණ්ඩලයේ මහත්ම මහත්මියනි, දෙමවුපියනි, දූ දරුවනි, ඔබ සියලු දෙනාගෙන් ම අවසර යි.

අද අපට විශේෂ දවසක්. ඒ මෙම කලායතනයේ දක්ෂ දරුවන්ට සම්මාන ලැබීමත්, මේ ප්‍රදේශයෙන් ලෝකයට දායාද කළ පුත්‍ර රත්නයක ජන්ම දිනය අදට යෙදී තිබීමත් යන කරුණු දෙක ම නිස යි. එතුමාගේ සෙවණෙහි ගුරුහරුකම් ලැබීමට වාසනාව මටත් උදා වුණු නිසා මමත් නර්තන කලාවට යම් සේවයක් කිරීමට ශක්තිය ලැබුවා. එතුමාගේ ගුණ ගයන්නට, එතුමා ගැන ඔබට කියන්නට අවස්ථාව උදා කර දීම පිළිබඳව මෙහි උත්සව කමිටුවට මාගේ ප්‍රණාමය පිරිනමන්න කැමති යි.

ඒ ශ්‍රේෂ්ඨ මිනිසා කවුරු ද? ඒ වෙනත් කිසිවෙක් නොවෙයි; ආචාර්ය එස්. පණිභාරත මැතිතුමා යි. මේ එතුමාගේ පය ගැටුණු ප්‍රදේශය යි; එතුමා උපන් ගම යි. අදට යෙදී තිබෙන එතුමාගේ ජන්ම දිනය ජාතික නර්තන දිනය ලෙස නම් කිරීමෙන් ම ඒ ශ්‍රේෂ්ඨත්වය වටහා ගන්න ඔබට හැකි වේවි.

තම අත්තා වන අල්ගම සිරියා සහ බාප්පා වන කිරිගණිතයා යන ගුරුන්නාන්සේලාගෙන් මුලින් ම නැටුම් ඉගෙන ගත් පණිභාරත, පුංචිකිරා කෝන්පලේ ගුරුතුමා, මුද්දනාවේ ගුරුතුමා යන අයගෙන් බෙර වාදනයත්, තිබ්බටුවාවේ පනික්කි ගුරුන්ගෙන් දවුල් වාදනයත්, මංගලතිරියේ සියදෝරිස් ගුරුන්ගෙන් තම්මැට්ටම් වාදනයත් ඉගෙන ගත්තා. ඔහු එයින් නැවතුණේ නැහැ. රත්නාගල සිමා ගුරුන්ගෙන් බලියාග ද වෙල්ගම පහතරට ගින්තේරිස් ගුරුන්ගෙන් පහතරට නැටුම් හා බෙර වාදනය ද පුංචි මහත්මයා ගුරුන්ගෙන් සබරගමු නැටුම් ද ඉගෙන ගත්තා. පණිභාරත දක්ෂ ගායන, වාදන, නර්තන ශිල්පියෙකු වුණේ ඒ ගුරුවරුන්ගේ සෙවණෙහි ශිල්ප හැදෑරීමෙන්.

දැන් ඔබට හැඟෙනවා ද එතුමාගේ ශිෂ්‍ය ජීවිතයෙන් ඔබට කොතරම් පාඩම් උගත හැකි ද යන වග? එක් අංශයක අධ්‍යාපනය ලබන්නටත් මැළිකම් දක්වන දරුවන්ට තම ජීවිත ජයග්‍රහණ ළඟා කරගන්නට ධෛර්යය සපයන ඔහු ඔබට හොඳ ආදර්ශවත් චරිතයක්. ඔහු අධ්‍යාපනය ලැබුවේ ඉතා දුෂ්කර මාවතක යි. වරෙක ඔහු තම ශිෂ්‍යයන් දිරිමත් කළේ, "පුතේ, මම බෙරේ කරේ දාගෙන හැතැප්ම ගණන් පයින් ගිය කෙනෙක්" කියමින්.

නර්තන ශිල්පියකු තුළ තිබිය යුතු දැනුම හා දක්ෂතාව මඳක් වත් අඩු නැතිව එතුමා තුළ තිබුණා. ඔහු ඉතා නිර්මාණශීලි මිනිසෙක්. මේ නිර්මාණශීලිත්වයට ජේ.ඩී.ඒ. පෙරේරා මහතාගෙන් ඉගෙන ගත් චිත්‍ර කලාවත් කොටහේනේ සාර්දිස් ගුරුතුමාගෙන් ඉගෙන ගත් සංගීත කලාවත් ඔහු තුළ වූ ඉංග්‍රීසි, සිංහල හා සංස්කෘත භාෂාත්‍රය පිළිබඳ දැනුමත් උපකාරි වුණා.

ගුවන් විදුලි සංස්ථාව විවෘත කිරීමේ අවස්ථාවට මඟුල් බෙරය වැයුවේ ඔහු යි. කිරිගණිත ගුරුන්නාන්සේගේ මග පෙන්වීමට අනුව එවකට කොළඹ ලලිතකලායතනයේ අධිපති කලාගුරු ජේ.ඩී.ඒ. පෙරේරා මහතාගේ බිරිඳ වන චන්ද්‍රලේඛා පෙරේරා මහත්මියගේ නර්තනයකට බෙර වාදනය කරන්නෙකු ලෙස භාරතයට යාමට මෙතුමාට අවස්ථාව ලැබුණා. මේ තමයි එතුමාගේ ජීවිතයේ භාග්‍යවන්ත ම අවස්ථාව. එහි දී හමු වූ ගෝපිනාත් මහතා ප්‍රදානය කළ ශිෂ්‍යත්වයක් නිසායි එතුමාට භාරතයට ගොස් නර්තනය තව දුරටත් හැදෑරීමේ භාග්‍යය ලැබුණේ.

මේ දැනුම් සම්භාරය භාවිත කරමින් එතුමා නර්තන කලාවේ ගුණාත්මකභාවය වර්ධනය කිරීමට කළ සේවය වචනයෙන් කියන්න බැරි තරම් උදාර යි. ඒ බව ජ්‍යෝෂ්ඨ මහාචාර්ය මුදියන්සේ දිසානායක මහතා, **ශ්‍රී ලාංකේය නව නර්තන කලාවේ පුරෝගාමියෝ** නම් කෘතියෙහි සඳහන් කරන්නේ මෙහෙම යිඃ

> "ශ්‍රී ලංකික නව නර්තන කලාව වඩ වඩාත් දේශීය නර්තන, ගායන, වාදන අංශ තුළින් ප්‍රතිපෝෂණය කිරීමට කැප වූ මහා පුරුෂයා ලෙස හැඳින්විය හැකි ආචාර්ය එස්. පණිභාරතයන් නොසිටින්නට වර්තමාන ශ්‍රී ලංකාවේ සිංහල නර්තන කලාව මතු නොව විශ්වවිද්‍යාල අධ්‍යාපනය තෙක් පැමිණි දේශීය නර්තන කලාවේ ආගමනය මීට වඩා වෙනස් මුහුණුවරක් ගනු ඇත."

මේ ප්‍රකාශයෙන් ම පණිභාරතයන් නර්තන කලාවට කළ මෙහෙය වැටහෙනවා ඇති. 1948 භාරතයේ සිට ශ්‍රී ලංකාවට පැමිණි පණිභාරතයන් කොළඹ රාජකීය විද්‍යාලයේ ගුරුවරයකු ලෙස සේවය කරමින් සිසුන්ගේ දක්ෂතා කරළියට ගන්නට වෙහෙසුණා. මීරිගම ජ්‍යෝෂ්ඨ පාඨශාලාවේ නැටුම් ගුරුවරයා ලෙස එතුමා කළ සේවය තවත් පුළුල් වන්නට, මීරිගම ගුරු අභ්‍යාස විද්‍යාලයේ කථිකාචාර්ය තනතුර හේතු වුණා. නර්තනය උදෙසා එතුමා කළ සේවයේ සන්ධිස්ථානය වූයේ රජයේ ලලිතකලායතනයේ විදුහල්පති ධුරය හිමි වීම යි. මෙම කලායතනය 1959 දී උඩරට නාට්‍ය කලා විද්‍යාලය ලෙස නම් කෙරුණේ එතුමාගේ දැඩි කැප වීම මත යි. 1962 දී එකී විද්‍යාලයට පහතරට නැටුම් සම්ප්‍රදාය හඳුන්වා දී, ඒ සඳහා පාඨමාලා සකස් කර, කථිකාචාර්යවරුන් පත් කර ගෙන නාට්‍ය විද්‍යාලයට ගුණාත්මක වූ නව පෙරළියක් නිර්මාණය කළා. එතැනින් එතුමාගේ කාර්යභාරය නැවතුණේ නැහැ. 1974 මැයි 01 දින මේ විද්‍යායතනය ශ්‍රී ලංකා විශ්වවිද්‍යාලයට අනුබද්ධ කළා. එහි නර්තන අධ්‍යයනාංශයේ ප්‍රථම අංශාධිපති වූයේත් එතුමා යි. ඒ නිසා ම ඔහුට නර්තනයේ දියුණුවට විවිධ වැඩපිළිවෙළ යෙදීමට ශක්තිය ලැබුණා.

නර්තනය හදාරන්නන් තුළ සබරගමු නර්තන සම්ප්‍රදාය පිළිබඳව ද පූර්ණ දැනුමක් තිබිය යුතු බවට එතුමා තුළ තිබුණු විශ්වාසය නිසා 1978 දී සබරගමු නර්තන සම්ප්‍රදාය ද සෞන්දර්ය අධ්‍යයන ආයතනයේ පාඨමාලාවට එකතු කළා. සබරගමු නර්තනය ඉගැන්වීම සඳහා සිරිබෝභාමි නම් බාහිර ආචාර්යවරයකු යොදා ගෙන විශිෂ්ට තීරණයක් ක්‍රියාත්මක කරමින් නර්තනයේ දේශීය සම්ප්‍රදායන් තුන ම එහි සිසුන්ට ඉගෙන ගන්න අවස්ථාව සලසා දුන්නා. නර්තනයේ අස්සක් මුල්ලක් නෑර හදාරන්න සිසුන්ට අවස්ථාව සලසා දීම රටට ජාතියට කළ මහඟු සේවයක්. 'හේවුඩ්' නමින් හැඳින්වුණු නර්තන විද්‍යා ආයතනය 2005 දී සෞන්දර්ය කලා විශ්වවිද්‍යාලය බවට පත් වූයේ එතුමාගේ පුරෝගාමිත්වය නිස යි. මේ වන විට සකල කලාංගයන් හදාරන විද්‍යාර්ථීන්ගේ තෝතැන්න වී ඇත්තේ මේ විශ්වවිද්‍යාලය යි.

එතුමාගේ මුවින් ම පවසන පරිදි ඉන්දියාවේ දී තමා උගත් භරත, කතකලි, මණිපුරි වැනි නර්තන සම්ප්‍රදායන්ගේ ආභාසය දේශීය නර්තනයේ ලාස්‍ය ගුණය වැඩි කරන්නට එතුමා යොදා ගත්තා. ඒ නිසා නර්තන කලාවේ ප්‍රාසංගික බව වර්ධනය වුණා. උඩරට, පහතරට හා සබරගමු නර්තන සම්ප්‍රදායන්ගේ ගුණ සුවඳ හඳුනා ගත් එතුමා තම දැනුම හා නිර්මාණශීලී ප්‍රතිභාව මෙහෙයවා දේශීය නර්තන කලාව ලෝකයට ගෙන ගියා. බටහිර ජර්මනිය, රුසියාව, එංගලන්තය, පාකිස්තානය, කැනඩාව, ජපානය, ඉන්දියාව, චෙකොස්ලෝවැකියාව ආදි විවිධ රටවලට දේශීය නර්තනයේ හැඩ වැඩ පෙන්වා පිටරැටියන් මවිතයට පත් කරමින් ලංකා මාතාවට කීර්තියක් ගෙන දුන් එතුමා මහා යුග පුරුෂයෙක්.

එතුමා සතු වාදන හැකියාව ප්‍රයෝජනයට ගනිමින් වරින් වර හඳුන්වා දුන් බෙර වාදන, නර්තනයට අත්‍යවශ්‍ය වූ වාදනයේ දියුණුවටත් එතුමාගේ ගායන හැකියාව, නර්තනයේ ප්‍රධාන අංගයක් වූ ගායනයේ දියුණුවටත් මහෝපකාරි වුණා. රටේ විවිධ ප්‍රදේශවල කලායතන බිහි කරන්නටත් ඒවාට අවශ්‍ය උපදෙස් හා සොයා බැලීම් කරන්නටත් එතුමා පුරුදුව සිටියා. පෞද්ගලික ගමනක් බිමනක් යද්දී පවා තොවිලයක්, ගම්මඩුවක්, කොහොඹා කංකාරියක් දුටු විට මඳක් නැවතී ඒවායේ රස විඳින්නට එතුමා පසුබට වුණේ නැහැ. 'නර්තනයේ පියා' ලෙස හඳුන්වන එතුමා නර්තන කලාවට කළ මෙහෙය මෙතෙකැයි විස්තර කිරීම අපහසු යි. දේශීය නර්තනයේ රන් සලකුණ එතුමා යි.

(දැන් අපි එතුමාගේ නිර්මාණ කීපයක් රස විඳිමු. ඒ නිර්මාණවල කොටස් කීපයක එකතුවක් දැන් ඔබට නැරඹිය හැකි යි.)

1954 දී බ්‍රිතාන්‍ය මහ රැජින ඉදිරියේ රඟ දැක්වූ ගොයම් කැපීමේ නැටුම අද සාම්ප්‍රදායික නැටුමක් බවට පත් වෙලා. නාරිලතා නැටුම, මොනර නැටුම, දඩයක්කරුගේ රංගනය ආදියත් එතුමා ඉදිරිපත් කළ බෙර සංධ්වනිත් විශේෂිත යි. කාළගෝළ, මහදැනමුත්තා, කෝච්චිය, පත් නෙළීම, පොරපොල් පිටිය, ග්‍රහ අපලය, ග්‍රහ බලය, සුරන් විස්කම් ආදිය

දේශීය මුහුණුවරක් ගත් නිර්මාණ යි. පොල්ගසේ වරුණ, ගම්මානේ මල් පිපිලා, සීගිරි අස්න වැනි නිර්මාණ මුද්‍රා නාට්‍ය ශෛලියෙන් නිමැවුණු නාට්‍ය යි. හස්ති කාන්ත මන්තරේ, වෙස්සන්තර, සිරිසඟබෝ, හරිශ්චන්ද්‍ර යන නාට්‍යවල රංග වින්‍යාසය නිර්මාණාත්මක ලෙස සකසා දෙමින් වේදිකා නාට්‍යයටත්, සිකුරු තරුව, කුරුලු බැද්ද, අශෝකා වැනි චිත්‍රපටවල නර්තන නිර්මාණය කරමින් චිත්‍රපටයටත් සහභාගි වුණා. මේ සෑම ක්ෂේත්‍රයක ම තම හැකියාව ප්‍රදර්ශනය කළා.

දෙස් විදෙස් කීර්තියට පත් වූ එතුමා වෙනුවෙන් පිදුණු සම්මාන බොහෝ යි. ජීවත්ව සිටිද්දී ද එතුමා වෙනුවෙන් අනුස්මරණ උලෙළක් පැවැත්වූවා. එතුමා එයින් බොහෝ සතුටට පත් වුණා. ජීවිතයේ ලැබූ ඉහළ ම සම්මානය ලෙස එතුමා එය අගය කළා. 1991 දී කැලණිය විශ්වවිද්‍යාලයේ සෞන්දර්ය අධ්‍යයන ආයතනය මගින් පිරිනමන ලද ආචාර්ය උපාධියත් 1999 සබරගමු විශ්වවිද්‍යාලය මගින් පිරිනමන ලද සාහිත්‍යසූරී උපාධියත් 2002 දී ශ්‍රී ලංකා කලා මණ්ඩලය මගින් පිරිනමන ලද විශේෂ සම්මානයත්, 2003 දී පිරිනමන ලද විශේෂ සම්මානයත් එතුමාගේ උදාරතම සේවය අගය කිරීම සඳහා පුදනු ලැබූ උපාධි සම්මාන යි. ඒත් එතුමාගේ නාමයට කළ විශිෂ්ට ම උපහාරය වන්නේ එවකට ජාතික නර්තන හා මුද්‍රා නාට්‍ය අනුමණ්ඩලය විසින් 2006 දී එතුමාගේ ජන්ම දිනය වන **පෙබරවාරි 24 ජාතික නර්තන දිනය** ලෙස නම් කිරීම යි.

ලෝකය ම ජය ගනිමින්, එතුමාගේ නම දස දෙස පතුරවමින්, එතුමාගේ සෙවණෙහි හැදුණු වැඩුණු සිසු දරු දැරියන්ගේ ශීර්ෂ ප්‍රණාමය එතුමා ලද උතුම් ම සම්මානය යි. මේ ශ්‍රේෂ්ඨ ගුරුවරයාගේ මානව දයාව තම ගෝලබාලයින් දිරිමත් කරන්නට සමත් වුණා. ඔවුන්ට ලෝකයට පිවිසෙන්නට පාර පෙන්නුවා. මේ සද්භාවය එතුමාට ලැබුණේ එතුමාගේ ගුරුවරුන්ගෙන් හා සමීපතමයන්ගෙන්. මහාත්මා ගාන්ධි, රබීන්ද්‍රනාත් තාගෝර්, ජවහර්ලාල් නේරු, කේරළ මහා කවි නාරායන්, රාජේන්ද්‍ර ප්‍රසාද්, සරෝජිනී නායිදු වැනි ශ්‍රේෂ්ඨයින්ගේ හා හරිදාස් නාරායන්, රාම් ගෝපාල් සහ උදය ශංකර් වැනි ප්‍රවීණයන්ගේ ඇසුර එතුමාට ලැබුණා. ඩබ්. බී. මකුලොලුව, එඩ්වින් සමරදිවාකර, චිත්‍රසේන ඩයස්, ශේෂා පළිහක්කාර වැනි විද්වතුන්ගේ ඇසුර එතුමාට ලැබුණා. මේ ඇසුර හා ගුරුහරුකම් ඔහුගේ ජීවිතයේ ආලෝකය යි. කෙනෙකුගේ සාර්ථකත්වයට ඔහු හා ඇසුරේ පසුවන උතුම් මිනිසුන් ද බලපාන බව මෙයින් ඔබට පැහැදිලි වනු ඇති.

මේ ශ්‍රේෂ්ඨ මිනිසා අප අතරින් වෙන් වී ගියේ 2006 පෙබරවාරි 20 දා යි. එය රටේ ම අවාසනාවක්. 1920 පෙබරවාරි 24 වැනි දින මෙලොව එළිය දුටු එතුමා මුළු ජීවිතය ම කැප කළේ නර්තනය වෙනුවෙන්. නර්තනය ලොව පවතින තුරු පවතින කලාවක්. ඒ ලෙසින් ම ලොව පවතින තුරු නර්තනය හා බැඳෙන නාමයකි ආචාර්ය එස්. පණීභාරත යන්න. නර්තන දායාදය පරපුරෙන් පරපුරට ගෙන යන්නට තමා වැනි ම දක්ෂ වූ ගෝලයන් ලක්ෂ ගණනක් එතුමා අතින් නිර්මාණය වුණා. නර්තනයෙන් ලොවක් සනසන්නට, ලොවක්

නළවන්නට ඒ සිසුන් සමත් වෙලා තියෙනවා. නැවත මේ මාතෘ භූමියෙහි ම ඉපිද මේ නර්තන කලාව තව තවත් ඉදිරියට ගෙන යන්නට උර දෙන්නට එතුමාට හැකි වේවා! යි අපි සියලු දෙනා ම ප්‍රාර්ථනා කරමු.

ඒ වගේ ම මේ ගුණානුස්මරණ දේශනය මා අවසන් කරන්නේ එතුමාගේ ජීවිතයෙන් ඔබට ලබා ගත හැකි ආදර්ශ ගෙන ඔබේ ජීවිතය රටට දැයට වැඩදායී ලෙස ගත කරන්න අදිටන් කර ගන්නා ලෙස ඉල්ලා සිටිමින්. දැන් ඔබට එතුමාගේ රුව, හඬ හා දස්කම් දැක්වෙන වීඩියෝ පටයක් නැරඹීමට මා අවස්ථාව සලසනවා. එයින් එතුමා කවුරුන්දැ'යි ඔබට පසක් වේවි... සියලු දෙනාට ම සුබ දවසක් වේවා!

## අවබෝධය

1. **පාඩමේ ඇතුළත් දේශනය පන්තියට ඉදිරිපත් කරන්න. එයට සවන් දී ආචාර්ය එස්. පණීභාරතයන්ට අදාළ තොරතුරු ඇසුරෙන් පහත සඳහන් ආකෘතිය සම්පූර්ණ කරන්න.**

    මුලකුරු සමග නම :
    උපන් දිනය :
    උපන් ස්ථානය :
    අධ්‍යාපනය ලබා දුන් ගුරුවරු :
    දායක වූ නිර්මාණ :
    ලබා ගත් සම්මාන හා උපාධි :
    දූ දරු තනතුරු :
    ජාතික නර්තන දිනය හා පවතින සම්බන්ධය :
    සමීපතමයෝ :
    හැකියාවන් පෙන්වූ ක්ෂේත්‍ර :
    මිය ගිය දිනය :

2. **පණීභාරත චරිතයේ ඔබ සිත් ගත් ගුණාංග දෙකක් ලියන්න.**

1. **පහත සඳහන් ප්‍රකාශ ලිඛිත භාෂාවට හරවා ලියන්න.**

   i. "මම බෙරේ කරේ දාගෙන හැතැප්ම ගණන් පයින් ගිය කෙනෙක්" කියමින් මෙතුමා තම ගෝලබාලයින් දිරිමත් කළා.

   ii. මේ අතරතුරේ දී පෙරේරා මහතාගෙන් චිත්‍ර කලාවත් කොටහේනේ සාර්දිස් ගුරුතුමාගෙන් සංගීතයත් ඉගෙන ගත්තා.

   iii. හරිදාස් නාරායන්, රාම් ගෝපාල්, උදය ශංකර් වැනි භාරතීය නර්තන ප්‍රවීණයන් ඇසුරු කළා.

   iv. අද අපි මේ පවත්වන්නේ ඒ උතුම් කාර්යය යි.

   v. ගුවන් විදුලි සංස්ථාව විවෘත කරන අවස්ථාවට මඟුල් බෙර වාදනය කරන්නට අවස්ථාවක් ලැබුණා.



# යුගල පද

ප්‍රාථමික ශ්‍රේණිවල දී හා හය, හත, අට ශ්‍රේණිවල දී ඔබ උගත් යුගල පද මතකයට නගා ගන්න. සිංහල භාෂාවේ සාම්ප්‍රදායික යෙදුම් ලෙස ගැනෙන මේ පද විශේෂය භාෂාව රසවත්ව භාවිත කිරීමට අවශ්‍ය වන්නකි.

ලේඛනයේ දීටත් වඩා වැඩි වශයෙන් යුගල පද භාවිත වන්නේ භාෂණයේ දී යි. එදිනෙදා ව්‍යවහාරයේ දී එය වඩාත් හොඳින් අවධාරණය වෙයි. ගැමි කටවහර වඩාත් පෝෂණය වන්නට යුගල පද හේතු වෙයි. පද යුගලය ම මිස එක් පදයක් යෙදීමෙන් අර්ථය මනාව ගම්‍ය නො වේ. එබැවින් මේ පද විශේෂය යුගල පද ලෙසින් ම හැඳින්වේ.

**සිංහලයේ යුගල පද සැකසී තිබෙන ආකාර කීපයකි.**

**i. එකිනෙකට විරුද්ධාර්ථවත් පද එකතු වීමෙන් සෑදෙන යුගල පද**

උදාහරණ:- එහෙ මෙහෙ  යාම් ඊම්
ඉහළ පහළ  උඩක් බිමක්
දුකට සැපට

**ii. එකිනෙකට සමාන අර්ථ ඇති පද එකතු වීමෙන් සෑදෙන යුගල පද**

උදාහරණ:- මිල මුදල්  සමිති සමාගම්
නඩු හබ  අරුම පුදුම
දුක් දොම්නස්

**iii. පද දෙකෙහි ම අර්ථයක් නොමැති වුවත් යෙදෙන අවස්ථාව අනුව මැනවින් අර්ථය මතු වන යුගල පද**

උදාහරණ:- ලට්ට ලොට්ට  ලවක් දෙවක්
ලට පට  වං හුං
අබල් බබල්

**iv. එක් පදයක ශබ්දය අනුකරණය කරමින් අනෙක් පදය සැකසුණු යුගල පද**

උදාහරණ:- අඟර දඟර  අබල දුබල
ඇදලා පැදලා  උසුළු විසුළු
අහල පහල

**v. පළමු පදය අර්ථවත් වූත් දෙවැනි පදය අර්ථ විරහිත වූත් පද එකතු වීමෙන් සැකසුණු යුගල පද**

උදාහරණ:- රොඩු බොඩු  ඔප්පු තිරප්පු
ළමයි බමයි  ගසා බසා
මුදල් හදල්

### vi. එකිනෙකට සමීප අර්ථ යෙදුණු යුගල පද

උදාහරණ:- ගේ දොර
යන්ත්‍ර මන්ත්‍ර
කයි කතන්දර
ලෙඩ දුක්

### vii. පූර්ව ක්‍රියා පද දෙකක් එකතු වීමෙන් සැකසුණු යුගල පද

උදාහරණ:- කවා පොවා
කා බී
කර කියා
දුවලා පැනලා
හිතලා බලලා

### viii. ක්‍රියා රූප දෙකක් එකතු කිරීමෙන් සැකසුණු යුගල පද

උදාහරණ:-

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| හඬන | දොඩන | සිතුම් | පැතුම් | කැපූ | කෙටූ | දිවිලි | පැනිලි |
| ලියන | කියන | කියුම් | කෙරුම් | සිතූ | පැතූ | නැටිලි | ගැයිලි |
| කන | බොන | රැවුම් | ගෙරවුම් | හැඬූ | දෙඩූ | කැපිලි | කෙටිලි |
| දුවන | පනින | නැටුම් | ගැයුම් | කියූ | කෙරූ | හැඬිලි | දෙඩිලි |
| හිතන | පතන | ලියුම් | කියුම් | නැටූ | ගැයූ | සෙවිලි | බැලිලි |



# තොරතුරු ඉදිරිපත් කිරීම සඳහා බහුවිධ මාධ්‍ය ඇසුරු කරමු

පරිගණකය නූතන ලෝකයේ බහුලව භාවිත කෙරෙන භාණ්ඩයක් බවට පත්ව තිබේ. පරිගණකය මගින් තොරතුරු සන්නිවේදනය අපේ කාර්යයන්හි කාර්යක්ෂමතාවට ප්‍රබල ලෙස බලපායි. මේ හේතුවෙන් ඇතැම් පැරණි සන්නිවේදන ක්‍රම සමාජයෙන් ඈත් වෙමින් පවතී. පරිගණකය ඇසුරෙන් ශ්‍රව්‍ය දෘශ්‍ය මාධ්‍ය කිහිපයක් එකවර භාවිත කොට ඉතා ආකර්ෂණීය ලෙස තොරතුරු ඉදිරිපත් කළ හැකි ය. එමගින් ග්‍රාහකයාට සිය ඇසින් සහ කනින් එකවර තොරතුරු ලබා ගැනීමට හැකි වන අතර ඉතා පැහැදිලිව සහ නිරවුල්ව තොරතුරු විධිමත් ලෙස ඉදිරිපත් කිරීමට ද ඉඩ සැලසෙයි. මෙය බහු විධ මාධ්‍ය ඉදිරිපත් කිරීමක් ලෙස සැලකෙයි.

කිසියම් දේශනයක් හෝ ඉදිරිපත් කිරීමක් පරිගණකය ආධාරයෙන් සිදු කිරීමේ දී බහුලව යොදා ගැනෙන්නේ පවර් පොයින්ට් (Power point) නැමැති ඉතා ම ජනප්‍රිය මෘදුකාංගය යි. එය 1992 වර්ෂයේ නිල වශයෙන් නිකුත් වී ඇති අතර වින්ඩෝස් සහ ඇපල් මෙහෙයුම් පද්ධති සමග භාවිත කළ හැකි ය. මේ වන විට එම මෘදුකාංගය ඇපල් සහ ඇන්ඩ්‍රොයිඩ් දුරකථන මෙහෙයුම් පද්ධති සමග ද ක්‍රියාත්මක කළ හැකි ය.

පවර් පොයින්ට් මෘදුකාංගය භාවිතයෙන් අදාළ ඉදිරිපත් කිරීමේ සැලැස්ම මුල සිට අග දක්වා රූප රාමු පෙළකට නැගිය හැකි ය. දේශනය පැවැත්වීමට සමගාමීව එම රූප රාමු පෙළ තිරය මත දිස්වීමට සලස්වමින් කිසිදු කරුණක් මග නොහැර අවශ්‍ය තොරතුරු ග්‍රාහකයා වෙත ඉදිරිපත් කළ හැකි ය.

පහසුවෙන් ග්‍රහණය කර ගත හැකි ආකාරයට පවර් පොයින්ට් රූප රාමු සකස් කර ගත යුතු ය. ඇසට පහසු වර්ණ භාවිත කළ යුතු අතර අනවශ්‍ය පරිදි රූප රාමුව අකුරුවලින් පිරවීම උචිත නො වේ. මිනිස් මොළයට වරකට ග්‍රහණය කර ගත හැකි වචන සංඛ්‍යාව සීමා සහිත බැවින් වචනවලින් පිරුණු රූප රාමු නිසා ග්‍රාහකයා වෙහෙසට පත් විය හැකි ය. එබැවින් අවම වචන භාවිතය මෙහි දී වැදගත් වේ. සමස්ත පවර් පොයින්ට් රූප රාමු පෙළ පුරා ම එක් සරල අකුරු වර්ගයක් භාවිත කිරීම උචිත ය. සභාවේ පසුපස සිට වුව ද කියවිය හැකි ලෙස අකුරක අවම ප්‍රමාණය පොයින්ට් 18 ලෙස භාවිත කිරීම යෝග්‍ය ය. උපරිම අකුරු වර්ග දෙකක් භාවිත කිරීමට සීමා විය යුතු ය.

සමස්ත ඉදිරිපත් කිරීම පුරා ඒකමිතියක් පවත්වා ගැනීම වැදගත් වන අතර සංඛ්‍යා ලේඛන ඉදිරිපත් කිරීමේ දී හැකි තාක් සරල වගු සහ චිත්‍රක රූප (Graphic) භාවිත කළ යුතු ය. උචිත වර්ණ භාවිතය ග්‍රාහක ආකර්ෂණයට හේතු වනු ඇත.

ග්‍රාහක අවධානය තීව්‍ර කිරීමට සහ කරුණු සනාථ කිරීමට ශ්‍රව්‍ය දෘශ්‍ය ප්‍රයෝග භාවිතය සුදුසු ය. අවශ්‍ය පරිදි සජීවීකරණය, රූප යොදා ගැනීම වැදගත් වන අතර රූප රාමුවෙන් රූප රාමුවට සජීවීකරණ රූප (Animation) යෙදීම ග්‍රාහකයා වෙහෙසට පත් කරන්නකි. එබැවින් යොදා ගන්නා සියලු ප්‍රයෝග අවශ්‍ය පරිදි හා අවස්ථාවට උචිත ලෙස භාවිතය පිළිබඳව සැලකිලිමත් විය යුතු ය. කවර ශ්‍රව්‍ය දෘශ්‍ය ප්‍රයෝග යොදා ගනු ලැබුව ද පවර් පොයින්ට් සමර්පණය අර්ථවත් වන්නේ ඉදිරිපත් කරන්නාගේ කථනයත් සමග යි. පවර් පොයින්ට් සමර්පණය යනු ඔබේ ඉදිරිපත් කිරීමට ආධාරකයක් විනා සමස්ත ඉදිරිපත් කිරීම නොවන බව සිහි තබා ගත යුතු ය.

බහුවිධ මාධ්‍ය ප්‍රක්ෂේපකය (Multimedia Projector), පිටු පෙරළනය, පෝස්ටරය, කාටූන්, සංයුක්ත තැටි ආදි විවිධ මාධ්‍ය ද කිසියම් ඉදිරිපත් කිරීමක් සඳහා ආධාරක වශයෙන් භාවිත කළ හැකි ය. මේ සියල්ල ඵලදායක වන්නේ ඔබේ ඉදිරිපත් කිරීමේ කුසලතා දියුණු කර ගත හොත් පමණකි. මන්ද ඉහත සියල්ල ඔබේ ඉදිරිපත් කිරීමේ පසුබිම මිස සමස්තය නොවන බැවිනි.

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් පාඨයේ හිස්තැන්වලට ගැළපෙන පද යොදා යුගල පද සම්පූර්ණ කරන්න.**

   මේ කාමරේ තියෙන .................... ලොට්ට අස් .................... කරල ඔය සේරම රොඩු .................... පුච්චල දාන්න. මට වත්ත .................... සුද්ද .................... කරන්න තියෙනවා. අයියා ලවක් .................... නැතිව එහෙ .................... දුවනවා මිසක් ගෙයක් .................... එළි .................... කරලා දීලා අපට උදවු .................... කරනවායැ. දැන් දරුවන්ට වෙලාවක් .................... නෑ ඕවට.

## ප්‍රායෝගික අභ්‍යාස

1. හැකි තරම් යුගල පද යොදමින් පහත සඳහන් චරිත අතර සංවාද ගොඩ නගන්න.
   i. ගමේ කඩේ මුදලාලි සහ පාරිභෝගිකයකු අතර සංවාදයක්
   ii. සීයා සහ අත්තම්මා අතර සංවාදයක්

2. යුගල පද ඇතුළත් කරමින් කවියක් නිර්මාණය කරන්න.

3. වැදගත් චරිතයක් පිළිබඳව ලියැවුණු ලිපියක් කියවා, දේශනයක් සකස් කර පන්තියට ඉදිරිපත් කරන්න.

4. පහත කණ්ඩායම් ක්‍රියාකාරකම්වල නිරත වන්න.

**I කණ්ඩායම**

සුදුසු ක්‍රමවේදයක් භාවිත කරමින් ආචාර්ය පණිභාරතයන් ගැන තොරතුරු ඉදිරිපත් කරන්න. පහත සඳහන් තේමා භාවිතයට ගන්න.

| ජීව දත්ත | පවුලේ තොරතුරු | ගුරු භවතුන් | සමීපතම අය | දක්ෂතා දැක්වූ ක්ෂේත්‍ර | සේවය | සම්මාන |
|---|---|---|---|---|---|---|
| | | | | | | |

**II කණ්ඩායම**

අන්තර්ජාලය භාවිත කරමින් එතුමාගේ නර්තනයක්, සහභාගි වූ සම්මුඛ සාකච්ඡාවක්, සම්මාන ප්‍රදානයක් යනාදි තොරතුරු ලබා ගෙන මිනිත්තු දහයක පරිගණක ඉදිරිපත් කිරීමක් කරන්න.

**III කණ්ඩායම**

'මම පණිභාරත වෙමි.' ආචාර්ය එස්. පණිභාරත චරිතයට ආරෝපණය වෙමින් භූමිකා රංගනයක යෙදෙන්න. මෙහි දී එක් අංශයක තොරතුරු එක් අයකු මගින් ඉදිරිපත් කරන්න.

1. මගේ පවුලේ තොරතුරු
2. මට උදවු කළ අය
3. මා නැටුමත් අරන් ලෝකෙ වටේ ගිය හැටි
4. මට ලැබුණු සම්මාන
5. මා ඉන්දියාවේ දී ගත කළ ජීවිතය
6. නර්තනය වෙනුවෙන් මා කළ මෙහෙය

**iv කණ්ඩායම**

**'පණිභාරත නම් වූ ශ්‍රේෂ්ඨ කලාකරුවා'** යන මැයෙන් බිත්ති පුවත්පතක් නිර්මාණය කරන්න.

**v කණ්ඩායම**

ජාතික නර්තන දිනය නිමිත්තෙන් ආචාර්ය එස්. පණිභාරතයන්ගේ ශිෂ්‍යයකු කැඳවා ගෙන, සාකච්ඡාවක යෙදී, ඔහුගේ හෝ ඇයගේ හෝ අද්දැකීම් බෙදා හදා ගන්න.



4

# ස්ටීවන් හෝකින්

නීරෝගි දරුවකු ලෙස මෙලොව එළිය දැක, නව යොවුන් වියේ දී දරුණු ලෙස රෝගාතුර වී ඇවිදීමේ සහ කථා කිරීමේ හැකියාව අහිමි වූ ඔහු මේ කිසිවක් සිය ජීවිතයට බාධා කර ගත්තේ නැත. සැබැවින් ම ඔහුගේ ජීවිත කථාව විස්මයජනක ය; ආදර්ශවත් ය. කුඩා කල පටන් ලෝකයේ පවතින සියල්ල පැහැදිලි කිරීම සඳහා එක් න්‍යායක් සෙවීම සඳහා වෙහෙස වූ සහ පර්යේෂණ කළ ඔහු, සාධාරණ සාපේක්ෂතාවාදය යටතේ න්‍යායාත්මක සංසිද්ධි කිහිපයක් සම්බන්ධයෙන් ලොව පිළිගත් නව මත ඉදිරිපත් කිරීමට සමත් විය. ස්ටීවන් හෝකින් කළු කුහරවලින් පිට වන විකිරණය හෙවත් හෝකින් විකිරණය පිළිබඳ න්‍යායාත්මක සාධක රැසක් ඉදිරිපත් කළ විද්වතෙකි. ඔහු පිළිබඳ මේ ලිපිය සම්පාදනය කරන ලද්දේ ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලයේ භෞතික විද්‍යා අධ්‍යයනාංශයේ ආචාර්ය මධුරංග ප්‍රනාන්දු විසිනි.

ඔහු ලෝක ප්‍රකට, ඉහළ පෙළේ භෞතික විද්‍යාඥයෙකි; න්‍යායාත්මක භෞතික විද්‍යාඥයෙකි. (Theoretical physicist); විශ්ව න්‍යායවේදියෙකි (Cosmologist). මේ සියල්ලටත් වඩා විශේෂයෙන් අවධානය යොමු කළ යුතු කරුණ වන්නේ ඔහුට ජීවිත කාලය පුරා ම ආබාධිත පුද්ගලයකු ලෙස ගත කිරීමට සිදු වීම යි. එනම්, ඔහු චාලක නියුරෝන ආබාධය Motor Neuron Disease) හෙවත් ALS (Amyotrophic Lateral Sclerosis) නම් රෝගයෙන් අධික ලෙස පීඩා විඳින්නෙකි. ශරීරය අප්‍රාණික, එක අතක එක් ඇඟිල්ලක් පමණක් ක්‍රියා කරන මෙන් ම කථා කිරීමේ හැකියාව අහිමි මේ අසහාය මිනිසා අන් කිසිවකු නොව ඔබ හොඳින් දන්නා ස්ටීවන් හෝකින් ය. මේ ආබාධ කිසිවක් සිය ජීවන ගමනට බාධා නො කර ගෙන නොසැලී ජීවිතයට මුහුණ දීමට ඔහු සතු වූ දිරිමත්කම සැබැවින් ම අගය කළ යුතු ය. කේම්බ්‍රිජ් විශ්වවිද්‍යාලය යටතේ පවතින න්‍යායාත්මක විශ්වන්‍යාය පිළිබඳ පර්යේෂණ ආයතනයේ (Centre for Theoretical Cosmology) අධ්‍යක්ෂ ධුරය හොබවන අතර ලොව ප්‍රමුඛ පෙළේ ග්‍රන්ථ කතුවරයකු ලෙස කීර්තියක් දිනා ගැනීමට හෝකින්ට හැකි වූයේ ඔහු සතු විස්මයජනක ධෛර්යය නිසා ම ය.

1942 ජනවාරි මස 08 වැනි දින එංගලන්තයේ ඔක්ස්ෆර්ඩ් නගරයේ උපත ලද නීරෝගි දරුවා ස්ටීවන් විලියම් හෝකින් ලෙස නම් කෙරිණි. ඔහුගේ පියා වන ෆ්‍රැන්ක් හෝකින් සහ මව වන ඉසබෙල් හෝකින් යන දෙදෙනා ම ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයේ උපාධිධාරීන් පමණක් නො ව, සමාජයේ පිළිගත් උගත්තු ද වූහ. මේ දෙපළට හෝකින්ට අමතරව පිලිෆා හා මේරි නම් දූවරු දෙදෙනෙක් ද කුඩා කල සිට හදා වඩා ගත් එඩ්වඩ් නම් පුතෙක් ද වූහ. හෝකින් සිය අධ්‍යාපන කටයුතු ආරම්භ කළේ ලන්ඩනයේ හයිගේට් නගරයේ බයිරොන් පාසලෙනි. අනතුරුව පාසල් කිහිපයකින් ම අධ්‍යාපනය ලැබූ ඔහු 1959 දී එනම්, වයස අවුරුදු දාහතේ දී උසස් අධ්‍යාපන කටයුතු සඳහා ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයට ඇතුළත් විය.

ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයේ ගත කළ මුල් අවධියේ දී හෝකින් හුදෙකලාව ප්‍රිය කරන ශිෂ්‍යයකු ලෙස ප්‍රසිද්ධියට පත්ව සිටි අතර පසුව පෞරාණික භෞතික විද්‍යාවට හා විද්‍යා ප්‍රබන්ධවලට දැඩිව ඇලුම් කරන ශිෂ්‍යයකු ලෙස ප්‍රසිද්ධියට පත් විය. එම විෂයය මෙන් ම න්‍යායාත්මක භෞතික විද්‍යාව ද ඔහුට ප්‍රියජනක විෂයයක් විය. ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයේ ඉගෙනුම ලැබූ අවසන් වසර හෝකින්ගේ ජීවිතයේ තීරණාත්මක වර්ෂය යි. මේ කාලයේ දී ඔහු නිතර සිහිමූර්ඡා වී වැටෙන්නට විය. ඒ ඔහුගේ චාලක නියුරෝන ආබාධයේ ප්‍රථම රෝග නිදානය යි. මේ තත්ත්වය යටතේ වුව ද හෝකින් 1962 දී ප්‍රථම පන්ති සාමර්ථ්‍යයක් සහිතව ස්වාභාවික විද්‍යාව පිළිබඳ ගෞරව උපාධිය දිනා ගැනීම වූ කලි ඔහුගේ විශිෂ්ටත්වය විදහා පෙන්වීමකි.

සිය ආචාර්ය උපාධිය සඳහා ඔහු විසින් තෝරා ගනු ලැබුවේ සාධාරණ සාපේක්ෂතාවාදය හා විශ්වන්‍යාය යන විෂය ක්ෂේත්‍ර යි. මේ අවධිය වන විට හෝකින් සිය රෝගය නිසා නිතර පීඩා විඳි අතර, ඇවිදීමේ දී පවා ඔහුට දැනුණේ විශාල අපහසුතාවකි. මේ අභියෝග

මධ්‍යයේ වුව ද 1966 දී ඔහු සිය ආචාර්ය උපාධිය දිනා ගත්තේ ය. ඒ ව්‍යවහාරික ගණිතය හා න්‍යායාත්මක භෞතික විද්‍යාව යන විෂය ක්ෂේත්‍ර යටතේ 'සාධාරණ සාපේක්ෂතාවාදය හා විශ්වන්‍යාය' පිළිබඳ විශේෂඥ දැනුමක් සහිත විද්වතකු ලෙස ය. 'කාල අවකාශයේ අපූර්වතා හා ජ්‍යාමිතිය' (Singularities and the Geometry of Space - Time) නම් වූ හෝකින්ගේ එම පර්යේෂණ කෘතියට එම වර්ෂයේ ඇඩම්ස් ත්‍යාගය ද හිමි විය. ඉතා ප්‍රබල රෝගයකින් දරුණු ලෙස පීඩා විඳිමින් මේ සා මහත් අධ්‍යයන කටයුත්තක නියැලී එය අතිසාර්ථක ලෙස අවසන් කිරීමට තරම් හෝකින් සතු වූ චිත්ත ශක්තියත් අසමසම ඥාන මහිමයත් ප්‍රශංසාවට බඳුන් වන්නේ ම ය.

ඔහු 1970 දී කැලිෆෝනියා තාක්ෂණික ආයතනයේ (Caltech) බාහිර මහාචාර්යවරයකු ලෙස ද කටයුතු කෙළේ ය. 1977 දී හෙවත් ඔහුගේ වයස අවුරුදු 35 දී ඔහු ඔක්ස්ෆර්ඩ් විශ්වවිද්‍යාලයේ ගුරුත්වාකර්ෂණ භෞතික විද්‍යාව පිළිබඳ මූලාසනාරූඪ මහාචාර්ය තනතුරෙන් පිදුම් ලැබුවේ ය. එය ඔහුගේ වයසට සාපේක්ෂව ඔහුගේ දක්ෂතාව සඳහා ලද ඉතා ඉහළ තනතුරකි. එමෙන් ම මේ වන විට හෝකින් ලෝක පූජිත ගෞරව නාම, ත්‍යාග, පදක්කම් හා සම්මාන විශාල සංඛ්‍යාවක් දිනා ගෙන ඇත. ඒ අතරින් ඇඩම්ස් සම්මානය (1966), එෆ්.ආර්.එස්. (1974), එඩින්ටන් පදක්කම (1975), මැක්ස්වෙල් පදක්කම සහ ත්‍යාගය (1976), හෙයින්මාන් ත්‍යාගය (1976), හග්ස් පදක්කම (1976), ඇල්බට් අයින්ස්ටයින් සම්මානය (1978), ඩයිරැක් පදක්කම (1987), වුල්ෆ් සම්මානය (1988), නිදහස සඳහා වූ ජනාධිපති සම්මානය (2009) වැනි ඉතා ඉහළ ගණයේ ත්‍යාග, පදක්කම් හා සම්මාන රාශියකට ඔහු හිමිකම් කියයි.

1970 දී, හෝකින් "විශ්වය සාධාරණ සාපේක්ෂතාවාදය අනුව හැසිරේ නම් ඇලෙක්සැන්ඩර් ෆ්‍රයිද්මාන් විසින් ඉදිරිපත් කොට ඇති භෞතික විශ්වන්‍යායේ එන සියලු ම න්‍යායයන්ට එකඟ විය යුතු ය," යන පර්යේෂණ පත්‍රිකාව ප්‍රකාශයට පත් කෙළේ ය. එම වසරේ දී ම ඔහු 'කළු කුහර ගතිවිද්‍යාව පිළිබඳ දෙවන නියමය' මෙන් ම 'කළු කුහර යාන්ත්‍ර විද්‍යාව සම්බන්ධ නියම හතර' වැනි ඉහළ න්‍යායයන් ප්‍රකාශයට පත් කළේ ය. 1973 දී ඔහුගේ පර්යේෂණ විෂය ක්ෂේත්‍ර ක්වන්ටම් භෞතික විද්‍යාව හා ක්වන්ටම් ගුරුත්වය යන විෂය ධාරාවලට යොමු වූ අතර, ඔහුගේ පර්යේෂණ පත්‍රිකා එම ක්ෂේත්‍රවලට ගොනු විය. එමෙන් ම අද වන විට ඉතා ඉහළ පර්යේෂණ සංග්‍රහවල හෝකින්ගේ ප්‍රමුඛ පෙළේ පර්යේෂණ පත්‍රිකා 200කට වැඩි සංඛ්‍යාවක් ප්‍රකාශයට පත් වී ඇත. එය පර්යේෂකයකු ලෙස ඔහු ලබා ඇති ඉහළ පිළිගැනීම විදහා දක්වයි.

1971 වසරේ දී ජෝර්ජ් එලිස් සමග එක්ව ඔහුගේ පළමු ග්‍රන්ථය වන **කාලය හා අවකාශය පිළිබඳ මහා පරිමාණයේ ව්‍යුහය** සම්පාදනය කළේ ය. එය 1973 දී ප්‍රකාශයට පත් කරන ලදි. ඉන් අනතුරුව, 1988 දී **කාලය පිළිබඳ කෙටි හැඳින්වීමක්**, 1993 දී **කළු කුහර, ළදරු විශ්වයන් සහ අනෙකුත් පත්‍රිකා**, 1996 දී රොජර් පෙන්රෝස් සමග **කාලය සහ අවකාශයේ**

ස්වභාවය, 1997 දී තවත් කිහිපදෙනකු සමග එක්ව **ලොකු - කුඩා සහ මිනිස් මනස**, 2001 දී **කටුවක් තුළ ඇති විශ්වය**, 2002 දී **යෝධයන්ගේ උර මතින්** සහ එම වසරේ දී ම තවත් කිහිප දෙනකු සමග එක්ව **කාල අවකාශයේ අනාගතය**, 2005 දී **දෙවියන් මැවූ පූර්ණ සංඛ්‍යා**, 2010 දී ලෙනාඩ් ම්ලොඩිනෝ සමග **මහා රටාව**, 2011 දී **වල්පල්වලින් සැදුණු සිහින: ක්වන්ටම් භෞතික විද්‍යා පත්‍රිකා** සහ 2013 දී **මගේ කෙටි හැඳින්වීම** නමැති ලෝක ප්‍රසිද්ධ මෙන් ම ඉතා ඉහළ අලෙවි වාර්තා තැබූ පොත් රාශියක කතුවරයා විය. මේ පොත් ගොන්නෙහි විශිෂ්ට කතුවරයා ලෙස හෝකින් ඉතා ඉහළ දැනුම් සම්භාරයක් ලොවට තිළිණ කර ඇත.

මීට අමතරව ඔහු ලෝක සාමය පවත්වා ගැනීම උදෙසා ලෝක යුද්ධවලට එරෙහිව, පරිසර විනාශයට හා පරිසර උණුසුම් වීම නවතා ලීමට මෙන් ම පරිගණක වෛරසවලට විරුද්ධව පවා තම මතය නොබියව ඉදිරිපත් කරමින් ඒවාට විරුද්ධව අරගල කළ සැබෑ මිනිසකු බව ද පැවසිය යුතු ය. තව ද ඔහු භෞතික විද්‍යා න්‍යායයන් විසින් මේ ලොව පාලනය කෙරෙන බව පිළිගත් විද්වතෙකි.

විශිෂ්ට ගුණාංග රැසකින් හා මනා පෞරුෂයකින් සමන්විත මේ විශේෂ චරිතය පිළිබඳ ග්‍රන්ථ රාශියක් ලියා දැක්විය හැකි ය. ජීවිතයේ අනපේක්ෂිත බිඳ වැටීම් සමූහයක් හමුවේ අකම්පිතව ඊට මුහුණ දී ලොව දස දිගෙහි ජය දද නැංවූ විද්වතකු ලෙස කීර්තියක් අත් කර ගැනීමට සමත් වූ මේ අසහාය මිනිසාගේ ජීවිතය සියලු දෙනාට ම මහත් ආදර්ශයකි. මෙතරම් සුවිසල් ජීවන අභියෝග හමුවේ පවා නොසැලී ස්ටීවන් හෝකින් සිදු කළ මෙහෙය පිළිබඳ විමසා බලන කල, ඉදිහිට අපට මුහුණ දීමට සිදු වන සුළු සුළු අභියෝග මැඩපවත්වා ගත හොත් අපට නො කළ හැකි දෙයක් නැති බව ඔබට වැටහෙනු ඇත.

## අවබෝධය

1. **හෝකින් ප්‍රිය කළ විෂය මොනවා ද?**
2. **තම ආචාර්ය උපාධිය සඳහා මේ විද්වතා තෝරා ගත් විෂය ක්ෂේත්‍රය කුමක් ද?**
3. **හෝකින්ගේ ආචාර්ය උපාධි නිබන්ධය සඳහා හිමි වූ ත්‍යාගය නම් කරන්න.**
4. **ස්ටීවන් හෝකින්ට හිමි වූ තනතුරු සහ සම්මාන වෙන් වෙන්ව දක්වන්න.**
5. **මේ චරිතය පිළිබඳ ඔබට ඇති වන හැඟීම විස්තර කරන්න.**



# සිංහල අක්ෂර මාලාව

වර්තමානයේ භාවිත වන සිංහල අක්ෂර මාලාව අක්ෂර හැටකින් යුක්ත වෙයි. පහත සඳහන් වන්නේ එම අක්ෂර මාලාව යි.

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |
| (අ)ං | (අ)ඃ | | | | |
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

සිංහල අක්ෂර මාලාව ස්වර (ප්‍රාණාක්ෂර) හා ව්‍යඤ්ජන (ගාත්‍රාක්ෂර) වශයෙන් කොටස් දෙකකට බෙදේ.

## ස්වර

වෙනත් අක්ෂරයක (ශබ්දයක) උපකාරයකින් තොරව, තනිව උච්චාරණය කළ හැකි අක්ෂර ස්වර නම් වේ. ස්වර ශබ්ද නිරූපණය කිරීමට යෙදෙන අක්ෂර ප්‍රාණාක්ෂර (පණකුරු) නම් වේ. ස්වර 18කි.

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |

## ව්‍යඤ්ජන

තනිව උච්චාරණය කළ නොහැකි, ස්වර සමග එකතු කිරීමෙන් පහසුවෙන් උච්චාරණය කළ හැකි අකුරු ව්‍යඤ්ජන අක්ෂර යි. ව්‍යඤ්ජන ශබ්ද නිරූපණය කිරීමට යොදන අක්ෂර ගාත්‍රාක්ෂර (ගතකුරු) නම් වේ.

ක් + අ = ක        ස් + අ = ස

ත් + ඉ = ති        ස් + උ = සු

සිංහල අක්ෂර මාලාවේ ව්‍යඤ්ජන අක්ෂර 42කි.

| (අ)ං | (අ)ඃ | | | | |
|---|---|---|---|---|---|
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

මේ අක්ෂර තවත් අනුකොටස් රාශියකට බෙදා දැක්විය හැකි ය.

## වර්ගාක්ෂර

සිංහල අක්ෂර මාලාවේ ‘ක’ අකුරේ සිට ‘ම’ අකුර දක්වා ඇති අක්ෂර වර්ගාක්ෂර ලෙස හැඳින්වෙයි. ශබ්ද උපදින ස්ථානය, අල්පප්‍රාණ - මහාප්‍රාණ භේදය හා ඝෝෂ - අඝෝෂ භේදය යන සාධක මත අක්ෂර මෙසේ වර්ග වශයෙන් පෙළ ගස්වනු ලැබේ.

‘ක’ අක්ෂරයෙන් ඇරඹෙන පේළියට අයත් අක්ෂර ‘ක’ වර්ගාක්ෂර යි.
‘ච’ අක්ෂරයෙන් ඇරඹෙන පේළියට අයත් අක්ෂර ‘ච’ වර්ගාක්ෂර යි.
‘ට’ අක්ෂරයෙන් ඇරඹෙන පේළියට අයත් අක්ෂර ‘ට’ වර්ගාක්ෂර යි.
‘ත’ අක්ෂරයෙන් ඇරඹෙන පේළියට අයත් අක්ෂර ‘ත’ වර්ගාක්ෂර යි.
‘ප’ අක්ෂරයෙන් ඇරඹෙන පේළියට අයත් අක්ෂර ‘ප’ වර්ගාක්ෂර යි.

| | | | | | |
|---|---|---|---|---|---|
| ක - වර්ගය | ක | ඛ | ග | ඝ | ඞ |
| ච - වර්ගය | ච | ඡ | ජ | ඣ | ඤ |
| ට - වර්ගය | ට | ඨ | ඩ | ඪ | ණ |
| ත - වර්ගය | ත | ථ | ද | ධ | න |
| ප - වර්ගය | ප | ඵ | බ | භ | ම |

මේ පාඩමේ දී විශේෂ අවධානය යොමු වන්නේ ඉහත වර්ගාක්ෂර උත්පත්ති ස්ථාන අනුව වර්ග කෙරෙන ආකාරය පිළිබඳව යි.

ශබ්ද උච්චාරණයේ දී මුඛයෙහි ඇති දිව, යටි දත් පෙළ හෝ යටි තොල යන මුඛ උපාංග උගුර, තල්ල, මුදුන, උඩු දත්, උඩු තොල ආදි චලනය නො වන මුඛ උපාංග කරා පැමිණ ස්පර්ශ වෙයි. එසේ ශබ්ද උච්චාරණයේ දී චලනය නොවන මුඛ උපාංග අක්ෂර උත්පත්ති ස්ථාන ලෙස හඳුනාගනු ලැබේ. මේ ආකාරයට අක්ෂර උත්පත්ති ස්ථාන අනුව සිංහල අකුරු වර්ග කෙරේ.

- කණ්ඨජ
- තාලුජ
- මූර්ධජ
- දන්තජ
- ඕෂ්ඨජ

## කණ්ඨජ

කණ්ඨ යනු උගුර යි. කණ්ඨජ යනු 'උගුරින් උපදින' යන අරුත යි. ශබ්ද උච්චාරණයේ දී දිවේ පසු කොටස උගුර දෙසට ළං වීමෙන් උපදින ශබ්ද කණ්ඨජ නමින් හැඳින්වෙයි.

| | | | | |
|---|---|---|---|---|
| ක | ඛ | ග | ඝ | ඞ |

## තාලුජ

'තල්ල ආශ්‍රයෙන් උපදින' යන අදහස තාලුජ යන්නෙහි ඇත. දිවේ මැද කොටස තල්ලෙහි ගැටීමෙන් උපදින ශබ්ද තාලුජ ලෙස හැඳින්වෙයි.

| | | | | |
|---|---|---|---|---|
| ච | ඡ | ජ | ඣ | ඤ |

## මූර්ධජ

දිවේ අග කොටස උඩට නැමී, තල්ලෙහි මුදුනේ ගැටීමෙන් උපදින ශබ්ද මූර්ධජ ශබ්ද යි.

| | | | | |
|---|---|---|---|---|
| ට | ඨ | ඩ | ඪ | ණ |

## දන්තජ

දිවේ තුඩ දත් ඇන්දෙහි ගැටීමෙන් උපදින ශබ්ද දන්තජ ශබ්ද නම් වේ.

| | | | | |
|---|---|---|---|---|
| ත | ථ | ද | ධ | න |

## ඕෂ්ඨජ

ඕෂ්ඨජ යන්නෙහි අදහස තොල්වලින් උපදින යන්න යි. යටි තොල සහ උඩුතොල ගැටීමෙන් උපදින ශබ්ද ඕෂ්ඨජ ශබ්ද යි.

| | | | | |
|---|---|---|---|---|
| ප | ඵ | බ | භ | ම |

වර්ගාක්ෂර උත්පත්ති ස්ථාන අනුව වර්ග කෙරෙන ආකාරය පහත සඳහන් වගුවෙහි දැක්වේ.

| උත්පත්ති ස්ථාන | වර්ගය | ව්‍යඤ්ජන අක්ෂර | | | | |
|---|---|---|---|---|---|---|
| කණ්ඨජ (උගුරෙන් උපදින) | ‘ක’ වර්ගය | ක | ඛ | ග | ඝ | ඞ |
| තාලුජ වර්ගය (තල්ලෙන් උපදින) | ‘ච’ වර්ගය | ච | ඡ | ජ | ඣ | ඤ |
| මූර්ධජ (තලු මුදුනෙන් උපදින) | ‘ට’ වර්ගය | ට | ඨ | ඩ | ඪ | ණ |
| දන්තජ (දත් ඇසුරෙන් උපදින) | ‘ත’ වර්ගය | ත | ථ | ද | ධ | න |
| ඕෂ්ඨජ (තොල් ඇසුරෙන් උපදින) | ‘ප’ වර්ගය | ප | ඵ | බ | භ | ම |

## ලිඛිත අභ්‍යාස

1. ‘ක’ වර්ගයට අයත් අක්ෂර පමණක් ඇතුළත් වන පරිදි වචන තුනක් ලියන්න.
2. ඨ, ඪ, ණ යන අකුරු ඇතුළත් වන්නේ කුමන වර්ගයට ද?
3. පහත සඳහන් වර්ගාක්ෂර උත්පත්ති ස්ථානය අනුව නම් කරන්න.

   ච -    ග -    ඥ -    ධ -    බ -    ණ -

   ප -    ජ -    ඨ -    ඪ -    හ -

4. නිවැරදි වරණය තෝරන්න.

   i. ඕෂ්ඨජ අක්ෂර ඇතුළත් නොවන වචනය තෝරන්න.

   (අ) තාලම්පට   (ආ) ගැට බෙරය   (ඉ) මද්දලය   (ඊ) හක්ගෙඩිය

   ii. ත වර්ගයට අයත් අකුරු පමණක් ඇතුළත් වචනය වන්නේ

   (අ) තද්ධිත   (ආ) කෘදන්ත   (ඉ) තද්භව   (ඊ) තත්සම   යන්න යි.

   iii. මූර්ධජ අක්ෂරයක් ඇතුළත් නොවන වචනය වන්නේ

   (අ) පීඨය   (ආ) පණිවිඩය   (ඉ) ආරූඪ   (ඊ) සංඛ්‍යාව යන්න යි.

## ප්‍රායෝගික අභ්‍යාස

1. විවිධ මාධ්‍ය පරිශීලනය කර, ස්ටීවන් හෝකින්ගේ චරිතය පිළිබඳ තවත් විශේෂ තොරතුරු සොයා කුඩා පොතක් නිර්මාණය කරන්න.
2. ‘හෝකින්ගේ චරිතයෙන් ගත හැකි ආදර්ශ’ යන මාතෘකාව යටතේ වචන දෙසීයක පමණ රචනාවක් ලියන්න.
3. ඔබ දන්නා තවත් මෙබඳු චරිතයක් පිළිබඳ පන්තිය ඉදිරියේ කථාවක් ඉදිරිපත් කරන්න.



# 5 නිවැරදි ශබ්දෝච්චාරණය

පැරණි අධ්‍යාපනයේ දී ප්‍රමුඛතාවක් හිමි වූයේ ශ්‍රවණයට ය. පොත පත බහුල නොවූ සමාජයේ කියවූ දේ ශ්‍රවණය කිරීමෙන් බොහෝ දෙනා දැනුම ලැබූහ. ඔවුහු 'බහුශ්‍රැතයෝ' වූහ.

අද පාසල් අධ්‍යාපනය තුළ කියවීම හා ලිවීම මූලික වෙයි. කියවීම ප්‍රගුණ කිරීමෙන් දැනුම වර්ධනය කර ගැනීමේ ඉඩ කඩ විවර වේ. එය දැනුම මූලික වූ ලෝකය තුළ තමාට හිමි තැන අත් පත් කර ගැනීමට ද ප්‍රබල රුකුලක් වෙයි.

චිරන්තන සාහිත්‍ය ග්‍රන්ථ රචනා කොට ඇත්තේ අසා රස විඳීම අරමුණු කර ගත් බණ කථා රීතියෙනි. ඒවා කියවීමේ දී අර්ථ රසය මෙන් ම ශබ්ද රසය කෙරෙහි ද සැලකිලිමත් වීම අවශ්‍ය ය.

## සිලාසොබ්භකණ්ඩක චෛතිය

වට්ටගාමණී අභය විසින් කරවන ලද සිලාසොබ්භකණ්ඩක චෛතියට කනිට්ඨතිස්ස විසින් ථූපඝරයක් කරවී ය. ඔහු එහි විශාල පිරිවෙණක් ද කරවී ය. ගෝඨාභය (ක්‍රි. ව. 253-266) එය ප්‍රතිසංස්කරණය කරවී ය. වර්තමාන ලංකාරාම ස්තූපය මුල දී ථූපඝරයක් සහිතව පැවති බවට සාධක තිබේ. මෙය මහා විහාරයේ ථූපාරාම ථූපඝරයට බෙහෙවින් සමාන වූවකි. ලංකාරාම ථූපඝරය තුළ බුදුපිළිම තැන්පත් කර තිබුණ බවට සාධක තිබේ. ථූපාරාම ථූපඝරයේ ද බුදුපිළිම තැන්පත් කර තිබුණ බවට සාධක තිබේ.

## රත්නප්‍රාසාදය

අභයගිරි විහාරයේ ස්තූපයට බටහිරින් ඇති විශාල ගොඩනැගිල්ලේ අවශේෂ රත්නප්‍රාසාදය ලෙස හැඳිනගෙන තිබේ. අභයගිරි විහාරයේ භික්ෂූන්ට පොහොය කිරීම සඳහා උපෝසථාගාරයක් ලෙස තනා ඇති එය ක්‍රි. ව. 2 සියවසේ දී කනිට්ඨතිස්ස රජු විසින් කරවන ලද්දකි. 2 වැනි මහින්ද (ක්‍රි. ව. 777-779) එය ඉතා අලංකාර ලෙස නැවත කරවී ය. එවිට එය මහල් ගණනාවකින් යුත් දෙව් විමනක් වැනි විය. ඔහු එහි රන් බුදුපිළිමයක් ද තැන්පත් කරවී ය. 1 වැනි සේන දවස (ක්‍රි. ව. 833-853) ඒ පිළිමය හා වටිනා වස්තු පාණ්ඩ්‍යයන් විසින් පැහැරගෙන ගිය අතර, 2 වැනි සේන (ක්‍රි. ව. 853-887) ඒවා නැවත ලබාගෙන එහි තැන්පත් කෙළේ ය.

සංස්කෘතික හා ආගමික කටයුතු අමාත්‍යාංශයේ මධ්‍යම සංස්කෘතික අරමුදලේ **අපේ සංස්කෘතික උරුමය** නම් ප්‍රකාශනය ශ්‍රී ලංකාවේ ඉතිහාසයේ අභිමානය නිරූපණය වන පරිදි පාලි, සංස්කෘත වචන සහිත මිශ්‍ර සිංහල භාෂා ව්‍යවහාරයෙන් රචනා වී ඇත. ඉහත උද්ධෘත එයින් උපුටා ගෙන ඇත.

මුල් කාලීන ගුවන් විදුලි ප්‍රවෘත්ති නිවැරදි උච්චාරණයෙන් හා හඬ පාලනයෙන් යුතු ව ලේඛන ව්‍යවහාරයෙන් ඉදිරිපත් කිරීමේ සම්ප්‍රදායක් පැවතිණ. අද වන විට ද එම සම්ප්‍රදාය රකිමින් ප්‍රවෘත්ති ඉදිරිපත් කරන ගුවන් විදුලි නාලිකා කීපයක් වෙයි.

පහත දැක්වෙන්නේ 2017 පෙබරවාරි 5 වැනි දින දහවල් 12.45ට ශ්‍රී ලංකා ගුවන් විදුලි සංස්ථාවෙන් ප්‍රචාරය කෙරුණු ප්‍රවෘත්ති ප්‍රකාශයෙහි ඇතුළත් වූ සිරස්තල කීපයකි.

වේලාව දහවල් දොළහයි හතළිස් පහ යි.

මේ ශ්‍රී ලංකා ගුවන් විදුලි සංස්ථාව යි.

මෙන්න ප්‍රවෘත්ති, සංස්කරණය - ඉනෝකා බ්‍රෝහියර්, ප්‍රකාශය - ඥානින්ද පෙරේරා

- හෘදයාබාධයක දී ජීවිතය බේරා ගත හැකි ඖෂධයක් ආනයනය කිරීමට රජයේ අවධානය යොමු වේ.
- රට සංවර්ධනය කිරීම සඳහා දේශපාලනඥයන් හා පරිපාලන සේවකයන් එකට එක් ව කටයුතු කළ යුතු බව ශ්‍රී ලංකා පරිපාලන සේවා සංගමය පවසයි.
- 2016, 2017 විශ්වවිද්‍යාල අධ්‍යයන වර්ෂය සඳහා අයදුම්පත් භාර ගැනීම 20 වැනි දායින් අවසන් වේ.
- විභාග දෙපාර්තමේන්තුවේ සියලු කාර්යයන් ඩිජිටල්කරණය කෙරේ.
- කළුතර සිට පයාගල දක්වා දුම්රිය මාර්ගය ද්විත්ව මාර්ගයක් ලෙස ඉදිකිරීම් ඇරඹේ.

ප්‍රවෘත්ති ඇතුළු ලේඛන කියවීමේ දී එහි අර්ථය අවබෝධ කර ගනිමින්, විරාම ලක්ෂණවලට අනුගත වෙමින් කියවීම ශ්‍රාවකයාට එහි අන්තර්ගතය මනාව ග්‍රහණය කර ගැනීම පිණිස හේතු වේ.

පැරණි සිංහල අධ්‍යාපන ක්‍රමයේ දී ශබ්ද නිවැරදිව උච්චාරණයට ශිෂ්‍යයා පුහුණු කරවීම කෙරෙහි වැඩි අවධානයක් යොමු විය. ඒ සඳහා ම විශේෂ වූ පැරණි පොත් ගණනාවක් විය. ශබ්දෝච්චාරණය ප්‍රගුණ කරවූයේ එම කෘතිවල ඇතුළත් කවි, ගාථා හා ශ්ලෝක ආශ්‍රයෙනි. **සකස්කඩ** හා **හිතෝපදේශය** යන පොත්වලින් උපුටා ගත් පාඨ සහ ශ්ලෝක ඔබ මීට ඉහත ශ්‍රේණිවල දී ඉගෙන ගෙන තිබේ. පහත දැක්වෙන්නේ **ප්‍රත්‍යය ශතකය** නම් ග්‍රන්ථයෙහි ඇතුළත් ශ්ලෝකයකි. එම ශ්ලෝකය නිවැරදිව උච්චාරණය කිරීමට පුහුණු වන්න. සංස්කෘත භාෂාවෙන් ලියැවී ඇති ශ්ලෝක උච්චාරණය කිරීම මඳක් දුෂ්කර ලෙස හැඟුණ ද නැවත නැවත අභ්‍යාසයෙහි නිරත වීමෙන් උච්චාරණය පහසු කරවනු ඇත.

හංසො විභාති සරසීරුහ වාරි මධ්‍යෙ
සිංහො විභාති ගිරිකුංජර නිර්ඣජරෙ ච
ජාත්‍යො විභාති තුරගො රණ වීර මධ්‍යෙ
විද්වාන් විභාති පුරුෂෙෂු විචක්ෂණෙෂු

(**ප්‍රත්‍යය ශතකය** 100)

හංසයා බබළන්නේ ජලාශයන්හි දී ය.
සිංහයාගේ වික්‍රමාන්විත බව ඇතුන් මැද ය.
සෛන්ධව අශ්වයාගේ බලය යුද්ධ භූමියේ දී ය.
විද්‍යාවන්ත පණ්ඩිතයාගේ බැබළීම එබඳු ම පණ්ඩිතයන් මැද ය.

සංස්කෘත හා පාලි භාෂාවන්හි මහාප්‍රාණ අක්ෂර සුලභ ය. එම අක්ෂර මැනවින් උච්චාරණය කළ යුතු ය. පාලි ගාථා උච්චාරණය පහසු වන අතර ඒවා ද කවි හා ශ්ලෝක මෙන් ම

තාලානුරූපව ගායනා කළ හැකි ය. පහත දී ඇති පාලි ගාථාව ද ඔබ දන්නා මෙවැනි වෙනත් ගාථා ද ගායනීය විලාසයෙන් උච්චාරණය කරන්න.

න භජෙ පාපකෙ මිත්තෙ
න භජෙ පුරිසාධමෙ
භජෙථ මිත්තෙ කල්‍යාණෙ
භජෙථ පුරිසුත්තමෙ

පාප මිත්‍රයන් හා අසත්පුරුෂයන් ඇසුරු නොකළ යුතු ය. කල්‍යාණ මිත්‍රයන් හා සත්පුරුෂයන් ම ඇසුරු කළ යුතු ය.

(ධම්මපදය - පණ්ඩිත වග්ග)

## ලිඛිත අභ්‍යාස

1. සවන් දෙන්නාගේ අවධානය දිනා ගැනීම සඳහා ප්‍රවෘත්ති කියවීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු ලියන්න.
2. පාඩමෙහි අන්තර්ගත ශ්ලෝකයෙන් හා ගාථාවෙන් ලබා දෙන උපදේශ ලියන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. පාඩමේ ඇතුළත් විවිධ ලේඛන, ඊට හිමි ශෛලියෙන් හඬ නගා උච්චාරණය වන සේ පන්තියේ දී ඉදිරිපත් කරන්න.
2. පාසල් පාදක ඇගයීම් ක්‍රියාවලියේ දී හා සිංහල භාෂා තරගවල දී කියවීමේ කුසලතා දැක්වීම සඳහා පාඩමේ ඇතුළත් ලේඛන මැනවින් පරිශීලනය කරන්න.
3. ගුරු උපදෙස් ඇතිව මඟුල් ලකුණ, ගණදෙවි හැල්ල, වදන් කවිපොත වැනි පොතක් සපයා ගෙන පන්තියේ කණ්ඩායම් අතර කියවීමේ තරගයක් පවත්වන්න.



# විරාම ලක්ෂණ

කථනයේ දීත් ලේඛනයේ දීත් විරාමය හෙවත් නැවතීම යෙදේ. කථනයේ දී යෙදෙන විරාමය හෙවත් නැවතීම ලේඛනයේ දී නිරූපණය කෙරෙන්නේ විරාම ලක්ෂණ මගිනි. විරාම ලක්ෂණ භාවිතය අදහස් පැහැදිලිව හා නිරවුල්ව ඉදිරිපත් කිරීමට උපකාරි වෙයි.

මීට ඉහත ශ්‍රේණිවල දී ඔබ පහත සඳහන් විරාම ලක්ෂණ පිළිබඳ දැනුවත් වී ඇත.

| විරාම ලක්ෂණය | නිදසුන |
|---|---|
| තිත (.) | අහස කළු විය.<br>වැස්සක් ඇද හැලිණි. |
| කොමාව (,) | නිල්, රතු, කහ මූලික වර්ණ වේ. |
| දෙතිත (:) | සංගීතඥයා: සංගීතය කියන්නේ විශ්ව භාෂාවක්.<br>1:50000 සිතියමක් ඇසුරෙන් පිළිතුරු සපයන්න. |
| විස්මයාදි ලකුණ (!) | අහෝ! දෙව්දත් නොදුටි මොක්පුර. |
| කෙටි ඉර (-) | අක්ෂර වින්‍යාසයේ දී ණ-න,<br>ල-ළ භේදය ඉගැන්වේ.<br>අයදුම්පත් භාර ගන්නා අවසාන දිනය 2017-10-05 ය. |
| ඇල ඉර (/) | මේ පෙති/කරල් උදේ/සවස බොන්න. |
| තනි උඩු කොමාව (') | පෙර'ඹර හිරු නැඟෙයි. |
| තනි උඩු කොමා (' ') | අක්ෂර, 'වර්ණ' යනුවෙන් ද හැඳින්වේ. |
| යුගල උඩු කොමා (" ") | "මෙහි එව" රජ නියෝග කළේ ය. |
| වරහන ( ) | හ්‍රස්ව (කෙටි) ස්වර අටකි. |

## ලිඛිත අභ්‍යාස

මීට පෙර ශ්‍රේණිවල දී ඔබ උගත් විරාම ලක්ෂණ ආශ්‍රයෙන් පහත සඳහන් අභ්‍යාසවල නිරත වන්න.

1. **පහත සඳහන් වාක්‍ය විරාම ලක්ෂණ යොදා නැවත ලියන්න.**

   i. ඒ වී සුරවීර මහතා සභාව අමතා හරවත් දේශනයක් පැවැත්වූයේ ය

   ii. ස තො ස ට ගොස් පැමිණි කාන්තාව අම්මෝ බඩුවල ගණන් යැයි මිතුරියට කීවා ය

   iii. දරුව ඔබට යහපතක් ම වේවා

   iv. සිංහල ගැමි ජීවිතය විදහා දැක්වෙන නවකතාවකි කේ ජයතිලකයන්ගේ චරිත තුනක්

   v. එස් මහින්ද හිමියන්ගේ දේශාභිමානී කවි මෙන් ම ළමා ගී ද රසවත් පද්‍ය නිර්මාණ ලෙස අගය කළ හැකි යැ යි දේශනයේ දී පැවසිණි

   vi. පෙ ව 10.30 11.00 දක්වා විවේක කාලය යි

   vii. කුරක්කන්වලින් විවිධ ආහාර වර්ග සාදනු ලැබේ

   නිදසුන් හැලප තලප පිට්ටු රොටී

   viii. චාරිකාව යන සෑම ශිෂ්‍යයකු ම අවශ්‍ය ආහාර පාර්සල් දෙක උදේ දවල් ගෙන ආ යුතු යැයි ගුරුතුමා දැන්වීම් පත්‍රිකාවේ සඳහන් කර තිබිණි

   ix. අනේ එවිපත සිදුවුණි

   x. තෙරේසා මවුතුමිය මුඩුක්කුවල සාන්තුවරිය 1910 1997 ලෙස හැඳින්වුණේ ඇය අසරණයන් උදෙසා සිදු කළ මෙහෙය නිසා ය




# අක්ෂර වින්‍යාස රීති

නංගී කැටය බිඳ මුදල් එළියට **ගනිමින්** එහි තිබූ කාසි **ගණිමින්** සිටියා ය.

වැසි සමය පැමිණි **කල** ශීත **කළ** බීම මිල දී ගැනීම අඩු වෙයි.

මේ වාක්‍ය දෙකෙහි තද කළු අකුරෙන් මුද්‍රිත වචන දෙස බලන්න. න, ණ, ල, ළ අකුරු යෙදීම නිසා එම වචන යුගලයන්හි අර්ථ වෙනස් වී ඇත.

ගනිමින් - යමක් අර ගනිමින්
ගණිමින් - ගණන් කරමින්
කල - කාලය
කළ - කරන ලද

මෙසේ වචනවල නිසි පරිදි අකුරු යෙදෙන පිළිවෙළ හැඳින්වෙන්නේ 'අක්ෂර වින්‍යාසය' නමිනි. භාෂාව නිරවුල්ව භාවිතයටත් අර්ථාවබෝධයටත් අක්ෂර වින්‍යාස රීති හඳුනා ගැනීම බෙහෙවින් ප්‍රයෝජනවත් වෙයි. එයින් ලේඛකයාගේ භාෂා කුසලතාව ද ඔප් නැංවෙයි.

සිංහල භාෂාව සකස් වී ඇත්තේ පාලි, සංස්කෘත යන මාතෘ භාෂා ඇසුරෙනි. එම භාෂාවලින් සිංහල භාෂාවට පැමිණි වචන බොහෝ ය. මීට අමතරව දෙමළ හා ඉංග්‍රීසි ආදි භාෂාවලින් පැමිණි වචන ද අද දක්වා ම භාවිතයේ පවතී. සිංහල භාෂාවේ ණ, න, ල, ළ, ශ, ෂ, ස ආදි අකුරු යෙදීමේ දී ඉහත කරුණු ගැන සැලකිලිමත් විය යුතු වෙයි.

6, 7, 8 ශ්‍රේණිවල දී ඔබ අක්ෂර වින්‍යාසයට අදාළ රීති ගණනාවක් උගෙන ඇත. ඒවා ද යළි මතකයට නංවා ගනිමින් අලුත් රීති කිහිපයක් හඳුනා ගනිමු.

# ණ, න අක්ෂර යෙදීම

**පාලි හා සංස්කෘත භාෂාවල යෙදෙන මූර්ධජ 'ණ' හා දන්තජ 'න' අකුරු සිංහලයෙහි ද ඒ ආකාරයෙන් ම යෙදේ.**

| | |
|---|---|
| ආවේණික | ලේඛන |
| ගුණධර්ම | පුනර්භව |
| වාණිජ්‍යය | ජනගහනය |
| නිරූපණය | කනිෂ්ඨ |
| ප්‍රවීණ | අනූන |
| අරුණාලෝකය | ඛනිජ |
| කෝණය | මර්දනය |
| නිර්වාණය | සංවර්ධනය |
| පරිණාමය | ත්‍යාග ප්‍රදානය |
| නිර්මාණ | ඝනාන්ධකාරය |
| පරිමාණය | මනඃකල්පිත |
| පරිගණකය | වර්තමාන |
| ජයග්‍රහණය | සම්භාවනීය |

**සමානරූපී වචනවල අර්ථයට අනුව මූර්ධජ 'ණ' හෝ දන්තජ 'න' යෙදේ.**

| | |
|---|---|
| නුවණ (ඥානය) | නුවන (ඇස) |
| දණ (දණ හිස) | දන (ජනයා) |
| වණය (තුවාලය) | වනය (කැලය) |
| කණ (ඇසක් නොපෙනෙන) | කන (අනුභව කරන/ශ්‍රවණේන්ද්‍රිය) |
| ගැණ (ගණින් කොට) | ගැන (පිළිබඳ) |
| කුලුණු (කරුණාව) | කුලුනු (කණු) |

**පාලි, සංස්කෘත භාෂාවලින් බිඳී එන වචනවල ද ඊට අනුරූපව මූර්ධජ 'ණ' හෝ දන්තජ 'න' යෙදේ.**

| | | | | | |
|---|---|---|---|---|---|
| ප්‍රාණ | - | පණ | අධිෂ්ඨාන | - | අදිටන |
| තෘණ | - | තණ | ප්‍රශ්න | - | පැන |
| ධරණී | - | දෙරණ | දුර්ජන | - | දුදන |
| කල්‍යාණී | - | කැලණි | නිදර්ශන | - | නිදසුන් |
| ආභරණ | - | අබරණ | ශාසන | - | සසුන් |
| දක්ෂිණ | - | දකුණ | කනිෂ්ඨ | - | කනිටු |
| උෂ්ණ | - | උණුසුම් | ලශුන | - | ලූනු |
| තීක්ෂ්ණ | - | තියුණු | ස්ථාන | - | තැන් |
| ලවණ | - | ලුණු | ආසන | - | අසුන් |
| සංලක්ෂණ | - | සලකුණු | ප්‍රසන්න | - | පහන් |
| තරුණ | - | තුරුණු | භෝජන | - | බොජුන් |

**ඇතැම් වචන, සිංහලයට අනුව සකස් වන විට මූර්ධජ 'ණ' අකුර දන්තජ 'න' බවට පත් වෙයි.**

| | | |
|---|---|---|
| කර්ණ | - | කන් |
| ස්වර්ණ | - | රන් |
| වර්ණනා | - | වැනුම් |
| ශ්‍රවණ | - | සවන් |
| කෝණ | - | කොන |
| නිර්වාණ | - | නිවන් |

# ල, ළ අක්ෂර යෙදීම

**මාතෘ භාෂාවල හා ඉංග්‍රීසියේ දන්තජ 'ල' ශබ්දය සහිත පද සිංහලයට බිඳ ගැනීමේ දී දන්තජ 'ල' වශයෙන් ම සිටී.**

| | |
|---|---|
| කලාව | සිංහල |
| විද්‍යාලය | කලල |
| කලාපය | කොලනිය |
| බාලිකාව | කොලරාව |
| මංගල | රැලිය |

**සමාන රූපී වචනවල අර්ථයට අනුව මූර්ධජ 'ළ' හෝ දන්තජ 'ල' යෙදේ.**

| | | | | | |
|---|---|---|---|---|---|
| ඇළ | - | දිය පාර | ඇල | - | පැත්ත |
| පැළ | - | පැළෑටි | පැල | - | කුඩා ගෙය |
| පිළි | - | රෙදි | පිලි | - | පිල්ලම් |
| මුළු | - | සියලු | මුලු | - | කොන් |
| අළු | - | ළිපේ අළු | අලු | - | ආලෝකය |
| තුළ | - | ඇතුළෙහි | තුල | - | සමාන |
| කුළ | - | කූටය | කුල | - | ගෝත්‍රය |
| දළ | - | දැඩි | දල | - | පත්‍ර |

**පාලි, සංස්කෘත වචනවල ඇති 'ට, ඨ, ඩ, ඪ' යන අකුරු සිංහල වචනවල දී මූර්ධජ 'ළ' බවට පත්වේ.**

| | | | | | |
|---|---|---|---|---|---|
| පටිමා | - | පිළිම | කුක්කුට | - | කුකුළු |
| පටිපාටි | - | පිළිවෙළ | පඨවි | - | පොළොව |
| ඛේට | - | කෙළ | ක්‍රීඩා | - | කෙළි |
| නාටක | - | නළු | දෘඪ | - | දැඩි |

මාතෘ භාෂාවල ‘ප්‍රති, පටි’ උපසර්ග සිංහලයට බිඳීමේ දී ‘පිළි’ බවට පත් වෙයි.

පිළිතුරු (ප්‍රතිඋත්තර/ප්‍රත්‍යුත්තර)
පිළිබඳ (ප්‍රතිබද්ධ)
පිළිවෙත් (ප්‍රතිපත්ති)
පිළිසරණ (පටිසරණ)
පිළිසඳර (පටිසන්ථාර)
පිළිවෙළ (පටිපාටි)

## ශ, ෂ, ස අක්ෂර යෙදීම

මාතෘ භාෂා වචනවල ඇති ‘ශ, ෂ, ස’ අකුරු ඒ අයුරින් ම සිංහලයේ ද යෙදේ.

විශ්වය
ප්‍රශ්වාස
ශූරතාව
ආශ්වාස
විෂ
දෝෂ
කොට්ඨාසය
ප්‍රසංගය
විස්මය
ආභාසය

‘ක, ප, ඵ, ට, ඨ’ අකුරකට පෙර මූර්ධජ ‘ෂ’ අකුර යෙදේ.

දුෂ්කර
විෂ්කම්භය
නිෂ්පාදනය
නිෂ්ඵල
ශිෂ්ටාචාරය
නෛෂ්ටික
විශිෂ්ට
දෘෂ්ටිය
පාපිෂ්ඨ
ශ්‍රේෂ්ඨ

‘ච’ අකුරට පෙර තාලුජ ‘ශ’ යෙදේ.

නිශ්චල
තිරශ්චීන
නිශ්චිත
ආශ්චර්ය
විනිශ්චය

'ත, ථ' අකුරකට පෙර දන්තජ 'ස' යෙදේ.

| | |
|---|---|
| විස්තරය | ස්තූපය |
| ප්‍රස්තාව පිරුළු | ප්‍රස්තාර |
| ප්‍රශස්ති | ශාස්ත්‍ර |
| සමස්ත | ස්ථූල |
| ස්ථාවර | විහාරස්ථානය |
| ගෘහස්ථ | මධ්‍යස්ථ |
| දේවස්ථාන | මාර්ගස්ථ |

## ලිඛිත අභ්‍යාස

1. **ඔබ උගත් අක්ෂර වින්‍යාස රීති ආධාර කර ගනිමින් හිස්තැන් පුරවන්න.**

   i. ලබන පුන් පොහෝ දිනයෙහි පූර්__ චන්ද්‍රග්‍රහ__යක් සිදු වේ යැයි වි__වාස කෙරේ.

   ii. ක__ගුණ සැලකීම ශ්‍රේ__ඨ මා__ව ගු__ාංගයකි.

   iii. දැඩි උ__ණාධික දේ__ගු__ය දරා ගත නො හැකිව විවිධ රටවල ජනයා දු__කරතාවන්ට මුහුණ දෙති.

   iv. ප්‍ර__න සියල්ලට ම සාර්ථකව පි__තුරු සැපයීමට සිසුන්ට හැකි විය.

   v. අපේ පුරා__ රජවරු වර්__ ජලයෙන් වැව් පුරවා, ඇ__වේලි දිගේ කුඹුරුවලට ගෙන ගොස් වී ගොවිතැනින් රට __ශ්‍රීක ක__හ.

2. පහත දැක්වෙන දැන්වීම් පුවරුවල ඇති වැරදි වචන නිවැරදි කර ලියන්න.




3. පහත දී ඇති වචන අතුරින් අක්ෂර වින්‍යාස දෝෂ සහිත වචන නිවැරදි කර ලියන්න.

| | |
|---|---|
| i. ආශීර්වාදය | ii. තාක්ෂණය |
| iii. ප්‍රමානය | iv. වීරෝධාර |
| v. සුළඟ | vi. සුවිශේෂ |
| vii. උත්කෘශ්ට | viii. විශ්වාස |
| ix. විශ්වකෝෂය | x. ශ්‍රවනාගාරය |
| xi. පෝසණය | xii. දර්ශණය |
| xiii. පැරනි | xiv. පුෂ්පය |
| xv. ණයකරු | xvi. අනුශාසනය |
| xvii. අභ්‍යවකාසය | xviii. දොලොස්වැනිදා |
| xix. වෙරළාසන්න | xx. ඖෂධ |

4. ‘අපේ සංස්කෘතික උරුමය’ නම් ප්‍රකාශනයෙන් උපුටාගත් කොටස්වල ඇති මහාප්‍රාණ අක්ෂර සහිත වචන උපුටා දක්වන්න.



6

# මගේ රට මට අගෙයි

උපන් බිම පිළිබඳව තම හදවත තුළ නැගෙන සාඩම්බර හැඟීම හා ආදරය, ‘දේශාභිමානය’, ‘දේශානුරාගය’, ‘දේශවාත්සල්‍යය’ යනුවෙන් හැඳින්වේ. රට, ජාතිය විනාශයට පත් වෙද්දී එහි ජීවත් වන්නන් උදාසීනව සිටින විට සාහිත්‍යකරුවෝ ඒ ඒ ජාතීන්ගේ සිත් තුළ රට, ජාතිය ගැන හැඟීම් පණ ගන්වා, ඔවුන් පොලඹවා, ඉදිරියට යවන්නට සමත් නිර්මාණ බිහි කරති; එකී ජාතීන් අතර ඒ නිර්මාණ පතුරුවා හරිති. ඒවායෙහි ගැබ් වී ඇති සංකල්පනා ඔවුන් තුළ ජාති වාත්සල්‍යය හා දේශාභිමානය ඇති කරවයි. යටත් විජිතවාදීන්ගෙන් රට ජාතිය නිදහස් කර ගැනීමේ අවශ්‍යතාව මතු වූ අවධියක සිංහල සාහිත්‍ය නිර්මාණකරුවන් අතින් ද දේශාභිමානී සාහිත්‍ය නිර්මාණ බිහි විණි. කාලීන අවශ්‍යතාව ඉටු කිරීම සඳහා නිර්මාණකරුවෝ පෙළ ගැසුණාහ. ජාතිකාභිමානී හැඟීම් දනවන නිර්මාණ හඳුනා ගෙන රස විඳීමට මග පෙන්වීම මේ පාඩමෙන් අපේක්ෂා කෙරෙයි.

අනුරාධපුර යුගයේ පටන් මහනුවර යුගය දක්වා විවිධ වූ ආක්‍රමණවලට මුහුණ දී මවුබිම බේරා ගන්නට රණ බිමෙහි රුහිරු හෙළා දිවි දී කැප වුණු රණශූරයන්, සාගර බඳු වැව් නිර්මාණය කරමින් රට සහලින් ස්වයංපෝෂිත කරන්නට උර දුන් රජවරුන්, නැණ නුවණ වඩවන්නට පන්හිඳ මෙහෙයවූ මහ පඬිවරුන්, ලක්මවගේ ශ්‍රී විභූතිය ලොව පතළ කරන්නට තම දස්කම් පෑ මහා කලාකරුවන් මෙන් ම ස්වභාව ධර්මයෙන් අප ලද උරුමයන් දේශානුරාගයේ හා දේශාභිමානයේ උල්පත් බඳු ය. මවුබිම ගැන අප සිත්හි නැඟෙන සාඩම්බරයට හේතු වූවෝ එකී ජනයෝ ය; එකී වස්තූහු ය.

දේශාභිමානී සාහිත්‍ය නිර්මාණ වැඩි වශයෙන් ම රචනා වූයේ කොළඹ අවධියේ මුල් වකවානුවේ දී ය. යටත් විජිත පාලනයේ නොයෙකුත් මදිපුංචිකම්වලට මුහුණදෙමින් සිටි ලක්වැසියෝ නිදහස ලබා ගැනීමේ අවශ්‍යතාවෙන් පෙළෙන්නට වූහ. ඇස්. මහින්ද හිමි, ආනන්ද රාජකරුණා, කුමාරතුංග මුනිදාස, අරීසෙන් අහුබුදු වැනි කවීන් තම නිර්මාණ මගින් ජාතිය පුබුදු කරවන්නට සිතුවේ මේ නිසා ය. නිදහසෙන් පසුව ද, දේශාභිමානී සාහිත්‍ය නිර්මාණ රැසක් බිහි විය. වර්තමාන කවීන් අතින් ද රට ජාතිය ගැන ආදරයක්, ගෞරවයක් ජනිත වන ආකාරයේ නිර්මාණ බිහි වෙමින් පවතී.

ජාතියක අනන්‍යතාව භාෂාව යි. භාෂාවට ආදරය කරන්නා ජාතියටත් මාතෘ භූමියටත් ආදරය කරයි. මේ බව කුමාරතුංග මුනිදාසයෝ මෙසේ පවසති.

මගෙ රට මගෙ දැය නිසා
යුද වැද සතුරන් නසා
මදිවි ගියත් මට එසා
යස වෙද සියවස් වසා

කා කුමක් කීවත්
සිය බස කෙලෙසා අපට
නිදහසක් නො ම ලැබේ
පටන් ගන්නැ සිය බසින්

**කුමාරතුංග මුනිදාස**

රට ජාතිය රැක ගන්නට නම් මුලින් ම භාෂාව රැක ගත යුතු බව කවියාගේ අදහස යි.

බන්දා විජය දද අකනිට පද හිම්මේ
සින්දා හළ එතෙක් රිපු සිරිලක් අම්මේ
අන්දා ඔබගෙ සිතියම හද මිණි බැම්මේ
වැන්දා මෙන්න මුදුනත් නගමින් දැම්මේ

කරුණා මහිම කොයි තරම ද කිවොත් ඔබේ
මැවුණා මහා ගංගාවල් ලෙසින් ඉබේ
ඉනුණා බසින දියරක් තැවරුණොත් මොබේ
මරණාසන්න හුස්මට මුත් ආසි ලැබේ

**එස්. මහින්ද හිමි**

සතුරන්ගේ එඩිය පරදමින් විජය දද නැංවූ වීරයන් ගැන කියැවෙන මේ කවිවල, සිත් තෙද ගැන්වීමේ හාස්කමක් ඇතැයි හැඟේ. හදවත නමැති මිණි බැම්මෙහි ඇඳී ඇති සිතියමක් ලෙස වර්ණනා කරමින් මාතෘ භූමියට නමස්කාර කරන බව ද කවියා පවසයි. 'හද මිණි බැම්ම' වැනි කාව්‍යමය යෙදුම් මගින් මේ නිර්මාණය රසවත් වී ඇත. ලක්මවගේ කරුණාව නමැති දිය දහර මහා ගංගාවන් වී ගලා බසින බව සඳහන් කරන කවියා ඒ දිය බිඳකින් මරණාසන්න වූවකුට වුව ද ජීවිතය ලැබෙන බව කියයි. කවියා අප රටෙහි ජල සම්පත වර්ණනා කරන්නේ එසේ ය.

වටේ මහ මුහුදයි
සීතල සුළං විහිදයි
දකින අය පුබුදයි
දිවිය ලෝකය මීට පරදයි

මිහිරියි හැමෝට ම
සිරි ලංකා කියන නම
මේ මගේ මවු බිම
වදිමි සැලකිලි කරමි නිතර ම

මල් පිපෙන පොකුණු ද
කඳු ගං කැලෑ කුඹුරු ද
වතු පිටි මිණි මුතු ද
තිබේ මගෙ රට කාට දෙවෙනි ද

**එස්. මහින්ද හිමි**

ඉතා සරල භාෂාවක් යොදා ගෙන රචනා කර ඇති මේ දේශාභිමානී පද්‍ය කාව්‍යයෙන් ළමා සිතෙහි ද ජාත්‍යනුරාගය ඇති කෙරෙයි. ‘මගෙ රට කාට දෙවෙනි ද?’ යන යෙදුමෙන් ම රට ගැන ආඩම්බරයක් ඇති වෙයි.

මල් මල් වාරම් හරි මැ උදාරම්
ගයවා ගයවා ගුවනේ
ලංකා නම වෙනුයෙන් පුරසාරම්
කියවා කියවා මෙදිනේ

හෙළ මල් රඟ දී පිපී නටනවා
තිසා වැවේ ඉවුරේ
රතඹල රදලිය රජලිය වෙනවා
සීගිරි ගිරි මැඳුරේ
සමනොළ කන්දේ උඩවැඩියා මල
සීතලයෙන් පිපිරේ
මිහින්තලා ගල මලින් පිරීලා
සේදේ සිල් මිහිරේ

මල් මල් වාරම්...

බඹරා බඹරී නුරා නුරාගය
ඉබේ බිඳී යනවා
මී මී පැණි පැණි වද වද රොද රොද
ඉබේ බැඳී යනවා
මුළු ලෝ සත්නගෙ විඩා කඩා හැර
කුසුමින් නැහැවෙනවා
කවියෙන් ගීයෙන් විරිතින් තනුයෙන්
අලුත් වැ පණ එනවා

මල් මල් වාරම්...

හිරු රැස් නාමින් නෙලුම් පිපීලා
පොකුණු හිනා වෙනවා
මැයි ගස නන්සිරි පුන්සිරි රැසිරින්
මනමාලිය වෙනවා
බඳු වද කිණිහිරි ඉද්ද සමන් මල්
තරගෙට පිබිදෙනවා
මල් මල් මල් මල් දෙගොඩ තලා මල්
ගඟක් ගලා යනවා

මල් මල් වාරම්...

රචනය - කැලිස්ටස් ජයසිංහ
ගායනය - සුනිල් සාන්ත

මල් පිපී සුවඳ දෙමින් නටයි, සීගිරි ගිරි මැඳුර රතඹල, රදලිය මල්වලින් හැඩ වෙයි. එවිට ඒ මල් රජලියන් සේ ය. සමනොළ, මිහින්තලා කඳු මල්වලින් අලංකාර වී සොඳුරු දසුන් මැවෙයි. ඒ කඳුමුදුන්වල පූජනීයත්වය වර්ණනා කෙරෙයි. 'සේදේ සිල් මිහිරේ' යනුවෙන් ව්‍යංග්‍යාර්ථවත් වන්නේ ඒ පූජනීයත්වය යි.

'කවියෙන්' 'ගීයෙන්' 'විරිතින්' 'තනුයෙන්' වැනි අනුප්‍රාසවත් යෙදුම් මේ ගීයෙහි සජීව හා ප්‍රාණවත්භාවය මතු කරයි.

නෙලුම් පිපුණු පොකුණු, මනාලියන් සේ දිස් වන මැයි ගස්, තරගෙට පිපෙන විවිධ මල් වර්ග, පරිසරය සුවඳවත් කරමින් මුළු ලොව ම සනහන බව වර්ණනා කරයි. රචකයා මේ නිර්මාණයෙන් කරන්නේ ශ්‍රී ලංකාවේ සුන්දරත්වයත් පූජනීයත්වයත් ගෙන හැර පාමින් සහෘද සිත්සතන් තුළ ජාත්‍යනුරාගය ඇති කිරීමට උත්සාහ කිරීම යි.

විදේශයන්හි සැරි සරමින් ලෝකය සිසාරා ගිය ද මගේ දේශය තරම් උතුම් දේශයක් හමු නොවුණු වග කියමින් දේශය වර්ණනා කරන මේ ගීතය රස විඳිමු.

පියාසර කර ආමි - දේශයෙන් දේශයට
මගේ රට මට අගෙයි - තව්තිසාවට වැඩිය
සුමුදු සුදු වලාවෙන් - මිදෙන දළදා මැඳුර
ඇසට එක රසඳුනයි - දසුන රන්කොත උදුල

ඇසෙයි අලුයම් දුරේ
තේවාවෙ හේවිසිය
පිරෙයි සිත බුදු බැතින්
පහන් වෙයි සිත් සතන්...
ලියදි වට කෙත් යාය
දිසෙයි අරුණලු රඟන
ගලා යයි දිය කඳුරු
නිල් නිල්ව ගිරි සිරස...
දළ උදුල ඇත් ගමන - සිහිව එයි වන අරණ
ඇසෙයි කවි තුන්සරණ - සුමන සමනොළ නගින

**රචනය - සුනිල් සරත් පෙරේරා**
**ගායනය - ඩබ්ලිව් ඩී. අමරදේව**

මෙබඳු නිර්මාණ ඇසුරු කිරීමෙන් ලැබෙන වින්දනය රසිකයා තුළ දේශය පිළිබඳ අභිමානවත් හැඟීම් ජනනය කිරීමට හේතු වනු ඇත.

## අවබෝධය

1. දේශානුරාගය යන්න හඳුන්වන්න.
2. උපන් දේශය පිළිබඳ ආඩම්බරයක් ඇති කිරීමට හේතු වන කරුණු මොනවා ද?
3. පාඩමෙහි ඇතුළත් සාහිත්‍ය නිර්මාණවලින් දේශාභිමානී හැඟීම් මතු වන අවස්ථා උපුටා දක්වන්න.
4. දේශාභිමානී සාහිත්‍ය නිර්මාණකරුවන් තිදෙනකු නම් කරන්න.
5. පාඩමෙහි ඇතුළත් නිර්මාණ මගින් ඉදිරිපත් කෙරෙන ප්‍රාර්ථනා කෙටියෙන් පැහැදිලි කරන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. දේශාභිමානී ගීත නිර්මාණ එකතුවක් සකස් කරන්න. ඒ ගීත ගයමින් අසමින් රස විඳින්න.



# රචනාවක් ලියමු

මාතෘකානුකූල රචනා යනුවෙන් අදහස් වන්නේ මාතෘකාවකට අනුව කරුණු ලිවීම යන්න යි. ඉදිරිපත් කර ඇති මග පෙන්වීම ප්‍රයෝජනයට ගෙන කිසියම් රචනාවක් කිරීම මෙහි දී අපේක්ෂා කෙරේ. ඔබට සපයනු ලබන මාතෘකාව ව්‍යූහයකට අනුව පෙළගැස්වූ වාක්‍ය කීපයක් නම්, එයින් පැහැදිලි කෙරෙන්නේ එම රචනාවෙහි ඇතුළත් කළ යුතු කරුණු මොනවා ද යන්න යි. ඒ විස්තරයට අනුව ගැළපේ යැයි සිතෙන සුදුසු මාතෘකාවක් යෙදිය හැකි ය. මාතෘකාවක් පමණක් ලබා දෙන්නේ නම් ඔබ නිර්මාණාත්මකව එම රචනාව පෙළගස්වා ගත යුතු යි. කරුණු සංශ්ලේෂණය කර ඉදිරිපත් කිරීමේ හැකියාව මැනෙන ලේඛනයකි රචනාව. ඔබ දන්නා කරුණු අතුරින් මාතෘකාවට අදාළ වූ ද ඉතා වැදගත් වූ ද කරුණු පෙළගැස්වීම ඔබේ දක්ෂතාව යි.

වාක්‍ය කීපයකින්, රචනාවෙහි ඇතුළත් කළ යුතු කරුණු දැක්වීම රචකයාට පහසුවකි. එවිට රචනය සංවිධානය වෙයි; අනවශ්‍ය වැල්වටාරම් හා එක ම දේ නැවත නැවත ලිවීමෙන් වැළකෙයි.

රචනාවක් ඇගයීමේ දී කරුණු කීපයක් ගැන සලකා බැලෙයි.

1. සාරවත්භාවය
2. සංවිධානය, නිර්මාණාත්මකභාවය හා ස්වීයත්වය
3. ශිල්පීය දක්ෂතා හා ඡේද නිර්මාණය
4. භාෂා රීතිය හා ශෛලිය

මේ කරුණු පිළිබඳව සැලකිලිමත් වෙමින් රචනය ලිවිය යුතු යි. සාරවත්භාවය යනුවෙන් අදහස් කරන්නේ තේමාවට අදාළව, සාරවත්ව කරුණු ඉදිරිපත් කිරීම යි. එසේ ම රචනාවක දී කරුණු සංවිධානය, නිර්මාණාත්මකභාවය හා ස්වීයත්වය ද වැදගත් ය. උසස් ප්‍රකාශන ශක්තියෙන් යුතු, ව්‍යක්ත ලේඛන ව්‍යවහාරය නිර්මාණාත්මකභාවයේ දී ප්‍රමුඛ වේ. ස්වීයත්වය යන්නෙන් තමාගේ ම ශෛලියක්, රටාවක් අනුගමනය කිරීම අදහස් කෙරේ.

ශිල්පීය දක්ෂතා පිළිබඳ විශේෂ සැලකිල්ලක් දැක්විය යුතු වෙයි. පැහැදිලි අත්අකුරු, විරාම ලක්ෂණ භාවිතය, පද බෙදීම හා ඡේද බෙදා දැක්වීම වැදගත් ය. උක්ත - ආඛ්‍යාත පද සම්බන්ධ රීති අනුගමනය කිරීම, නිවැරදි රචනයක ඇතුළත් ප්‍රධාන අංගයක් වෙයි. යොදා ගන්නා භාෂා රටාව ගැන ද සැලකිලිමත් විය යුතු ය.

මේ කරුණු ගැන අවබෝධයෙන් ලියන රචනාව ගුණාත්මක රචනයකි. ඔබ කුඩා කාලයේ සිට ඉගෙන ගන්නා රූඪී, ප්‍රස්තාව පිරුළු, යුගල පද වැනි සාම්ප්‍රදායික යෙදුම් නිර්මාණාත්මක රචනයක් සඳහා මහඟු පිටිවහලකි. නිවැරදි හා නිර්මාණාත්මක රචනාවක් ලියන්නට අපි හුරු වෙමු.

දී ඇති විස්තරයකට අනුව ව්‍යූහගත රචනාවක් ලියන්නට උගනිමු.

## මාතෘකාව

රූපවාහිනිය අපට බොහෝ තොරතුරු දැන ගත හැකි මාධ්‍යයකි. එහෙත් වැදගත් තොරතුරු දැන ගැනීමට වඩා, විවිධ නාලිකාවල එක දිගට පෙළගැසෙන ටෙලි නාට්‍ය නැරඹීමට බොහෝ දෙනා රූපවාහිනිය භාවිත කරන ආකාරයක් අපට දැකිය හැකි ය. මේ තත්ත්වය පාසල් දරුවාට අහිතකර ලෙස බලපායි. රූපවාහිනිය නිසි ලෙස පරිහරණය කිරීම අප කාගේත් යහපතට හේතු වෙයි.

මේ මාතෘකාවට අනුව අප මුලින් ම සඳහන් කළ යුතු වන්නේ රූපවාහිනිය තොරතුරු ලබා දෙන මාධ්‍යයක් ලෙස අපට වැදගත් වන ආකාරය යි. පළමු වන වාක්‍යයෙන් කියා ඇත්තේ ද එය යි. විකාශනය වූ වැඩසටහනක් මගින් අපට නැරඹීමට නොහැකි වූ අපූරු ස්ථානයක්, අපට අත්විඳිය නොහැකි වූ අපූරු සිදුවීමක් පිළිබඳව අප දැනගත් තොරතුරක් කෙටියෙන් විස්තර කරමින් හෝ එසේත් නැති නම් රූපවාහිනිය යන මෙවලම අපට දැක ගත හැකි වූ මුල් ම දිනය ගැන ඉතා ම කෙටියෙන් විස්තරයක් කරමින් හෝ රචනය ආරම්භ කළ හැකි යි. කෙසේ වුව ද නිර්මාණශීලී ආරම්භය ඉතා වැදගත් වෙයි. රූපවාහිනිය මගින් සාහිත්‍යය, කලාව, විද්‍යාව, තාක්ෂණය, සංවර්ධනය, විනෝදය, අරුම පුදුම නිපැයුම්, විවිධ ජාතීන් හා විවිධ සංස්කෘතීන් ගැන තොරතුරු ලැබෙන බව පැහැදිලි කළ යුතු යි. අනතුරුව සඳහන් කළ යුතු වන්නේ වැදගත් තොරතුරු විකාශනය වන නාලිකාව ක්‍රියා විරහිත කොට වෙනත් නාලිකාවක ටෙලි නාට්‍ය නැරඹීමට පවුලේ සියලු සාමාජිකයන් පෙලඹී ඇති බව යි. මේ නිසා පාසල් දරුවාගේ කාලය නිෂ්ඵල ලෙස වියැකී යන බවත්, ටෙලි නාට්‍ය අද්දැකීම් අත්හදා බැලීමට යෑමෙන් සිදු වන අනර්ථයත්, සිදු විය හැකි අනතුරුත් වෙනත්

ඇබ්බැහි වීම් හා එයින් වන අයහපතත් ගැන ඊළඟ ඡේදයේ දී සාකච්ඡා කළ යුතු යි. අවසාන ඡේදයේ දී මේ තත්ත්වය මඟහරවා ගැනීමට කළ යුතු පිළියම් යෝජනා කිරීම අත්‍යවශ්‍ය යි. මාතෘකාවේ සඳහන් ඒ ඒ වාක්‍යයෙන් කියවෙන කරුණු ඒ ඒ ඡේදයේ දී විස්තර කළ යුතු යි. යෝජනා ඉදිරිපත් කිරීමෙන් හා යෝජනා ක්‍රියාත්මක කිරීම මගින් උදා කර ගත හැකි යහපත ගැන කියමින් රචනාව අවසන් කළ හැකි යි.

මාතෘකාවක් පමණක් ලබා දී ඇති අවස්ථාවක දී රචනය සැලසුමක් අනුව පිළියෙල කර ගෙන ලිවිය යුතු යි. එහි දී

1. මාතෘකාව හැඳින්වීම
2. මාතෘකාවට අදාළව පවතින තත්ත්වය
3. ඉදිරිපත් කළ හැකි අදාළ යෝජනා
4. අවසානය

යනුවෙන් මාතෘකාව කොටස් කර ගත හැකි ය. අපි උදාහරණයක් ගෙන බලමු.

**මාතෘකාව**

**කැලිකසළ නිසි ලෙස බැහැර කිරීම සැමට සෙතකි**

මේ මාතෘකාව අනුව රචනය ලිවීමේ දී කැලිකසළ මගින් නිපදවා ගත් කාබනික පොහොර යොදා සරුසාර ගෙවත්තක් නිර්මාණය කර ගත් ආකාරය හෝ වෙනත් යහපතක් ගැන ඉතා කෙටියෙන් විස්තර කරමින් රචනය ආරම්භ කළ හැකි යි. නැත හොත් කැලිකසළ ආහාරයට ගෙන මිය ගිය සතෙකු හෝ සිදු වූ අයහපත් තත්ත්වයක් ගැන හෝ ඉතා ම කෙටියෙන් පැහැදිලි කිරීම යෝග්‍ය යි. කැලිකසළ නිසි ලෙස බැහැර කිරීමට පෞද්ගලිකව තම තමන් ගත යුතු පියවර හා රජය මගින් ගෙන ඇති පියවර පැහැදිලි කිරීම ද මනා ය. කැලිකසළ හේතු කොට ගෙන මිනිසා ද සතා සිවුපාවා ද, පත් වී ඇති ශෝචනීය තත්ත්වයත් මේ තත්ත්වය මඟහරවා ගැනීම සඳහා පාසල් දරුවාගේ සිට වැඩිහිටියා දක්වා කැප විය යුතු ආකාරයත් පැහැදිලි කළ යුතු ය. කසළ මගින් රෝග බෝ වන ආකාරය, පරිසරය අසුන්දර වන ආකාරය හා එයින් රටට සිදු වන අවාසිය ගැන ද ලිවිය හැකි ය. මේ අනර්ථකාරී තත්ත්වයෙන් මිදී කැලිකසළ සැමට යහපත ගෙනෙන සම්පතක් බවට පරිවර්තනය කර ගත හැකි ආකාරය පැහැදිලි කරමින් රචනය අවසන් කළ හැකි ය.

තමන්ගේ නිර්මාණශීලී චින්තනයත් තමා සතු වාක්කෝෂයත් පොත පත කියවා ලබා ගන්නා දැනුමත් නිරන්තරව ලේඛන කාර්යයෙන් ලබන අභ්‍යාසයත් සාර්ථක රචනයක් ලිවීමෙහි ලා අතිශය වැදගත් ය.

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් මාතෘකාවලට අනුව රචනා ලියන්න.**

    i. දිනෙන් දින අසන්නට ලැබෙන අපරාධ පිළිබඳ තොරතුරු අපට කියාපාන්නේ සමාජයේ පවතින නොදියුණු බව යි. ආර්ථික ප්‍රශ්න මෙන් ම මානව සම්බන්ධතාවල පවතින අඩුලුහුඬුකම් ද මේ අපරාධවලට හේතු වී ඇත. මේ අපරාධ මර්දනය කිරීම සඳහා මුළු මහත් ජනතාව ම පෙළගැසිය යුතු ය. ඒ සඳහා අප කළ යුතු වන්නේ කුමක් දැයි පැහැදිලි කරමින් රචනයක් ලියන්න.

    ii. සාහිත්‍යය වූ කලි ජීවිතයට අද්දැකීම් සම්භාරයක් ලබා දෙන මාධ්‍යයකි. මිනිසුන් සිතන, පතන හා ක්‍රියා කරන ආකාරය පිළිබඳව ඉතා සියුම් ලෙස සාකච්ඡා කෙරෙන්නේ සාහිත්‍යය මගිනි. අපගේ ජීවිත හැඩ ගස්වා ගැනීමට සාහිත්‍ය නිර්මාණවලින් ලැබෙන පිටිවහල කොතෙක් දැයි සාකච්ඡා කරමින් රචනයක් ලියන්න.

    iii. තුරුලතාවල සුවය, සිසිලස විඳ ගනිමින්, කුරුලු ගී හඬින් අමන්දානන්දයට පත් වෙමින් වනාන්තරය පුරා ඇවිද ගියෙමි. හදිසියේ පය ලිස්සා මා ඇද වැටුණේ මට තනි ව ගොඩට ඒමට නොහැකි තරමේ ගැඹුරු වළකට ය. සිදු වූ අකරතැබ්බයෙන් මිදෙන්නට ක්‍රමයක් සිතමින් තැති ගත් සිතින් සිටි මට කොළ සෙලවෙන හඬක් ඇසිණි. මා වුවමනාවෙන් කන් දී ගෙන සිටියේ කිසියම් පිහිටක් ලබා ගත හැකි වේ යැයි අපේක්ෂාවෙනි... මේ රචනයෙහි ඉතිරි කොටස නිර්මාණය කරන්න.

2. **අපේ ආහාර ප්‍රශ්නයට විසඳුම් සොයමු.**

3. **විද්‍යාව දියුණු වත් ම මිනිසා පිරිහෙයි ද?**



# 7 දෑසේ නිල් පැහැය

කවිය යනු මිනිසාගේ ජීවිතාවබෝධය පුළුල් කරන සාහිත්‍යාංගයකි. කවි රස විඳීම හා නිර්මාණය කිරීම සඳහා සහජයෙන් ලද හැකියාව, පොත් පත් පරිශීලනයෙන් ලද අවබෝධය, නිරන්තර අභ්‍යාසය අවශ්‍ය බව පුරාණ කාව්‍ය විචාරයේ දී පෙන්වා දී ඇත. විවිධ කාව්‍ය නිර්මාණ රස විඳීමෙන් අපගේ ජීවිතාවබෝධය පුළුල් වන අතර, කාව්‍ය නිර්මාණය සඳහා මග පෙන්වීමක් ද එමගින් ලබා ගත හැකි ය.

මේ පාඩමේ ඇතුළත් වන්නේ දයාසේන ගුණසිංහ කවියාගේ නිර්මාණයකි. එය 1974 රාජ්‍ය සාහිත්‍ය සම්මානයෙන් පිදුම් ලද ‘රන් තැටියක කඳුළු’ කාව්‍ය සංග්‍රහයෙන් උපුටා ගෙන ඇත. කවියකු, කෙටිකතාකරුවකු, පුවත්පත් කලාවේදියකු ලෙස ප්‍රකට දයාසේන ගුණසිංහ පරිවර්තකයෙක් ද වෙයි.

ඔබ වෙනුවෙන් ඉදෙන බතේ
සිනා හඬට කන් දීගෙන
පිඟ මොළවන විට ළිප ගිනි
දෙව් බොජුනක රස මැවෙන්න
දෑසේ නිල් පැහැය දැවී
සෙමෙන් තුරන් විය නොදැනිම.

නැවතත් එන බව නොකියා
හිරු අවරින් නැව් නැඟි පසු
තනිව හඬන ලොවත් සමග
රැයට මුහුණ ලා ඉඳගෙන
ඔබ එන තුරු මග බලමින්
දිවි ගණනක් ගෙවනා විට
දෑසේ නිල් පැහැය සෙමෙන්
අඳුරට දිය විය නොදැනිම.

බත් දෙකටක් උපයන්නට
අටු කොටු පුරවා දවසෙම
මඳ සැනසිල්ලක් ලබමින්
නිදි පැදුරේ වැතිරෙන ඔබ
නඟන සුසුම් කෙඳිරිලි හඬ
හද මිරිකා හළ කඳුළට
දෑසේ නිල් පැහැ සේදී
ගලා නිමා විය නොදැනිම.

නිල් ඉඳුවර නිලේ අරුම
ඈත දියඹ නිලේ වරුණ
යොවුන් වියේ නිල් දෑසට
උවම් නැතැයි කී හිමියනි
අතීතයක් ගැන සිතමින්
මගේ දෑස දෙස නොබලා
අනාගතය දෙස යොමු වූ
දුවගෙ දෑස දෙස බලන්න.

කවි පෙළ ඇසුරෙන් පිළිතුරු ලියන්න.

1. දෑසේ නිල් පැහැය නැති වීමට කවියා දක්වා ඇති හේතු තුනක් කෙටියෙන් ලියන්න.
2. දෑසේ නිල් පැහැය කවියා උපමා කර ඇත්තේ මොනවාට ද?
3. බොහෝ වෙහෙස වී ඉතා අඩු මුදලක් උපයන බව දැක්වීමට කවියා යොදා ගෙන ඇති කවි පද දෙක උපුටා දක්වන්න.
4. කවි පෙළෙහි ව්‍යංගාර්ථ ඉස්මතු කර දක්වන්න.
5. කවි පෙළ පිළිබඳ කෙටි රසාස්වාදයක යෙදෙන්න.



# විශේෂණ පද

**විශේෂණ පද, නාම විශේෂණ පද හා ක්‍රියා විශේෂණ පද ලෙස කොටස් දෙකකට බෙදේ.**

නාම පදයක කිසියම් විශේෂ ගුණයක් දැක්වීම සඳහා යොදන පද, නාම විශේෂණ පද වේ.

ක්‍රියා පදයක කිසියම් විශේෂ ගුණයක් දැක්වීම සඳහා යොදන පද, ක්‍රියා විශේෂණ පද වේ.

ඉහත කවියේ “දෑසේ **නිල්** පැහැය දැවී **සෙමෙන්** තුරන් විය...” යන යෙදුම විමසා බලන්න. එහි පැහැය යන නාම පදයේ විශේෂ ගුණයක් දැක්වීම සඳහා **‘නිල්’** යන පදය යෙදී ඇත. ඒ අනුව **‘නිල්’** යනු මෙහි දී නාම විශේෂණ පදයකි. එමෙන් ම එහි **‘තුරන් විය’** යන ක්‍රියා පදයේ විශේෂ ගුණයක් දැක්වීම සඳහා **‘සෙමෙන්’** යන පදය යෙදී ඇත. ඒ අනුව **‘සෙමෙන්’** යන්න මෙහි දී ක්‍රියා විශේෂණයක් ලෙස හඳුනා ගත හැකි ය.

## ලිඛිත අභ්‍යාස

1. පහත යෙදුම්වල ඇතුළත් නාම විශේෂණ පද උපුටා දක්වන්න.

   i. සිනා හඬ -
   ii. දෙව් බොජුන් -
   iii. නිදි පැදුර -
   iv. ඈත දියඹ -
   v. යොවුන් විය -

2. ඉහත 1 ප්‍රශ්නයේ දැක්වූ නාම පදවලට වෙනත් විශේෂණ පදය බැගින් යොදා නැවත ලියන්න.

   උදාහරණ: **නිල්** පැහැය
   **රතු** පැහැය

3. පහත වාක්‍යවල ඇතුළත් ක්‍රියා විශේෂණ පද උපුටා දක්වන්න.

   i. දරුවා බියෙන් අඬයි.
   ii. සුළඟ වේගයෙන් හමයි.
   iii. ඔහු පරෙස්සමෙන් රිය පදවයි.
   iv. ළමයා සතුටින් සෙල්ලම් කරයි.
   v. ඇය හොඳින් ඉගෙන ගනියි.

4. ඉහත ක්‍රියාකාරකමෙන් උපුටා ගත් ක්‍රියා විශේෂණ පද භාවිත කරමින් වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.

5. පහත දැක්වෙන නාම හා ක්‍රියා පදවලට විශේෂණ පද යොදා අර්ථවත් වාක්‍ය ගොඩ නගන්න.

   i. ධාවකයා - දුවයි
   ii. සිසුවා - සමත් වෙයි
   iii. නිවේදිකාව - ප්‍රකාශ කරයි
   iv. ගස - සෙලවෙයි
   v. නැට්ටුවා - නටයි

6. **පහත ඡේදයේ සඳහන් නාම විශේෂණ පද තෝරා ලියන්න.**

සෙල්ලම් පිටියක සාදන ලද මඩුවක් සේ කැලෑ රොද අපට බෙහෙවින් ප්‍රයෝජන විය. වහින විට අප, අපගේ හිස් සෙවණ කර ගැනීමට දුවන්නේ මේ කැලෑ රොද තුළට ය. මැස්සක් මෙන් සැදුණු පඳුරු මුදුන් නිසා, කැලෑ රොද ඇතුළත බිම වහල් තලයකින් සෙවණ වුණු මඩුවක් වැන්න. ඝනව වැඩුණු අතු ඉති සහිත පඳුරු මුදුන් කිහිපයකින් සෙවණ වුණු ඇතැම් තැනක්, මහ වැස්සක දී වුව ද අප ආරක්ෂා කරයි. සෙනසුරාදාත්, ඉරිදාත් අප උදේ සිට සවස් වන තෙක් සෙල්ලම් කරන්නේ මේ කැලෑ රොද ඉදිරියෙහි වන වැලි තලාවෙහි ය.

(මඩොල් දූව - මාර්ටින් වික්‍රමසිංහ)



# කවියක රස විඳ නව කවි පබඳිමු

කවිය සඳහා පාදක විය යුතු අද්දැකීම් පිළිබඳව කවීන් විවිධ අදහස් දක්වා ඇත. පහත කවිය එවැන්නකි.

නැණ නැවින් සත් සයුරු තරණය කරන කවියනි, මගේ දය සතු
පණ පොවා අදහසට පදයට ලොවක් පෙරළන තරමෙ බලගතු
රණ විකුම් දක්වමින් යුද පෙරමුණට ජාතිය යැවිය හැකි මතු
ජන සිතුම්, ජන පැතුම්, ජන වේදනා ඔස්සේ කවි ලිවිය යුතු

උපන් කරුමෙට දොළොස් මාසය ගෙවන සා ගින්දරට පෙම් බැඳ
දොරෙන් වහලෙන් හිරුගෙ සරදම් සිනා ගෙට එන පැලක පින් මඳ
අහිංසක දරු පවුලකට හිමි කුවේර පාලන උරුමයෙන් ලද
දකින්නට දුක් නැතොත් කවි ඇස, අතට නොගනිව් ලියන පන්හිඳ

**කිවි දසුන** - පී. මලල්ගොඩ

එක්තරා මහලු ඍෂිවරයෙක් ගං ඉවුරක් දිගේ ගමන් කරමින් සිටියේ ය. අත්තෙන් අත්තට පනිමින් සතුටින් ගී ගයමින් සිටි කුරුලු යුවළක් ඔහුගේ ඇස ගැටිණි. ඍෂිවරයා මේ දර්ශනයෙන් සතුටට පත් විය. ඒ දෙස ම මඳක් බලා සිටියේ ය. මේ අතරතුර වැද්දකු විසින් විදින ලද හීයකින් කුරුල්ලා මැරී වැටිණි. කිරිල්ලිය ශෝකයෙන් විලාප දෙන්නට වූවා ය. මේ සිදුවීමෙන් ඍෂිවරයාගේ හදවත කම්පා විය. එතුමාගේ මුවින් එසැණින් ශෝක ගීතයක් පිට විය. මේ සිදුවීම මහා බ්‍රහ්මයාගේ නෙත ගැටිණි. එතුමා සිටියේ රාම සීතා කතාව ගීතයෙන් ලිවිය හැකි අයකු පිළිබඳ විමසිල්ලෙනි. ඍෂිවරයාගේ මුවින් පිට වූ ශෝක ගීතය අසත් ම එතුමාට සිතුණේ තමා සොයමින් සිටි කවියා හමු වූ බව යි. මහා බ්‍රහ්මයා ඍෂිවරයාට රාම කුමරුගේ ජීවිත කතාව කියා, එය ගීයෙන් ලියන ලෙස ඉල්ලා සිටියේ ය. එය කල්පාන්තරයක් ලොව බැබළෙනු ඇති බව ද කීවේ ය. ඒ කාව්‍යය නම් රාමායණය යි. ඍෂිවරයා වාල්මීකී ය. මේ රාමායණය නිර්මාණය වීම පිළිබඳ ජනයා අතර මුඛ පරම්පරාගතව පැවතෙන කතාන්දරයකි. මුලින් කී කවිය වාල්මීකීගේ මුවින් පිට වූයේ තම සිත සසල කළ සිදුවීම හේතුවෙනි. එය ඔහු ලද අද්දැකීමකි. වාල්මීකී විසින් රාමායණය රචනා කරන ලද්දේ මහා බ්‍රහ්මයා පැවසූ රාම කුමරුගේ ජීවිත කතාව පදනම් කර ගෙන ය. කවි නිර්මාණය සඳහා එබඳු විවිධ අද්දැකීම් පාදක කර ගත හැකි ය. තමා සැබවින් ම අත්විඳි සිදුවීමක්, පොත් පත්, පුවත්පත් ආදිය කියවීමෙන් ලත් අද්දැකීමක් හෝ වෙනත් අයකු කියනු ඇසූ සිදුවීමක් පදනම් කර ගෙන කාව්‍ය කෘති නිර්මාණය කළ හැකි ය.

කවියා තමා ලබන අද්දැකීම් අතුරෙන් තම හද සසල කළ අද්දැකීම් පාදක කර ගෙන කාව්‍ය නිර්මාණය කරයි. එහෙත් අප සංවේදී කරන සියලු අද්දැකීම් ඇසුරෙන් කාව්‍ය නිර්මාණ බිහි වන්නේ නැත. අද්දැකීමක් ප්‍රතිනිර්මාණය කිරීමෙන්, රසවත් හා පෙර නුදුටු විරූ ආකාරයකින් එය නැවත ගොඩනැගීමෙන් කවි බිහි වෙයි. 6, 7, 8 ශ්‍රේණිවල දී කවි පබැඳීම පිළිබඳව සාකච්ඡා කර ඇත. ඒ කරුණු ද සිහිපත් කර ගැනීම වැදගත් ය.

කවිය යනු භාෂාව භාවිතයෙන් කරන නිර්මාණයකි. භාෂාව හොඳින් හැසිරවීමට හැකි වීම කාව්‍ය නිර්මාණයක දී වැදගත් වේ. කථකයාට හෝ අවස්ථාවට ගැළපෙන බසක් යෙදීම, උපමා රූපක සහිත ව්‍යංග්‍යාර්ථවත් භාෂා භාවිතය ආදි විවිධ උපක්‍රම මගින් කවිය රසවත් හා අර්ථවත් කර ගත හැකි ය.

මහගම සේකර කවියා විසින් අවුකන බුදුරුව නිමිති කර ගෙන රචනා කරන ලද පහත නිර්මාණය විමසා බලන්න.

ඇසේ මතු වන කඳුළු බිඳු ගෙන
ඔබේ සිරිපා දොවන්නම්
හදේ මැලවෙන කැලෑ මල් ගෙන
ඔබේ සිරිපා පුදන්නම්

නො අදහා බුදු කෙනකු දෙවියකු
මානයෙන් වල්මත්ව සිටි මම
ගලක් යැයි ඔබ සිතා සිටියෙමි
නෙතක් හෝ කිසි දයාවක් නැති
ගලින් කළ ඔබ හදින් වෑහෙන
මහා කරුණා ගුණය නො පෙනිණ

කෙලෙස් මල පිරි නුවර අතහැර
බවුන් වඩනට වනේ වැඩි ඔබ
සොයා ආයෙමි පොළෝ තලයේ
අනෙක් පිහිටක් නොමැති වූ විට

ඉහළ නිල්වන් අහස විනිවිද
නැගෙන ඔබගේ යෝද බුදු බඳ
මගේ නෙත සිත මෝහනය කර
මගේ කුදු බව පසක් කර ඇත

ඔබේ පා මුල බැගෑපත් ලෙස
වැටී අයදිමි අහෝ සාමිනි
ජීවිතේ යම් පලක් ඇත් නම්
කිමැයි ඒ මට කියා දුන මැන

කාලාන්තරයක් තිස්සේ ගන වනයේ සැඟව තිබූ අවුකන බුදු රුව දකීමෙන් විස්මයට පත් වූ ආර්. එල්. බ්‍රෝහියර් තමාට ඇති වූ හැඟීම මෙසේ විස්තර කරයි.

"මේ උත්තුංග මහා රූපය මට පළමු කොට ඇස ගැසුණේ මිනින්දෝරු ත්‍රිකෝණමිතික ස්ථානයක් පිහිටුවීම සඳහා කඳු මුදුනක් සොයමින් සිටි වේලෙහි ය. අප මහ වනය මැදින් පාර කපා ගෙන යන කල්හි අපට මේ ශිලා ස්ථානයත් මානව රූපයේ මේ උත්තුංග ශිලාමය නිරූපණයත් ක්ෂණයෙහි දිස් විය. මහා ඝන වනාන්තරයෙහි පමණක් නිර්මාණය විය හැකි ඒ පුදුම දැඩි නිහැඬියාව මධ්‍යයෙහි මම මා දුටු දෙයින් වශීකෘතව මගෙන් පහව ගිය කතා කර ගැනීමේ ශක්තියෙන් යුතුව තක්බීරිව හිට ගෙන සිටියෙමි. එමතු නොව, ඒ අබියස මා නිකම් ම නිකම් පිග්මියෙකැයි හැඟී ගියෙන් මාගේ මන් බිඳී ගියේ ය. එහෙත් මගේ පියවි සිහිය මා කරා යන්තමින් පෙරළා පැමිණෙත් ම අනුක්‍රමයෙන් මට ප්‍රතිමාවේ පහත සඳහන් ලක්ෂණ විශද වන්ට විය: මුහුණේ නිහඬ නිසංසල ලක්ෂණ හා ඉරියවු, ඉන් ප්‍රකාශ වන්නා වූ පතළ මහා කරුණාව, ප්‍රතිමා ශිල්පියා එයට ගෙන දුන් චිත්ත දමනය හා සුකුමාර සෞන්දර්යය... "

- **සුබස් මිණි ආර**, මහාචාර්ය සුචරිත ගම්ලත්

එක ම අද්දැකීමක් ආශ්‍රිත ඉහත රචනා දෙස බැලීමේ දී බ්‍රෝහියර්ගේ ලේඛනය ඔහුගේ අද්දැකීම් ඍජු ලෙස වර්ණනා කරන්නක් බව පෙනේ. මහගම සේකරගේ නිර්මාණය අවුකන බුදුරුව පිළිබඳ ඍජු වර්ණනයකට වඩා භක්ති පූර්වක හැඟීම් සපිරුණු කාව්‍ය නිර්මාණයක් බව පෙනේ. එය ඍජු අද්දැකීමෙන් ඔබ්බට ගොස් අපගේ හැඟීම් සසල කරන්නකි. එහි භාෂාව රූපකාර්ථවත් ය. “හදේ මැලවෙන කැලෑ මල්, ගලින් කළ ඔබ හදින් වෑහෙන මහා කරුණා ගුණය, කෙලෙස් මල පිරි නුවර, ඉහළ නිල්වන් අහස විනිවිද නැගෙන ඔබගේ යෝද බුදු බඳ...” ආදිය ඊට නිදසුන් ය. බ්‍රෝහියර්ගේ වාර්තාව හා මහගම සේකරගේ කවිය එක ම හැඟීම නියෝජනය කළ ද, කවිය ඉස්මතු වී පෙනෙන්නේ වාර්තාවේ දැකිය නොහැකි සුන්දරත්වයක්, විචිත්‍ර බවක් එහි විද්‍යමාන වන බැවිනි. මෙබඳු නිර්මාණ රස විඳීම ද අද්දැකීම්වලින් පෝෂණය වීම උදෙසා පොතපත පරිශීලනය ද ඔබට කාව්‍ය නිර්මාණය සඳහා වැදගත් වනු ඇත.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **එක ම තේමාවක් පදනම් කර ගෙන පන්තියේ සියලු දෙන ම කවි පන්තිය බැගින් නිර්මාණය කරන්න.**
2. **ඒවා එකතු කර පොතක් සකසන්න. එහි සියලු නිර්මාණ කියවමින් රස විඳින්න. ඒ ඒ අයගේ ප්‍රතිභාවන් අගයන්න. අඩු පාඩු සාකච්ඡා කරන්න.**
3. **විවිධ තේමා, සමාජ පැතිකඩ ඔස්සේ විවිධ කවි නිර්මාණය කරන්න.**



# 8

# මහධන සිටුපුත්හුගේ වස්තුව

අමාවතුර, බුත්සරණ, පූජාවලිය, සද්ධර්මරත්නාවලිය, පන්සිය පනස් ජාතක පොත, ධාතු වංසය, සද්ධර්මාලංකාරය, දළදා සිරිත ආදි චිරන්තන සාහිත්‍ය ග්‍රන්ථයන්ගෙන් සිංහල සාහිත්‍යය පොහොසත් ය. මේ ග්‍රන්ථ රචනා වූයේ දෙසවනින් අසා රස විඳිය හැකි ලෙසිනි. දඹදෙණි අවධියෙහි වැඩ විසූ ධර්මසේන හිමියන් ලියූ සද්ධර්මරත්නාවලියෙහි ඇතුළත් මේ මහධන සිටුපුත්හුගේ වස්තුව ඇතුළු කථාවලින් පිළිබිඹු වන්නේ ගැමි වහර ද ගැමි ජීවිතය ද ඇසුරෙන් සකස් කර ගත් ශ්‍රැතිගෝචර ශෛලියකි.

පැරණි සාහිත්‍ය ග්‍රන්ථ ඊට හිමි ශෛලියෙන් ම කියැවීමෙන් ද කියනු ඇසීමෙන් ද මහත් වින්දනයක් තාක්ෂණික ශිල්ප ක්‍රම දියුණු වූ වර්තමානයේ දී ද ලැබිය හැකි ය.

තව ද කළමනා සුචරිත විෂය තබා ලා නොකළමනා දෙය කරන්නවුනට වන විපත්ති හඟවන්ට මහධන සිටුපුත්හුගේ වස්තුව දක්වමු.

කෙසේ ද යත්-

ඒ සිටුපුත් තෙමේ බරණැස අසූ කෙළක් වස්තු ඇති සිටු කුලයෙක උපන. උන්ගේ දෙමවුපියෝ 'අපගේ සම්පත මහත, අපගේ පුතණුවන් කැමති පමණකට ඇත. සෙස්ස හැයි දැ'යි විද්දත් කුලයෙක උපන්නා සේ ගී නැටුම් පමණක් ඉගැන්වූහ. එම නුවර අසූ කෙළක් වස්තු ඇති කුලයෙක දුවණි කෙනකුත් උපන්හ. උන්ගේ දෙමවුපියෝත් අර මුන්ගේ දෙමවුපියන් සිතූ ලෙසට ම සිතා උනුත් ගී නැටුම් පමණක් ඉගැන්වූහ. වැඩි විය පැමිණියවුන් ඔවුනොවුන්ට ම නිල කළහ.

කල් යෑමක දී දෙපක්ෂයේ ම දෙමවුපියෝ මළහ. එක්ලක්ෂ සැට කෙළක් පමණ වස්තුව එක ගෙට ම විය. සිටු පුත්‍රයාණෝ ද දවස තුන් විටක් රාජ සේවයට යෙති. ඉක්බිත්තෙන් එ නුවර රා සොඬහු 'ඉදින් මේ සිටු පුත්‍රයාණෝත් රා සොඬහු නම් අපට මහා සැප ය. උනුත් රා සොඬ කරම්හ' යි සිතූහ. එසේ සිතාලා රාත් හැරගෙන බැදි දඩ මස හා ලුණුත් එකුරුත්තේ බැඳගෙන මුල පලා මුලුත් හැරගෙන උන් රජගෙන් එන තෙක් මග බල බලා හිඳලා සිටු පුත්‍රයාණන් එන්නවුන් දැක රා බී පියා ලුණු කට ලා ගෙන මුල පලා මුල් ඩැ ඩැ 'ස්වාමීනි, සිටු පුත්‍රයාණන් වහන්ස, බොහෝ කලක් ජීවත් වුන මැනව. අපි නුඹ වහන්සේට පිනට කන්ට බොන්ට සමර්ථ වූම්හ'යි කිවු ය. සිටු පුත්‍රයාණෝ ද උන්ගේ බස් අසා පස්සේ එන බුලත් කවන්නවුන් අතින් 'තුලුන් බොන්නේ කුමක් දැ' යි විචාරා 'එක් පාන වර්ගයෙකැ'යි කී කල්හි 'යහපත් දෙයක් දැ'යි විචාළෝ ය. 'ස්වාමීනි, මෙලොව මෙයට වඩා පියයුත්තෙක් නැතැ'යි කීය. 'එසේ වී නම් මාත් ඒ බොන්ට වුවමැනවැ'යි මඳක් මඳක් ගෙන්වා ගෙන බොති. ධූර්තයෝ ද සිටු පුත්‍රයාණනුත් රා බොන්ට පටන් ගත් නියාව දැන ගෙන උන් ම පිරිවරා ගත්හ. කල් යත් යත් පිරිවර මහත් විය.

සිටු පුත්‍රයාණෝත් සියයක් යවාලාත්, දෙසියයක් යවාලාත් රා ගෙන්වා ගෙන බොන්නෝ කල් යත් යත් හුන් තැන සිටි තැන රන් ගොඩවල් තබ්බවාගෙන රා බොන කල පළඳිනා ලෙසට 'මෙ තෙක් රන් දීලා මල් ගෙනෙව. මෙතෙක් රන් දීලා සුවඳ සාන්දු ගෙනෙව. මූ දූ කෙළියට සුරු වූ ය. මූ නටන්ට සුරු වූ ය. මූ ගී කියන්ට සුරු වූ ය. මූ මද්දල ගසන්ට සුරු වූ ය. මුන්ට දහසක් දෙව. මුන්ට දෙදහසක් දෙව'යි මෙලෙසින් වියදම් කරන සිටුපුත් නොබෝ කලකින් ම තමන් සන්තක අසූ කෙළක් වස්තුව අසත්පථයේ දී නිමවා ඉක්බිත්තෙන් සිටු දුවණියන් සන්තක අසූ කෙළක් වස්තුවත් උන් කිව නො කිව ගෙන්වා ගෙන එයිත් එලෙසින් ම දී නිමවා ජීවත් වන උපදෙස් නැති හෙයින් කෙත් වත් අරම් ආදිය ද, බත් කන රිදී වළන් ආදිය ද, යටත් පිරිසෙයින් හැඳ-කළාල්-කොට්ට-මාවුලා ආදිය දැ'යි තමන් දෙපක්ෂය සන්තක සියල්ලක් ම විකොට කැවු ය. ඒ හැම විකොට කා නිමවාලා මාලු අවස්ථාවෙහි දී හිඳිනා ගෙයත් වික්කහ. ගෙය විකිණීව හැරගත්තවුන් ගෙයිත් හින්ද

නො දී නෙරි හෙයින් ඇඹේණියන් කැඳවා ගෙන අනුන්ගේ බිතක්කනකට පලා ගොසින් රඳා හිඳිනාහු කබල් කෙටි හැර ගෙන සිඟා ඇවිද බොහෝ දෙනා කා අන්තයේ ලූ බත් කන්ට පටන් ගත්හ. තමන් කොට පූ පරිත්‍යාග ලෙසට ම නිකෘෂ්ට ජීවිකා වි ය.

එක් දවසක් වහන්දෑ වළඳන තැනට ගොසින් වළඳා අන්තයෙහි බාල වහන්දෑ පාත්‍රවලින් ගෙනවුත් ලන බත් නොමැළිව ලවා ගන්නවුන් දැක පුරා දී ලූ නියාවට ලබන සැටිය ඉතා ලඝු හෙයින් පහළ කරන සිනාවක් මෙන් බුදුහු සිනා පහළ කළ සේක. අනඳ මහතෙරුන් වහන්සේ සිනා පහළ කිරීමට කාරණ විචාළ සේක. බුදුහුත් සිනා පහළ කිරීමට කාරණ වදාරන සේක් අනඳයෙනි, මහධන සිටාණන්ගේ පුතණුවන් දුටුවා ද? තුලූ මෙම නුවර දී තමන් සන්තක අසූ කෙළක් හා සිටු දුවණියන් සන්තක අසූ කෙළක් හා මෙලෝ පරලෝ දෙකින් ම කිසිත් ම ප්‍රයෝජනයක් නැති අකාරිය නිසා වියදම් කොට නසා පියා දැන් සිඟා කා ඇවිදිති. ඉදින් මූ තුමූ පළමු වයස දී වස්තුව නො නසා කෘෂි වණික් ආදි කටයුත්තෙක යෙදූ නම් මෙම නුවර නායක සිටු තනතුරු ලැබෙති. ඉදින් පළමු වයස දී ලොවී සැපත් හැර මහණ වූ නම් රහත්ව ලොවුතුරා සැපත් පුරා ලද්දෝ ය. සිටු දුවණියෝත් නායක සිටු දූ තරමටත් අනාගාමි ඵලයටත් පැමිණෙති.

ඉදින් මේ සිටු පුත් මධ්‍යම වයස දී සම්පත ප්‍රයෝජන වන ලෙස යෙදූ නම් මෙම නුවර දෙවන සිටු තනතුරු ලැබෙති. මධ්‍යම වයස දී මහණ වූ නම් අනාගාමි වෙති. සිටු දුවණියෝ ද දෙවන සිටු තනතුරට  හා සෙදැගැමි ඵලයට පැමිණෙති. ඉදින් කෙළවර වයස දී වස්තුව ප්‍රයෝජනවත් ලෙස යෙදූ නම් තුන් වන සිටු තනතුර ලැබෙති. ගිහි ගෙන් නික් ම මහණ වූ නම් සෙදැගැමි වෙති. සිටු දුවණියෝත් තුන්වන සිටු දූ තරමටත් සෝවාන් ඵලයටත් පැමිණෙති. තුන් අවස්ථාව ම වරදවා පී හෙයින් ගිහි සම්පතිනුත් පිරිහුණාහු ය. ශ්‍රාමණ්‍ය ඵලයෙනුත් පිරිහුණාහු ය'යි වදාරා බණ වදාරන සේක් 'නූපන් භෝග උපදවා ගන්ටත් උපන් භෝග රැක ගන්ටත් සමර්ථ අවස්ථාවෙහි තමාගේ ම නොදැන්ම නිසා වස්තුන් නො ලදින් නිෂ්ප්‍රයෝජන වන වස්තුව හැර ගොසින් ශාසනිකව ශීල සංරක්ෂණයත් නො කොට පැන් සිඳීමෙන් කුඩ මස්සන් නැති විල්වල පියාපත් වගුළ කොස්වා ලිහිණියන් මෙන් සිතිවිලි ගනිති. විල පැන් නැත්තා සේ ම හිඳිනා තැනුත් නැත. කුඩ මස්සන් නැත්තා මෙන් සම්පතුත් නැති වෙයි. පියා පත් වගුළ කොස්වා ලිහිණියන්ගේ අහස ගමනක් නැත්තා මෙන් කෘෂි වණික් ආදි සම්භව වන වස්තුත් නැති වෙයි.

තව ද යම් කෙනෙක් ගිහිව සම්පතින් ප්‍රයෝජන විඳිනට නිසිව සිට සම්පත් ලබන්ට නිරවද්‍ය වූ උත්සාහ නො කෙරෙත් නම් ලද සැපත් හැර සසුන් වැද මහණ දම් කොට මහණ දමින් ලැබිබ යුත්ත නො ලැබෙත් නම් 'පෙර සුව සේ කැම්හ. පූම්හ. සම්පත් වුනුම්හ' යනාදිය සිත සිතා හිඳිත් නම් විද පූ හී දඬු අවුළන්නන් නැතිව දිරන්නා සේ තුන් වයස ම කළ මනා දෙය නො කොට ඉක්මවා පූ නම් මරණින් මැකෙති. උන් ලද අත් බැව් නිෂ්ඵල ය'යි වදාළ සේක. දේශනා කෙළවර බොහෝ දෙන සෝවාන් - සෙදගැමි - අනගැමි - රහත් වූහ.

එ හෙයින් නුවණැත්තවුන් විසින් පළමු වයස වරදවා පී වත් මධ්‍යම වයස දී හෝ මධ්‍යම වයසත් වැරැද්දේ නම් කෙළවර වයස දී හෝ පිහිටන තමාට කට යුතු ය. ගිහිව පිහිටක් කට නො හැකි වී නම් ශාසනිකවත් ලද මනා ගුණ විශේෂ ලබන්ට උත්සාහ කටයුතු.



# ස්වභාවෝක්ති හා අතිශයෝක්ති

## ස්වභාවෝක්ති

යමක් ඇති සැටියෙන් දැක්වීම ස්වභාවෝක්තිය යි.

පහන් වූ කල්හි මද්‍රි දේවි මළුව හැමඳැ දැහැටි පැන් තබා පන්සල් හැමඳැ මල් පුදා දරුවන් දෙදෙනා කැඳවා මුහුණ තබා සිඹැ පියා 'දරුවෙනි, මා රෑ දුටු ස්වප්නය නපුරැ. තල බිජුවක් සා යහපතෙක් නැත. තොප පියාණන් ඇලයෙන් බැහැරව නො යව. කෙළනා තැන බියපත් වව'යි දරුවන්ට ඔවා දී..."

**බුත්සරණ (වෙස්සන්තර ජාතකය)**

වන විල් වැදැ බොල් සෙවලැ'ගැ තවරා
ගන වල් කැල ඇර ගෙන අති නුදුරා
දිගු උල් සිඟු යොමු කැරැ කර අඹරා
පිළිමල් වන මීවුන් දකු නුදුරා

**ගිරා සන්දේශය**

සිය දරු දෙදෙනාට කරදරයක් වෙතැයි බිය පත් වන මවකගේ ස්වභාවයත් වනගත මී ගවයන්ගේ චණ්ඩ ස්වභාවයත් පවත්නා ආකාරයෙන් ම ඉහත උද්ධෘත මගින් දැක්වෙයි.

# අතිශයෝක්ති

ඇති තතු ඉක්මවා දැක්වීම අතිශයෝක්තිය යි.

"එකෙණෙහි මුහුදු දිය කඳ දවා ගෙන වඩවා මුඛයෙන් පිටත් වැ ගිය අවීචියෙහි ගිනි කඳක් සේ රළු මතැත් තෙම සොඬ හකුළුවා මහ පොළොව යදඬෙකින් ගැසූ ඝණ්ටාවක් සේ අනුරාව දෙවමින් ගිගුරු හඬින් මුළු නුවර අසනිපාතයක් සේ තතුණුවමින්..."

**බුත්සරණ (නාලාගිරි දමනය)**

මෙනිරිඳු විකුමෙන් සිතුවොත් වැරසැර
මහමෙර තුඹසෙකි කිඳලෙකි සමුදුර
සියදොර වැලි මළුවෙකි දඹදිව තර
සෙසුරජ නර පණුවන් කිම බැඳ වෙර

**පැරකුම්බා සිරිත**

ඇත්හලින් මුදා හළ නාලාගිරි ඇතු වියරුවෙන් දිව එන ආකාරයත් පැරකුම්බා රජුගේ වික්‍රමවත් ස්වභාවයත් ඉහත උද්ධෘත මගින් පවත්නා තත්ත්වය ඉක්මවා වර්ණනා කොට ඇත.

**අරුත් පැහැදිලි කිරීම**

| | |
|---|---|
| සෙස්ස හැයි දැයි | - අනික් දේ කුමකට දැයි |
| නිල කළහ | - නියම කළහ |
| කෙළක් | - කෝටියක් |
| රා සොඬහු | - රා බීමෙහි ලොල් වූවෝ/බේබද්දෝ |
| එකුරුැත්තේ | - ඔඩොක්කුවේ |
| මුල පලා | - රාබු |
| ඬැ ඬැ | - අල්ලා ගනිමින් |
| පිය යුත්තෙක් | - බීමට සුදුසු දෙයක් |
| ධූර්තයෝ | - (මත් පැන්) ලෝලීහු |

| | |
|---|---|
| සුවඳ සාන්දු | - සුවඳ සඳුන් |
| අසත්පථයේ | - අයහපත්/වැරදි මාර්ගයෙහි |
| හැඳ කළාල් | - ඇඳ ඇතිරිලි |
| කොට්ට මාවුලා | - කොට්ට මෙට්ට |
| විකොට | - විකුණා |
| කබල් කෙටි | - (හිඟමන් යෑමේ දී ගෙන යන) වළන් කැබලි |
| බිතක්කනකට | - පිළිකන්නට/අගුවට |
| නිකෘෂ්ට ජීවිකා | - පහත් ජීවිකාවන් |
| ලසු | - කුඩා |
| අකාරිය නිසා | - අකටයුත්ත හේතුවෙන් |
| භෝග | - සම්පත් |
| කෘෂි වණික් | - ගොවිතැන් හා වෙළඳාම් |
| බොල් | - රොඩු |
| සිගු | - අං |
| යදණ්ඩෙකින් | - යකඩ දණ්ඩකින් |
| අසනිපාතයක් | - හෙණ ගැසීමක් |
| කිඳලෙකි | - කුඩා දිය වළකි |

## අවබෝධය

1. සිටු පුත්‍රයාට හා සිටු දියණියන්ට ගී නැටුම් පමණක් ඉගැන්වීමට දෙමාපියන් සිතුවේ කුමක් නිසා ද?
2. සිටු පුත්‍රයා සුරාවට ඇබ්බැහි කිරීමට සුරා සොඬුන් යෙදූ උපක්‍රමය කුමක් ද?
3. සිටු පුත්‍රයා සන්තක සියලු ධනය වියදම් වූ අයුරු දක්වන්න.
4. පළමු, දෙවන හා කෙළවර වයසේ දී බුද්ධිමත්ව ක්‍රියා කළේ නම් ඔවුන් ලබන ගිහි හා පැවිදි සුවය පිළිවෙළින් දක්වන්න.
5. පහත සඳහන් වචන සඳහා සමානාර්ථවත් පද පාඩමෙන් උපුටා දක්වන්න.

| | | | |
|---|---|---|---|
| i. | විශාල - | ii. | හුරු වූහ - |
| iii. | වැරදි මාර්ගයේ- | iv. | අවසන් කොට - |
| v. | අයිති- | vi. | පහත් - |
| vii. | කුඩා - | viii. | නොකටයුත්ත - |
| ix. | සකෘදාගාමි - | x. | අනාගාමි - |



# අකාරාදි පිළිවෙළ හා ශබ්දකෝෂ භාවිතය

ඕනෑ ම භාෂාවක පදනම අක්ෂර මාලාව යි. එහි මුල සිට අග දක්වා අනුපිළිවෙළක් ඇත. සිංහල අක්ෂර මාලාවේ මුල් අකුර (අ) වේ. අවසාන අක්ෂරය (ෆ) වේ. ඒ අනුව (අ) යන්නේ සිට (ෆ) යන්න දක්වා අක්ෂර ස්ථාන ගත වී ඇති අනුපිළිවෙළ හැඳින්වෙන්නේ අකාරාදි පිළිවෙළ නමිනි. අකාරාදි පිළිවෙළ ප්‍රායෝගිකව භාවිත වන අවස්ථා බොහෝ ය.

- ශබ්දකෝෂවල හා විශ්වකෝෂවල වචන පෙළ ගැස්වීම
- පුස්තකාලයවල ග්‍රන්ථ නාමාවලි සැකසීම
- දූරකථන නාමාවලි සකස් කිරීම
- ඡන්ද ලැයිස්තු නාමාවලි සකස් කිරීම
- ප්‍රශ්න පත්‍රවල අනුකොටස් දැක්වීම
- විවිධ ලේඛනවල සංඛ්‍යා නියෝජනය වන සේ අකුරු යෙදීම

වචන සමූහයක අකාරාදි පිළිවෙළ තේරීමේ දී හෝ වචන පෙළ ගැස්වීමේ දී කළ යුත්තේ එම වචන සමූහය සිංහල හෝඩියේ අනුපිළිවෙළට ගොනු කොට දැක්වීම යි.

පහත දැක්වෙන නම් කිහිපය දෙස බලන්න.

කසුන්, උපේක්ෂා, අමීනා, ගයාන්, සමීර, ඉරේෂා, ඇන්, රමේෂ්, චමුදි, මදුසර

මේ නම් ඇත්තේ අපිළිවෙළට ය. අකාරාදි පිළිවෙළ අනුව සකස් කළ විට නිවැරදි අනුපිළිවෙළ මෙසේ ය.

| | |
|---|---|
| 1. අමීනා | 6. ගයාන් |
| 2. ඇන් | 7. චමුදි |
| 3. ඉරේෂා | 8. මදුසර |
| 4. උපේක්ෂා | 9. රමේෂ් |
| 5. කසුන් | 10. සමීර |

වචනවල මුල්'කුර සමාන නම් ඒවායෙහි යෙදී ඇති පිලි අනුපිළිවෙළ ද, යෙදී ඇති පිලි ද සමාන නම් ඊළඟ අකුර ද වශයෙන් සැලකිය යුතු ය.

**කරුඹුන්.** දෙබල් වූ. Furcate.

**කරු මුල.** (උද්) කඳ කෙළින් තබා ගැනීමට සහාය වෙමින් කඳෙන් සෑදුණු මුලක්. Prop root.

**කරූ.** (භූ) රට තුළ තිබෙන සානුවක්: දකුණු අප්‍රිකාවේ තිබෙන පා'මීය හා ත්‍රියාසික ස්තර. Karoo.

**කරෝටික.** (සත්ත්ව) ශීර්ෂපෝෂී: ස්වාපක. Carotid.

**කර්කටක නිවර්තනය.** (නක්) 23½°ක් වූ උත්තර අක්ෂාංශය: මධ්‍යාහ්නයේ දී ඉර හරියට ම හිස මුදුනේ යැ යි පෙනෙන උතුරුතම රේඛාව. Tropic of cancer.

**කර්ණකෝෂ්ඨකය.** (සත්ත්ව) තුලාකෝෂ්ඨය: පෘෂ්ඨවංශීන් ගේ ඇතුළු කනේ කොටසක්: නොයෙකුත් ජලජ අපෘෂ්ඨවංශීන් ගේ සංවේදී කෙඳි ඇතුරුණු ද්‍රවයක් පිරුණු, චූර්ණමය ගල් කැටයක් තිබෙන කෝෂයක්. Otocyst.

**කර්ණපටහය.** (සත්ත්ව) පටහය: පෘෂ්ඨවංශීන් ගේ මැද කනේ තිබෙන කම්පනය වන සිව්ය: කන් බෙරය. Tympanum. කන බ.

**කර්ණමූල ග්‍රන්ථිය.** (සත්ත්ව) පැරොටිඩ ග්‍රන්ථිය:පරාශ්‍රෝත ග්‍රන්ථිය. Parotid gland.

**කර්ණය.** (ගණිත) සෘජු කෝණික ත්‍රිකෝණයක සෘජු කෝණය ඉදිරිපිට තිබෙන පාදය. Hypotenuse. (සත්ත්ව) කන. Ear.




1. කර්ණය

**කර්ණශංඛය.** (සත්ත්ව) රේචටය: යාන්ත්‍ර තරංග ස්නායු ආවේග බවට පරිවර්තනය කරන මැද කනේ තිබෙන දහර අවයවය. Cochlea. කන බ.

**කර්ණ ස්තම්භිකාව.** (සත්ත්ව) කර්ණ පටහය ඇතුළු කනට සම්බන්ධ කරමින්, ධ්වනිය සම්ප්‍රේෂණය කරන ඇට හෝ කාටිලේජ හෝ දණ්ඩ. Columella auris.

**කර්ණාකාර.** (උද්) සකර්ණික බ. Auricular.

**කර්ණාලින්දය.** (සත්ත්ව) ඇතුළු කන් කුහරය. Vestibule.

**කර්ණාශ්මය.** (සත්ත්ව) කර්ණකෝෂ්ඨකයේ තිබෙන චූර්ණමය ගල් කැටය. Otolith.

**කර්ණික.** කන් පෙත්ත වැනි. Auricular.

**කර්ණිකාව.** (උද්) පත්‍රයක හෝ අනෙක් අවයවයක හෝ පාදයෙහි තිබෙන කනක් වැනි අවයවය. (සත්ත්ව) හෘත්අලින්දය: හෘදයේ කාමරයක්. Auricle.

**කර්තනාංගය.** (සත්ත්ව) මකුළුවා දැල කටින සිදුරු කීපයක් සහිත අවයවයක්. Spinneret.

**කර්තරී.** කතිරයක් වැනි. Cruciate.

**කර්තෘ භාගය.** (ආර්) පුරස්කාරය: ප්‍රකාශකයා කර්තෘට කරන ගෙවීම. Royalty.

**කර්නිග් ලක්ෂණ.** (වෛ) මස්තිෂ්ක පටල ප්‍රදාහයේ ලක්ෂණයක්: කළව ශරීරයට සෘජු කෝණික වන සේ උඩුබැලියෙන් දිගා වූ විට දණ දිගහරින්නට බැරිකම. Kernig's sign.

**කර්පන්ටැයින්.** (කෘෂි) ටර්පන්ටැයින්. Terpentine.

**කර්පරය.** (සත්ත්ව) හිස බ. Cephalus.

**කර්පරික.** (වෛ) හිසෙහි තිබෙන: හිස පිළිබඳ වූ. Cephalic.

**කර්පූර.** (රසා) කපුරු බ. Camphor.

**කර්මාන්තය.** (ආර්) ශිල්පය: නිෂ්පාදනය. Industry.

**කර්ෂණය.** (භෞ) ප්‍රකර්ෂණය: ඇදගෙන යෑම. ඇදගෙන යෑම පිටුපස තිබෙන ගාමක බලය: Traction.

**කලංකය.** (උද්) පරාග ප්‍රරෝහණය වීම පිණිස කීලයේ අග තිබෙන මහත් වූ කොටස. Stigma. (වෛ) තුවාලයක් සුව වූ පසු තිබෙන කැලල: අවයවයක් කලින් හා වී තිබුණු තැන ඇති ලපය. Cicatrix.

**කලකන්දය.** (උද්) අලවිය: අලයක් වැනි කඳක්: කෙටි, මහත, සිරස් අතට තිබෙන රෛසෝමයක්. Root stock.

**කලත්‍රයා.** ස්වාමිපුරුෂයා හෝ භාර්යාව. Spouse.

**කලනය.** (ගණිත) විචල්‍ය රාශි හා ඒවායේ වෙනස් වීමේ සීඝ්‍රතා පිළිබඳ වූ ගණිත ක්‍රමයක්. Calculus. අවකලනයත් අනුකලනයත් බ.

**කලන්ද.** (සත්ත්ව) කුඩා මුහුදු මාළුවෙක්. Whiting.

**කලපාසය.** (භෞ) කැලිපරය බ. Callipers.

**කලපුව.** (භූ) පටු බිම් තීරයක් නිසා සම්පූර්ණයෙන් ම හෝ අඩ වශයෙන් හෝ මුහුදින් වෙන් වූ නොගැඹුරු ජලාශය. Lagoon.

**කලබ.** කලාපය: කැදම්බය: පොකුර. Bundle.

**කලබලය.** (නීති) අවුල: කැරැල්ල. Commotion

**කලම.** (සත්ත්ව) පිහාටුවක නාරටියේ අවිදුර කුහර කොටස. Calamus.

**කලම්ප මිශ.** (උද්) ඇතැම් දිලීර සූත්‍රිකාවල ආවාරයේ දෙ පැත්ත සම්බන්ධ කෙරෙමින් පවතින, ආපස්සට නැමුණු, කෙටි, සූත්‍රිකාවක්. Clamp connection.

**කලම්පය.** උපකරණ කොටස් එකට අල්ලා

## ලිඛිත අභ්‍යාස

1. **පාඩමේ දැක්වෙන ශබ්දකෝෂ පිටුවේ එන පහත දැක්වෙන වචන අනුපිළිවෙළට සකස් කරන්න.**

   කලබ, කලත්‍රයා, කර්ණය, කර්මාන්තය, කලනය, කර්තෘභාගය, කලපුව, කර්ණිකාව

2. **පහත දැක්වෙන ග්‍රන්ථ නාම අකාරාදි පිළිවෙළට සකසන්න.**

   බුත්සරණ, පූජාවලිය, අමාවතුර, සද්ධර්මරත්නාවලිය

## ප්‍රායෝගික අභ්‍යාස

1. **අමාවතුර, බුත්සරණ, සද්ධර්මරත්නාවලිය ආදි විවිධ ශෛලියෙන් රචිත පොත්වලින් කොටස් කිහිපයක් තෝරා ගෙන කියවීමේ තරගයක් පවත්වන්න.**

2. **අතිශයෝක්තියට හා ස්වභාවෝක්තියට නිදසුන් කළ හැකි සාහිත්‍ය නිර්මාණ උද්ධෘත දෙක බැගින් තෝරා ගෙන බිත්ති පුවත්පතේ පළ කරන්න.**

3. **ඔබගේ පන්තියේ සිසු/සිසුවියන්ගේ නම් ලැයිස්තුව අකාරාදි අනුපිළිවෙළට ලියූ පසු මුලට හා අගට යෙදෙන නම් මොනවා දැයි බලන්න.**



# 9 ප්‍රායෝගික ලේඛන

ප්‍රායෝගික ලේඛන ජීවිතයේ විවිධ අවශ්‍යතා සඳහා ප්‍රයෝජනවත් වේ. ඒවා අතරට ආරාධනා පත්‍ර, සුබ පැතුම්, පණිවිඩ, ලිපි, දැන්වීම්, වාර්තා, අත්පත්‍රිකා, න්‍යාය පත්‍ර ආදිය ඇතුළත් වේ.

නව තාක්ෂණික ක්‍රමවේදයන්හි දියුණුවත් සමග අප භාවිත කරන ප්‍රායෝගික ලේඛන විෂයයෙහි ද යම් යම් වෙනස්කම් දක්නා ලැබේ. එක් එක් ලේඛනයට අදාළ වන සම්මත ආකෘති අනුගමනය කිරීමත් අක්ෂර වින්‍යාසය නිවැරදි වීමත් විරාම ලක්ෂණ නිවැරදිව භාවිත කිරීමත් නිවැරදි ලේඛන ව්‍යවහාරය අනුගමනය කිරීමත් ප්‍රායෝගික ලේඛනවල අදහස නිරවුල්ව ප්‍රකාශ වීමට හේතු වේ. ව්‍යාපාරික ලිපි, ආරාධනා පත්‍ර හා ආකෘති පත්‍ර සම්පූර්ණ කිරීම කෙරෙහි ඔබේ අවධානය මේ පාඩමේ දී යොමු කෙරෙයි.



# ව්‍යාපාරික ලිපි

පාසල් ජීවිතයේ දී ලිපි හෙවත් ලියුම් ලිවීමට ලබන හුරුව පාසලින් බැහැර සමාජයේ දී ද බෙහෙවින් අවශ්‍ය වන ප්‍රායෝගික ක්‍රියාකාරකමකි. යම් තොරතුරක් දැන ගැනීම හෝ යම් තොරතුරක් දැන්වීම ලිපි ලිවීමේ අරමුණ ය. ලිපි ක්‍රමානුකූලව හා පැහැදිලිව ඉදිරිපත් කළ යුතු අතර, ලැබෙන ලිපිවලට ඉක්මනින් පිළිතුරු ලිවීම ද උසස් ගුණාංගයක් වෙයි.

විවිධ ව්‍යාපාරික අවශ්‍යතා වෙනුවෙන් හුවමාරු වන ලිපි ව්‍යාපාරික ලිපි ය. ව්‍යාපාරික ලිපියක ආකෘතිය රාජකාරි ලිපි ආකෘතියට බෙහෙවින් සමාන ය. වර්තමානය වන විට මහජනතාවට භාණ්ඩ හා සේවා සපයන ආයතන රැසක් ඇත. එම ආයතන සමග ලිපි ගනුදෙනු කිරීමේ දී තම අරමුණු කාර්යක්ෂමව ඉටු කර ගැනීම සඳහා පහත දැක්වෙන කරුණු පිළිබඳ සැලකිලිමත් වීම අවශ්‍ය වේ.



**ව්‍යාපාරික ලිපි ලිවීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු.**

1. ලියුමේ අන්තර්ගතය නිරූපණය වන සේ මාතෘකාව යොදන්න.
2. කිව යුතු දේ ක්‍රමානුකූලව පෙළ ගස්වන්න.
3. කරුණු දැක්වීමේ දී එක් කරුණක් සඳහා එක් ඡේදයක් බැගින් යොදා ගන්න.
4. ආරම්භක ඡේදයට පසුව කරුණු කිහිපයක් තිබේ නම් 1, 2 ආදි වශයෙන් අංකනය කොට දක්වන්න
5. කෙටි හා සරල වාක්‍ය යොදා ගන්න.
6. සංක්ෂිප්තව අදහස් දක්වන්න.
7. ලිපියේ දෙපස තීරු ඉඩ තැබෙන සේ කඩදාසිය භාවිත කරන්න.

8. ලිපිය ලිවීමේ දී ආචාරශීලීභාවය පිළිබඳ සැලකිලිමත් වන්න.

9. ලිපියේ විරාම ලක්ෂණ භාවිතය, අක්ෂර වින්‍යාසය, පද බෙදීම ආදි ශිල්පීය ක්‍රම පිළිබඳ අවධානය යොමු කරන්න.

10. උක්ත අනුක්ත භේදය ආදි වියරණ රීති පිළිපදින්න.

ව්‍යාපාරික ලිපියක ආකෘතිය, රාජකාරි ලිපි ආකෘතියට බෙහෙවින් සමීප ය. එම ආකෘතික ලක්ෂණ මෙසේ පෙළ ගැස්විය හැකි යː

1. යවන්නාගේ ලිපිනය
2. දිනය
3. ලබන්නාගේ ලිපිනය
4. ආමන්ත්‍රණය
5. මාතෘකාව
6. අන්තර්ගතය
7. ස්තුතිය
8. යවන්නාගේ අත්සන
   නම

ව්‍යාපාරික ලිපි ලිවීමේ නවීනතම ආකෘතියට අනුව ඉහත දක්වා ඇති එක් එක් ආකෘතිකාංගයට අදාළ කරුණු ලිපියේ වම් පස තීරුවේ පිළිවෙළින් එකක් යට එකක් වශයෙන් දක්වනු ලබේ.

පහත දැක්වෙන ව්‍යාපාරික ලිපිය ඇසුරෙන් එම ආකෘතික ලක්ෂණ හඳුනා ගන්න.

විදුහල්පති,
සුරිඳුගම මහා විද්‍යාලය,
සුරිඳුගම.
2020.02.10

කළමනාකරු,
සහන බැංකුව,
සුරිඳුගම ශාඛාව.

මහත්මයාණෙනි,

**පාසල තුළ බැංකු ශාඛාවක් පිහිටුවා ගැනීම**

අප පාසලේ දරුවන්ගේ ඉතිරි කිරීමේ පුරුද්ද වර්ධනය කිරීම සඳහා සහන බැංකු ශාඛාවක් විදුහල් භූමියේ පිහිටුවිය යුතු බවට විද්‍යාලයීය වාණිජ විද්‍යා සංගමයේ ද පාසල් සංවර්ධන සමිතියේ ද එකඟතාව පළ විය.

එම නිසා බැංකු ශාඛාව පවත්වා ගෙන යාම සඳහා අවශ්‍ය ඉඩ පහසුකම් හා එය ක්‍රියාත්මක කෙරෙන ආකාරය අප වෙත දන්වා එවන මෙන් කාරුණිකව ඉල්ලා සිටිමි.

ස්තුතියි.

..................................

ඩබ්. පී. ගුණසේකර

විදුහල්පති



# ආරාධනා පත්‍ර

යම් යම් කරුණු අරබයා අන්‍යයන් වෙත ඇරයුම් කිරීම සඳහා ආරාධනා පත්‍ර භාවිත වේ. පවුලේ කටයුතු, ආයතනික කටයුතු, සමාජීය කටයුතු, පුද්ගල හා සංවිධාන කටයුතු සඳහා සමාජයේ හුවමාරු වන ආරාධනා පත්‍ර කොතෙකුත් ඇත.

ක්‍රීඩා උත්සව, ත්‍යාග හා සහතික ප්‍රදානෝත්සව, මංගල උත්සව, ආගමික උත්සව, ගෙවැදීමේ උත්සව, විවෘත කිරීමේ උත්සව, පොත් දොරට වැඩීමේ උත්සව, සමරු උත්සව, අවමංගල්‍යෝත්සව ආදිය එබඳු ගෘහමය හා සමාජීය උත්සව අවස්ථා ය.



**ආරාධනා පත්‍රයක් සකස් කිරීමේ දී**

1. එහි අරමුණ
2. පැවැත්වෙන දිනය හා වේලාව
3. පැවැත්වෙන ස්ථානය

පැහැදිලිව ඇතුළත් විය යුතු වෙයි. එමෙන් ම ඇරයුම කරන්නාගේ නම හා ලිපි යොමුව සමග ආරාධනය කරන දිනය ද ආරාධනා පත්‍රයක සඳහන් කිරීම අවශ්‍ය වේ. ආරාධනය සඳහා වන අවස්ථාවට ආරාධිත අමුත්තකු හෝ අමුත්තන් සම්බන්ධ වේ නම් ඔවුන්ගේ නම් ද මංගල්‍ය උත්සවයක් නම් නැකැත් සිරිත් පිළිබඳ වේලාවන් ද දැක්විය යුතු ය. ඇතැම් සමරු උත්සව, පොත් දොරට වැඩීමේ උත්සව ආදිය සඳහා වන ආරාධනා පත්‍රවල උත්සවයේ වැඩසටහන අන්තර්ගත න්‍යාය පත්‍රය ද ඇතුළත්ව තිබෙනු දැකිය හැකි ය.

දිනෙන් දින වේගයෙන් දියුණු වන මුද්‍රණ හා පරිගණක ශිල්පීය ක්‍රම භාවිතයෙන් සිත් ගන්නා ලෙස සැකසුණු විවිධාකාර ආරාධනා පත්‍ර සමාජයේ දැකිය හැකි ය. විවිධ හැඩතල උපයෝගී කර ගත්ත ද අනවශ්‍ය කරුණු බැහැර කොට අවශ්‍ය කරුණු ඉස්මතු වන සේ ආරාධනා පත්‍රයක් නිවැරදිව, පැහැදිලිව හා සංක්ෂිප්තව සකස් විය යුතු ය.

# අමරදේව ගුණ සමරුව



**විශේෂ දේශනය**
මහාචාර්ය සුනිල් ආරියරත්න

**සමරු ගායනා**
විශාරද එඩ්වඩ් ජයකොඩි ඇතුළු පිරිස

**සංවිධානය**
අමරදේව සහෘද කලා සංසදය

# ආරාධනා

ශ්‍රී ලාංකේය සංගීත ක්ෂේත්‍රයට
මහගු මෙහෙයක් ඉටු කළ,
හෙළයේ මහා ගාන්ධර්වයා නමින්
අබිසෙස් ලද
**පණ්ඩිත් ඩබ්ලිව්. ඩී. අමරදේවයන්ගේ**
ගුණ සමරු උලෙළ

සංස්කෘතික අමාත්‍යතුමාගේ
ප්‍රධානත්වයෙන් හා
කලාකරුවන්ගේ සහභාගිත්වයෙන්

**2021 දෙසැම්බර් මස 06 දින**

**ප.ව. 2.00ට**

**බණ්ඩාරනායක ජාත්‍යන්තර සම්මන්ත්‍රණ**
ශාලාවේ දී පැවැත්වේ.
ඒ අවස්ථාවට සහභාගි වන ලෙස ඔබට
ගෞරවයෙන් ආරාධනා කරමු.

අමරදේව සහෘද කලා සංසදය
කොළඹ
2021.11.20



# ආකෘති පත්‍ර

ජීවිතයේ විවිධ අවස්ථාවල නොයෙක් අවශ්‍යතා සඳහා ආකෘති පත්‍ර පිරවීමට සිදු වෙයි. ආකෘති පත්‍ර නිවැරදිව සම්පූර්ණ නොකිරීම ඒවා ප්‍රතික්ෂේප වීමට හේතු වෙයි. එයින් ඉල්ලුම් කරන්නාට තම අරමුණු ඉටු නොවීමෙන් විවිධ අපහසුතාවන්ට මුහුණ දීමට සිදු වෙයි. ආකෘති පත්‍රයක් සම්පූර්ණ කිරීමේ දී පහත දැක්වෙන කරුණු කෙරෙහි අවධානය යොමු කළ යුතු ය.

ආකෘති පත්‍රය සම්පූර්ණ කිරීම සඳහා දී ඇති උපදෙස් හා ආකෘති පත්‍රයෙහි සඳහන් කරුණු හොඳින් කියවා තේරුම් ගන්න.

ආකෘති පත්‍රයේ දක්වා ඇති උපදෙස් පරිදි නම ලියන්න.

- සම්පූර්ණ නමː- (උප්පැන්න සහතිකයේ සඳහන් සම්පූර්ණ නම)
- මුලකුරු සමග නමː- (මුල් අකුරු සහිතව නම)
- මුලකුරුවලින් කියැවෙන නමː- (මුල් අකුරුවලින් හැඟවෙන කොටස්)

අදාළ තැන්හි ලිපිනය සඳහන් කරන්න.

සඳහන් කළ යුතු කරුණු සංක්ෂිප්තව දක්වන්න.

සත්‍ය හා නිවැරදි තොරතුරු පමණක් ඇතුළත් කරන්න.

හුරුපුරුදු අත්සන ද දිනය ද අදාළ තැන යොදන්න.

කාර්යාලයීය ප්‍රයෝජනය සඳහා ඇති තැන් සම්පූර්ණ කිරීමෙන් වළකින්න.

බොහෝ ආකෘති පත්‍ර සකස් වී ඇත්තේ එක් එක් කරුණට අදාළ තොරතුරු ලියා දැක්වීමට හිස් තීරු යෙදීමෙනි.

1. සම්පූර්ණ නම :-..........................................................................................................

..................................................................................................................................

2. පෞද්ගලික ලිපිනය:- ..............................................................................................

..................................................................................................................................

3. ජාතික හැඳුනුම්පත් අංකය:- ..................................................................................

4. වයස:-.........................................    උපන් දිනය:- ................................................

නූතන පරිගණක තාක්ෂණය නිසා ඉල්ලුම්පත් තෝරා ගැනීම, තොරතුරු එකලස් කිරීම හා විශ්ලේෂණය කිරීම කාර්යක්ෂම වී තිබේ. ඒ නිසා පරිගණක කාර්යයන්ට අදාළ වන පරිදි ඉල්ලුම්පත්‍රවල ආකෘතියෙහි ද යම් යම් වෙනස්කම් සිදු වී ඇත. එබඳු ආකෘති පත්‍රයක කොටසක් පහත දැක්වේ.

1.සම්පූර්ණ නම

| | | | | | | | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | | | | | | | | | | | | | | |
| | | | | | | | | | | | | | | | | | | | |

2. පෞද්ගලික ලිපිනය:-

| | | | | | | | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | | | | | | | | | | | | | | |
| | | | | | | | | | | | | | | | | | | | |

3. ජාතික හැඳුනුම්පත් අංකය:-

| | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | | | | | | |

4. වයස:-

| | |
|---|---|
| | |

උපන් දිනය:-

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| | | | | | | | |

මෙබඳු ආකෘති සම්පූර්ණ කිරීමේ දී එක කොටුවක එක අකුරක් හෝ අංකයක් හෝ පමණක් යෙදිය යුතු ය.

ඇතැම් විට දෙන ලද උපදෙස් අනුව ආකෘති පත්‍රයක් තමාට ම පිළියෙල කර ගැනීමට සිදු වේ. සඳහන් කළ යුතු කරුණු ක්‍රමානුකූලව ඉදිරිපත් කළ හැකි වන සේ ආකෘති පත්‍රය සකස් කොට ඉල්ලුම්කරු සිය ජීවදත්ත ඇසුරෙන් එය සම්පූර්ණ කළ යුතු ය.

විවිධ පාඨමාලා, රැකියා, විභාග හා තරග ආදිය සඳහා සම්පූර්ණ කළ යුතු විස්තරාත්මක ආකෘති පත්‍ර මෙන් ම එදිනෙදා සමාජ ජීවිතයේ දී අවශ්‍ය වන ආකෘති පත්‍ර ද රැසකි.

පහත දැක්වෙන්නේ බැංකු කටයුතුවල දී ගනුදෙනුකරුවන් විසින් සම්පූර්ණ කළ යුතු ආකෘතියකි.


DEPOSIT SLIP

Account Number

Office Copy

Date

Name of Account Holder

Give the following information only when a deposit of over Rs. 200,000/- is made by a person other than the Account Holder

Name

Address

Telephone No.

NIC/P.P./D.L. No.

Purpose

Cash Depositor's Signature

Valid if Overprinted or Signed by an Officer

| Notes | Rs. | Cts. |
|---|---|---|
| ....... X 5000 | | |
| ....... X 2000 | | |
| ....... X 1000 | | |
| ....... X 500 | | |
| ....... X 200 | | |
| ....... X 100 | | |
| ....... X 50 | | |
| ....... X 20 | | |
| ....... X 10 | | |
| Coins | | |
| Total | | |

DO NOT WRITE ANYTHING BELOW THIS LINE

කාලයක් මුළුල්ලේ අපේ රටේ පැවැති විදුලි පණිවිඩ සේවාව වර්තමානය වන විට අභාවයට ගොසිනි. ඒ වෙනුවට ටෙලිමේල් පණිවිඩ සේවාව පැමිණ තිබේ. පහත දැක්වෙන්නේ ඒ හා සම්බන්ධ ආකෘතියකි.

TM-1

යවන්නා විසින් මුද්දර පසු පිටෙහි ඇලවිය යුතුයි.
அனுப்புபவர் முத்திரைகளை மறுபக்கத்தில் ஒட்டுதல் வேண்டும்.
Stamp to be affixed by the sender overleaf.

පැමිණිල්ලක් කළ යුතුවූ විට මෙම ලදුපත ඉදිරිපත් කරන්න.
முறைப்பாடு செய்யும்போது இப்பற்றுச்சீட்டைச் சமர்ப்பிக்கவும்.
Attach this receipt when making a complaint.

ටෙලිමේල් ලදුපත
டெலிமெயில் பற்றுச்சீட்டு / Receipt for Telemail

| අංකය / இல / No. | දිනය / திகதி / Date | මුදල / தொகை / Amount |
|---|---|---|
| | | රුපියල් / Rs ශත / C |

---

TM-1

දින මුද්‍රාව / திகதி முத்திரை / Date Stamp

**ශ්‍රී ලංකා තැපැල් දෙපාර්තමේන්තුව**
**ටෙලිමේල් පණිවුඩ සේවාව - දේශීය**
இலங்கை அஞ்சல் திணைக்களம்
'டெலிமெயில்' செய்திச் சேவை - உள்நாடு
Department of Posts - Sri Lanka
Telemail Service - Local

අංකය / இல / No.

යවන්නා විසින් පිරවීම සඳහා පමණි / அனுப்புபவரால் நிரப்பப்படுதல் வேண்டும் / To be filled by the sender only.

| යවන්නාගේ නම සහ ලිපිනය / அனுப்புபவரின் பெயரும் விலாசமும் Name and Address of the sender. | ලබන්නාගේ නම සහ ලිපිනය / பெறுபவரின் பெயரும் விலாசமும் / Name and Address of the Recipient |
|---|---|
| | |
| | |
| | |

පණිවුඩය / செய்தி / Message

| |
|---|
| |
| |
| |
| |
| |

| ටෙලිමේල් සේවාව පිළිබඳ පසුපිට උපදෙස් හා කොන්දේසි වලට එකඟ වෙමි. பின்பக்கத்தில் கொடுக்கப்பட்டுள்ள, டெலிமெயில் சேவை தொடர்பான அறிவுரைகளுக்கும், நிபந்தனைகளுக்கும் உடன்படுகிறேன். I agree with the instructions and conditions of the Telemail Service mentioned overleaf.<br>.........................................<br>අත්සන / ஒப்பம் / Signature | බෙදීම සනාථ කිරීමේ තොරතුරු අවශ්‍ය ද? ஒப்படைத்தலை உறுதிப்படுத்த வேண்டுமா? Whether confirmation of Delivery is necessary?<br>☐ ඔව් / ஆம் / Yes ☐ නැත / இல்லை / No |
|---|---|

B. **කාර්යාල ප්‍රයෝජනය සඳහා පමණි** / அலுவலக உபயோகத்திற்கு மாத்திரம் / For office use only.

| වර්ගය / வகை / Category | භාරගත් වේලාව / பாரமெடுத்த நேரம் / Time of Acceptance | ආරම්භක කාර්යාලය / ஆரம்பக் காரியாலயம் / Office of Origin | දිනය / திகதி / Date | සේවා උපදෙස් / சேவை அறிவுறுத்தல் / Service Instructions | වචන ගණන / சொற்கள் / No. of words } ගාස්තුව / கட்டணம் / Charges } |
|---|---|---|---|---|---|
| ටෙලිමේල් / டெலிமெயில் / Telemail | | | | | ස්ථාවර ගාස්තුව / நிரந்தரக் கட்டணம் / Fixed Fee }<br>බෙදීම සනාථ කිරීමේ ගාස්තුව / ஒப்படைத்தலை உறுதிப்படுத்தும் கட்டணம் / Delivery Confirmation Fee }<br>මුළු ගාස්තුව / மொத்தக் கட்டணம் / Total Charges } |

| යැවූ වේලාව / அனுப்பிய நேரம் / Sent at: | | යැවූ කාර්යාලය / அனுப்பிய காரியாலயம் / Sent to: | |
|---|---|---|---|
| දුරකථන අංකය / தொலைபேசி இலக்கம் / Telephone No. | | නිලධාරියාගේ අත්සන / உத்தியோகத்தரின் ஒப்பம் / Signature of the Officer | |

## ප්‍රායෝගික අභ්‍යාස

1. එදිනෙදා ජීවිතයේ දී භාවිත කෙරෙන ප්‍රායෝගික ලේඛන දහයක් ඇතුළත් ලැයිස්තුවක් පිළියෙල කරන්න.
2. ව්‍යාපාරික අවශ්‍යතාවක් මත ලිපියක් ලියන්න.
3. පාසලේ තෑගි බෙදා දීමේ උත්සවය සඳහා ආරාධනා පත්‍රයක් සකස් කරන්න.
4. ආකෘති පත්‍ර සම්පූර්ණ කිරීමේ දී අවධානය යොමු කළ යුතු කරුණු 5ක් ලියන්න.
5. පහත සඳහන් ආකෘති පත්‍රය පිටපත් කර ගෙන ඔබේ තොරතුරු ඇතුළත් කර සම්පූර්ණ කරන්න.



තැපැල් හැඳුනුම්පත් පත්‍රයක් සඳහා ඉල්ලුම් පත්‍රය

APPLICATION FOR A POSTAL IDENTITY CARD

Date : ..............................

Through the Postmaster.............................................

To: the Postmaster-General.

I hereby apply for the issue of a Postal Identity Card to me. I declare that the information furnished by me below is true and correct and that I am not already a holder of a Postal Identity Card. I attach hereto two clear copies of a recent photograph.

1. Name in full ..............................................................
(In block letters)
2. Father's name in full ..............................................................
3. Applicant's profession ..............................................................
4. Permanent residence ..............................................................
5. Nationality .............................. 6. Date of birth ..............................
7. Height .............................. 8. Description of hair ..............................
9. Complexion and special marks

.............................................

.............................................

Signature (I) ..............................

One copy of applicant's photograph (bust only $3\frac{1}{4}" \times 2\frac{1}{4}"$) to be pasted here and autographed in the presence of the Postmaster and two witnesses.

(Note.—The signature here should be partly on the form and partly on the photograph.)

FOR THE USE OF THE P.M.G'S OFFICE

Signature (2)

Note.—The signature should be repeated here.



# 10 නවම් මහේ නව වළල්ල

ඕනෑ ම ජීව භාෂාවක ව්‍යවහාරයේ විවිධත්වයක් දැකිය හැකි ය. ලේඛනය හා භාෂණය ඉන් ප්‍රධාන වේ. ලිවීම සඳහා ලේඛන ව්‍යවහාරයත් කථා කිරීම සඳහා භාෂණ ව්‍යවහාරයත් යොදා ගැනෙයි.

එක් භාෂාවක් කතා කරන සියල්ලන්ගේ ම ව්‍යවහාරය එක සමාන නැත. ජීවත් වන පරිසරයේ භූගෝලීය සාධක අනුව ද ජීවනෝපාය මාර්ග අනුව ද භාෂා ව්‍යවහාරයේ වෙනස්කම් දැකිය හැකි ය. එසේ වෘත්තිය හා බැඳුණු භාෂා ව්‍යවහාර අදාළ අවස්ථාවට සීමා වෙයි. එබැවින් ඒවා පරිමිත ව්‍යවහාර ලෙස හැඳින්වේ. ධීවර භාෂාව, කමත් භාෂාව, පතල් භාෂාව ආදිය එබඳු පරිමිත ව්‍යවහාර වේ. මේ පාඩමේ දැක්වෙන්නේ ධීවර භාෂාවේ හමු වන යෙදුම් කිහිපයකි. ඔරුක්මාන්කුළමේ චන්දන හිමියන්ගේ ‘වෙරළ’ කෘතිය ඇසුරෙන් මේ පාඩම රචනා වී ඇත.

| වාරුව | අම්බාව |
| --- | --- |
| ඕඩි හෙලයි හෙලයියා<br>ඕඩි හෙලයි හෙලයියා | |
| | ඔරුව දියත් කර ගන්නේ<br>දැල් මන්දත් අර ගන්නේ |
| ඕඩි හෙලයි හෙලයියා<br>ඕඩි හෙලයි හෙලයියා | |
| | ඔහෙ ඇදපං යාළු<br>ගොඩ ඇදපං යාළු |
| ඕඩි හෙලයි හෙලයියා<br>ඕඩි හෙලයි හෙලයියා | |
| | මඩිය තදයි යාළු<br>බරටම ඇති මාළු |
| ඕඩි හෙලයි හෙලයියා<br>ඕඩි හෙලයි හෙලයියා | |
| | දැල මැද නැත පාළු<br>ගොඩ ඇදපන් යාළු |

ඕඩි හෙලයි හෙලයියා... කියමින් ධීවරයෝ වෙරළේ සිට දැල් අදිති. ඔවුන්, දැල් අදින විට ගායනා කරන කවි 'අම්බාවන්' වේ. ධීවරයාට දැල 'ජාලය' වෙයි. දැල් අදින්නෝ, ජාලියෝ හෙවත් අම්බාවෝ වෙති.

ධීවරයාට මුහුදු ගොස් ජාලය එළීමට උපකාර වන්නේ ඔරුව යි. ධීවරයා මුහුදු යෑමට උපකාර කර ගන්නා මුහුදු යාත්‍රාව 'ඔරුව' ලෙස හඳුන්වයි. ඔරුවේ ඉදිරිපස කොටස 'ඇණිය' යි. පසුපස කොටස 'අවර' යි. ඔරුවේ පසුපස හබල් දෙක 'අවල' වේ. ඔරුවේ මැද දෙපසේ හබල් 'කස් අවල' යැයි ධීවරයෝ කියති. පාරම්පරික ධීවර යාත්‍රා අතර ජවාධික යාත්‍රාව රුවල් ඔරුව යි. ඈත දියඹේ මසුන් පන්න කිරීමට රුවල් ඔරුව උපයෝගී කොට ගනු ලබයි.

සුළඟ නමැති අකීකරු බලවේගය මෙල්ල කොට ගැනීමේ අගනා තාක්ෂණයක් මසුන් මරන්නා සතු වන බව හෙළි වන්නේ රුවල් ඔරුවලිනි. රුවල් ඔරු සුළං බලයෙන් ගමන් කරයි. දියඹේ දී සුළං මගින් යෑමට උපකාර වන්නේ රුවල යි. රුවල් එසවීම "රුවල උඩු දීම" වේ. තෙරක් නො පෙනෙන ගැඹුරු මුහුදෙහි ඔරුව නතර කරන්නේ නැංගුරම් ලෑමෙනි. නැංගුරම් ලෑමට අතීතයේ භාවිත කොට ඇත්තේ විශාල ගලකි. ගල, ලණුවලින් ගැට ගසා ගැඹුරු දියට දමනු ලබයි. ධීවරයා එයට "ගල් බානවා" හෝ "ගල් කඩනවා" යයි කියයි.

දින ගණනක් ඈත දියඹේ ගත කරන ධීවර වෘත්තිකයාට බලපෑමක් ඇති කරන්නේ කාලගුණය යි. වර්ෂාව, සුළඟ ඔහුගේ ජීවිතයට අනතුරක් ගෙන දෙන්නට හේතු වේ.

එබැවින් ධීවර ගැමියා මුහුදු යෑමේ දී 'ඉයත්තුව' කෙරෙහි සැලකිලිමත් වෙයි. ඉයත්තුව යනු කාලගුණය යි. මුහුදු රළ 'මාරියාව' යි. සාගරයේ චණ්ඩ ස්වරූපයෙන් 'වාරකන්' කාලය එළඹෙයි. වාරකන් කාලයට මාරියාව රළු වෙයි. මුහුදු යන්නෝ වාරකන් කාලයට මුහුදු ගමන් අත්හරිති. එබැවින් ධීවර සාමාජිකයාට එම කාලය ආර්ථික වශයෙන් අවාසි කාලයකි. ධීවරයාගේ සුබ කාලය 'හරාව' යි. මුහුදේ මාරියාව චණ්ඩ නොවන කාලය 'හරාව' කාලය යි. 'හරාව' කාලයට ම 'වළාල' කාලය යැයි ධීවරයා වහරයි.

මුහුද නමැති කෙතෙහි අස්වැන්න නෙළන ධීවරයා වැස්ස වහිනවා නො කියයි. "ගඟුලාව කරුණා කරනවා" යනුවෙන් වහරයි. එමෙන් ම වර්ෂාවට 'කෝඩය' යැයි කියනු ලබයි. වර්ෂාව සමග අහස ගෙරවීම 'හයිය' වේ. ගොඩබිම කරා ඇදී යන මුහුදු රළවල සැඩබව 'ඊරුවා සැර වීම' යි.

සත් සමුදුර පිළිබඳ ජීවන අද්දැකීම් බහුලව ඇත්තේ මුහුදු යන්නාට ය. දියඹ සරන්නා සාගරයේ මුහුදු හතක් දකියි. වෙරළේ සිට සැතපුම් බාගයක් පමණ විහිදී යන මුහුද 'කහ මුහුද' යි. 'කොළ මුහුද' ලෙස ධීවරයා දකින්නේ කහ මුහුදේ සිට සැතපුමක් පමණ දුරට විහිදී යන නොගැඹුරු මුහුද යි. කොළ මුහුදට එපිටින් ඇති මුහුද 'නිල් මුහුද' යි. සුළං ප්‍රභවය වන හෙයින් මෙය 'නලමාලි' මුහුද යනුවෙන් ද හැඳින්වේ. 'රතු මුහුද' 'රත් බොල් දියාත' ලෙස වෙරළාසන්න කට වහරේ කියැවෙයි. මුහුදු ජලතලය මතුපිට මුහුදු පැළෑටි වැවෙන්නේ මේ මුහුදු සීමාව තුළ බැවින් රාත්‍රියේ දී රතු පාටින් දිලිසෙයි. පැහැයෙන් කාල වර්ණ වූ බලයන් බහුලව ගැවසෙන දියඹ කළු පාට හෙයින් ඒ මුහුද 'කළු මුහුද' වේ. එහි ප්ලවාංග බහුල ය. කිරි මුහුදේ හෙවත් සුදු මුහුදේ පන්න කිරීමට යන්නේ දක්ෂ ධීවරයන් ය. තෝරු, මෝරු ආදි ධවල පැහැ වටිනා මත්ස්‍යයන් වසන්නේ කිරි මුහුදෙහි හෙවත් සුදු මුහුදෙහි ය. සඳ එළිය වැටුණ විට කිරි පාටින් බබළන්නේ 'කිරි මුහුද යි'. ඈත පිටිසර ගැමියන් 'හෝගාන පොකුණ' ලෙස හඳුන්වන්නේ රළ බිඳී, හැපෙන අද්දර මුහුදු ප්‍රදේශය යි. අධික නිසලතාවකින් යුතු ගැඹුරු මුහුද 'ගොළු මුහුද' වේ. හිම මිදෙන්නේ ගොළු මුහුදෙහි ය.

සාගරය කලඹන්නේ අන් කිසිවකු නො ව ධීවරයා ය. මුහුදේ සුළං වේගය අඩු වන කාලය නවම් මාසය බව ධීවරයා දනියි. නවම් මාසේ දී මුහුදු රළ නවයක් මුහුදින් මතු වෙයි. ධීවරයා "නවම් මහේ නව වළල්ල" දැක සතුටට පත් වෙයි.

## අවබෝධය

1. ධීවර ප්‍රජාව 'දැල් අදින අවස්ථාවේ' භාවිත කරන කවි වර්ගය කුමක් ද?
2. දැල් අදින්නන් හැඳින්වීමට යෙදෙන වෙනත් නම් මොනවා ද?
3. 'සත් සමුදුර'ට අයත් මුහුදු හත නම් කරන්න.
4. 'වාරකන් කාලය' ධීවරයාට අවාසි කාලයක් වන්නේ ඇයි?

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් ධීවර ජන කවියේ ඇතුළත් ධීවර බසෙහි යෙදෙන වචන තෝරා ලියන්න.**

| | |
|---|---|
| වාරයා වාරකන්මයි | බහින්නේ |
| හරහයා හතුරුකන් මයි | කරන්නේ |
| මාරියා ගෙඩිය පස්සෙන් | හඹන්නේ |
| ලිහිණියා කඩුල්ලෙන් තංගලු | යන්නේ |

2. **පහත සඳහන් පාඨවල අන්තර්ගත ධීවර ව්‍යවහාරයේ යෙදෙන වචන තෝරා එම වචනවල පොදු ව්‍යවහාරය ලියන්න.**

i. දණ ගසා ගත් මහල්ලා ඔරුවේ අවරයට යට සිටි මාළුවා, රුවල් දණ්ඩෙන් ඇන ළඟට ගත්තේ ඔරු පල්ලේ අකුළා දමා තිබුණු යොත් සමග පටලවා නොගැනීමට පරිස්සම් වෙමිනි.

ii. හිටි හැටියේ ම ඉයත්තුව නරක අතට හැරෙන මාසවල වළේ මුහුදට යාමට බිය වීමෙහි ඇත්තක් තියෙන බව මහල්ලා පිළිගත්තේ ය.

iii. ඔරුවේ ඇණියට ගිය මහල්ලා තිමිංගලයා සමග පියාමැස්සන් දෙදෙනා ලෑල්ල උඩ තබා කරට ගෙන සිටි යොත කරේ වෙනත් තැනකට මාරු කොට ඔරු තල්ලට හේත්තු වී වම් අතින් යොත අල්ලා ගත්තේ ය.

**(මහල්ලා සහ මුහුද - පරිවර්තනය - සිරිල් සී. පෙරේරා)**

## ප්‍රායෝගික අභ්‍යාස

i. **පාසලේ ඉතිරි කිරීමේ සිසු ගිණුමක් ආරම්භ කිරීමට බැංකු නිලධාරි මහතකු සමග පාසල් සිසුවකු සිදු කරන සංවාදයක් ගොඩනගන්න.**

ii. **පාසලේ පවත්වන ලද දන්ත සායන කඳවුරේ දී පාසල් සිසුවකු වෛද්‍ය කාර්ය මණ්ඩල නිලධාරියකු සමග සිදු කරන සංවාදයක් ගොඩනගන්න.**



# උක්ත අනුක්ත භේදය

දෙමාපියෝ දරුවන් සමග පාසලට යති.

ඉහත වාක්‍යයේ ‘දෙමාපියෝ’ යන්න කර්තෘ වෙයි. එය “යති” නමැති ආඛ්‍යාතය හා බැඳෙන උක්ත පදය යි. ‘දරුවන්’ යන පදය ක්‍රියාවට යටත් වන කර්ම පදය යි. එය අනුක්ත පදය වේ. මේ අනුව,

**“වාක්‍යයක අවසාන ක්‍රියා පදයෙන් කියැවෙන පදය උක්ත පදය යි. එසේ නො වන්නේ අනුක්ත පදය යි.”**

උක්ත පද, අනුක්ත පද බවට හැරවෙන ආකාරයට නිදසුන් කිහිපයක් පහත දැක්වේ.

## සචේතන නාම පද

| උක්ත පද | අනුක්ත පද |
|---|---|
| මිනිසා | මිනිසා |
| මිනිස්සු | මිනිසුන් |
| ගුරුවරයා | ගුරුවරයා |
| ගුරුවරු | ගුරුවරුන් |
| බල්ලා | බල්ලා |
| බල්ලෝ | බල්ලන් |
| කාන්තාව | කාන්තාව |
| කාන්තාවෝ | කාන්තාවන් |
| කුමාරතුංගයෝ | කුමාරතුංගයන් |
| ගුරුළුගෝමීහු | ගුරුළුගෝමීන් |

## සචේතන අනියමාර්ථ නාම පද

| උක්ත පද | අනුක්ත පද |
|---|---|
| මිනිසෙක් | මිනිසකු/මිනිසෙකු |
| ළමයෙක් | ළමයකු/ළමයෙකු |
| කාන්තාවක් | කාන්තාවක |
| දූරියක් | දූරියක |
| බල්ලෙක් | බල්ලකු/බල්ලෙකු |

## සචේතන සර්ව නාම පදවල පුරුෂ භේදය අනුව උක්තානුක්ත පද

| රූපය | උක්ත පද | අනුක්ත පද |
|---|---|---|
| උත්තම පුරුෂ | මම<br>අපි | මා<br>අප |
| මධ්‍යම පුරුෂ | තෝ<br>ඔබ<br>නුඹ/නුඹලා | තා<br>ඔබ<br>නුඹ/නුඹලා |
| ප්‍රථම පුරුෂ | ඔහු<br>ඔවුහු<br>හේ/හෙතෙම<br>ඕ/ඈ/ඇය | ඔහු<br>ඔවුන්<br>ඔහු<br>ඇය |

## අචේතන නාම පද

| උක්ත පද | අනුක්ත පද |
|---|---|
| ගංගාව | ගංගාව |
| ගංගා | ගංගා |
| රීතිය | රීතිය |
| රීති | රීති |

### අචේතන අනියමාර්ථ නාම පද

| උක්ත පද | අනුක්ත පද |
|---|---|
| ගංගාවක් | ගංගාවක් |
| රීතියක් | රීතියක් |

### සචේතන රූප ගැන්වූ නාම පද

| උක්ත පද | අනුක්ත පද |
|---|---|
| ගංගාවෝ | ගංගාවන් |
| රීතීහු | රීතීන් |
| වාක්‍යයෝ | වාක්‍යයන් |

## ලිඛිත අභ්‍යාස

1. පහත දැක්වෙන වාක්‍යවල හිස්තැන් පිරවීමට යෙදිය හැකි නිවැරදි පදය වරහන් තුළින් තෝරන්න.

   i. මම හොඳින් ඉගෙන ............................ (ගනිමි/ගත්තෝ ය).

   ii. (සිසුහු/සිසුන්) ............. ගුරුතුමාට ආචාර කළහ.

   iii. (කාන්තාවක්/කාන්තාවක) ..................... රිය අනතුරකට භාජනය වූවා ය.

   iv. (දැරියක්/දැරියක) .................. මල් කඩන්නී ය.

   v. ගංගාව වේගයෙන් ගලා ............. (බසියි/බසිති).

   vi. ගුරුවරු ....................... (අපට/අපිට) අවවාද දෙති.

   vii. ඒ තෙමේ දක්ෂ ලෙස ..................... (නටයි/නටති).

   viii. ඔවුහු රටට සේවය ............... (කළහ/කරයි).

   ix. ළමයෙක් උදෑසන පාසලට .......................... (එයි/එති).

   x. මිනිස්සු .................. (ගවයන්/ගවයෝ) කුඹුරට දක්කති.



# 11

# උගන්නැ සියබස මත් වන්නැ එහි රසයෙන්

අප රට බ්‍රිතාන්‍ය යටත් විජිතයක්ව පැවති සමයේ, 1887 ජූලි 25 දින උපත ලද කුමාරතුංග මුනිදාස, සිංහල භාෂාවට, සාහිත්‍යයට මහගු මෙහෙවරක් ඉටු කළ විද්වතෙකි. දෙස බස රැස උදෙසා කැප වී කටයුතු කිරීම පිළිබඳ හැඟීම ඔහු තුළ රෝපණය වූයේ සිය පියාගේ බලපෑමෙනි. ඔහුගේ පියා රුහුණේ ප්‍රකට වෛද්‍යවරයකු වූ දොන් අබියෙස් කුමාරණතුංග යි. යටත්විජිත සිරිත් විරිත් පිළිකෙව් කළ මේ වෙදැදුරුතුමා සිය දරුවන් ද ඊට පෙලඹවී ය.

කුමාරතුංග මුනිදාස ගුරුවරයකු, විදුහල්පතිවරයකු හා පාඨශාලා පරීක්ෂකවරයකු ලෙස කටයුතු කළ අතර පසු කල ඒ වෘත්තීය ජීවිතයෙන් බැහැරව භාෂා සාහිත්‍ය සේවාවට නැඹුරු විය. එතුමාගේ චරිතයෙන් අපට උකහා ගත හැකි ගුණාංග බොහෝ ය. ඉන් කිහිපයක් මේ පාඩම පරිශීලනයෙන් හඳුනා ගත හැකි වනු ඇත.

කුමාරතුංග මුනිදාස මූලික අධ්‍යාපනය ලැබුවේ දික්වැල්ලේ බෞද්ධ පාඨශාලාවෙහි ය. පියා මිය යන විට කුමාරතුංග දරුවා පස් වන පන්තියේ උගනිමින් සිටියේ ය. ඉන් පසු වැඩිමහල් සොහොයුරාගේ මගපෙන්වීමෙන් වැඩි දුර අධ්‍යාපනය සඳහා මාතර ශාන්ත තෝමස් විදුහලට ඇතුළත් කෙරිණි. එයිනිදු ඉවත් වූ ඔහු වැවුරුකන්නල පිරිවෙනේ කහවේ ආනන්ද හිමියන්ගෙන් සංස්කෘත භාෂාව හදාළේ ය. මේ කාලයේ දී පැවිදි වීමේ අපේක්ෂාවක් කුමාරතුංග තුළ පැවතිණි. වැඩිමල් සොහොයුරාගෙන් ඊට අවසරයක් නො ලැබිණි. කුමාරතුංග මුනිදාස කොළඹ රජයේ ගුරු අභ්‍යාස විදුහලට ඇතුළත් කෙරිණි. ඒ වන විටත් ඔහු සිංහල, සංස්කෘත, ඉංගිරිසි භාෂා පිළිබඳ හසළ දැනුමක් ලබා සිටියේ ය.

ගුරු විදුහල් පුහුණුව අවසන් කළ කුමාරතුංග තෙමසක් පමණ බෝමිරිය ද්විභාෂා පාඨශාලාවේ ආචාර්යවරයකු ලෙස සේවය කළේ ය. ඉන් පසු කඩුගන්නාවේ ද්විභාෂා පාඨශාලාවේ ප්‍රධානාචාර්යවරයා ලෙස පත් කෙරිණි. පුරා වසර 11ක් පමණ එහි සේවයේ නිරත වූ ඔහු 1917 පාඨශාලා පරීක්ෂක තනතුරට උසස් කරනු ලැබිණි. එම තනතුරේ වසර පහක සේවා කාලයකින් අනතුරුව ඉන් ඉවත් වූ කුමාරතුංග, මුළු ජීවිත කාලය ම භාෂා සාහිත්‍යයේ උන්නතියට යෙදවී ය.

කුමාරතුංග හෙළ බසෙහි නව පෙරළියක් ඇති කරන්නට මුල පිරුවේ කඩුගන්නාවේ ද්විභාෂා පාඨශාලාවෙහි ප්‍රධානාචාර්ය ධුරය දරන අවධියෙහි ය. ඊට මං සැලසුණේ එක් සිසුවකු විසින් අසන ලද ප්‍රශ්නයකිනි. කුමාරතුංගගේ ම බසින් දක්වතොත් ඒ පුවත මෙසේ ය.

> "කඩුගන්නායෙහි පාඨශාලාවේ ශිෂ්‍ය පංක්තියකට සිදත් සඟරාව උගන්වමින් සිටි අපට දිනක් ප්‍රශ්නයෙක් උපන්නේ යැ. 'ඒ ඉ ඊ උ ද අයු' යන තන්හි දැක්වුණු ආඛ්‍යාත විභක්ති සතර වෙන් වෙන් වශයෙන් කවර කවර ධාතු වර්ගවල යෙදේ ද? යනු ඒ ප්‍රශ්නය යි. ප්‍රශ්නය ඇසූ ශිෂ්‍යයාට පිළිතුරු දෙන්නට නොපොහොසත් වූම්හ. ඒ මොහොතෙහි සිටැ මැ එයට පොහොසත් වන්නට උත්සාහ කළම්හ."

**ව්‍යාකරණ විවරණය** සහ **ක්‍රියා විවරණය** යන ග්‍රන්ථ ලියැවුණේ ඒ උත්සාහයේ ප්‍රතිඵල වශයෙනි. අදටත් සිංහල ව්‍යාකරණය සම්බන්ධයෙන් මේ ග්‍රන්ථ අත්පොත් සේ පරිහරණය කෙරේ.

පැරණි සිංහල පොත පත සංස්කරණය කරමින් ඒවාට විවරණ සැපයීම කුමාරතුංගගේ සාහිත්‍ය සේවාවෙහි ප්‍රබල අංගයකි. එහි ලා මුලින් ම විවරණය කෙරුණේ **නිකාය සංග්‍රහය** යි. ඉන් පසුව **එළු අත්තනගලු වංශය**, **සුභාෂිතය**, **පූජාවලිය**, **අමාවතුර**, **සද්ධර්මරත්නාවලිය**, **සසදා වත**, **මුවදෙව්දා වත**, **කව්සිළුමිණ** ආදි පැරණි සම්භාව්‍ය පොත් සංස්කරණය කෙරිණි. කුමාරතුංග අතින් සැකසී, විවරණය වූ පැරණි ග්‍රන්ථ 26කි.

මේ විවරණ ග්‍රන්ථ සම්පාදනයේ දී වඩාත් තර්කානුකූල ලෙස අර්ථකථන සැපයීමට කුමාරතුංග දැරූ උත්සාහය පහත නිදසුනෙන් වටහා ගත හැකි ය.

සුභාෂිතයේ එන,

රුදුරු ගිනි කඳක් ගත් සඳෙහි වන   තුරු
මිතුරු වේ ය දිගතින් හමන මඳ   මරු
මිතුරු නැසීමට එක් වෙයි පස   මිතුරු
මිතුරු නෑ කෙනෙක් නිවතුන් හට   කවුරු

යන පද්‍යයෙහි අර්ථය නිරවුල් කර ගැනීම පිණිස ඔහු එක් යන්නෙහි 'ක්' අක්ෂරය වෙනුවට 'ම' අක්ෂරය යෙදී ය.

මිතුරු නැසීමට **එම** වෙයි පස   මිතුරු

ඒ අනුව "වනාන්තරයක් දවන මහා ගින්දරට උපකාර වන සුළඟ ම පහනේ සිලුවට සතුරු වී එය නැසීමට උපකාරී වේ ය" යන අරුත නිරවුල්ව ඉස්මතු කෙරිණි.

සියබසේ වැදගත් ලකුණක් වන 'ඇ' කාරය එළිය ලැබුවේ කුමරතුඟුවන් අතිනි.

"ඇ කාරය සංස්කෘතයෙහිත් නැති; පාලියෙහිත් නැති; දෙමළයෙහිත් නැති; වංගාදි භාෂාවන්හි දු නැත් මැ යැ. එ හෙයින් මේ අක්ෂරයාගේ ව්‍යවහාරය පරභාෂානුසාරයෙන් දත හැක්කේ නොවේ." යනුවෙන් සිංහල භාෂාවේ පරිණාමයෙහි ප්‍රතිඵලයක් වශයෙන් ජනිත වූ 'ඇ' කාරයෙහි නිවැරදි යෙදුම් හඳුනා ගනිමින් එය සම්ප්‍රදායානුගතව භාවිතයට නූතන ලේඛකයන් යොමු කළේ කුමාරතුංග ය.

කුමාරතුංග පඬිවරයා අසිරිමත් කවි ශක්තියක් ඇත්තෙක් ද විය. භාෂා ඥානය, ලේඛන ව්‍යවහාරය හා සාහිත්‍ය රස යන ත්‍රිවිධ අංශයන්ගෙන් පරිපූර්ණව සිටි ඔහු හෙළ කවියට නව පණක් දුන්නේ ය. කවිය නම් කිමෙක් ද? එහි රසය නම් කිමෙක් ද? අලංකාරය නම් කිමෙක් ද? යන්න මැනවින් පහදා දීමට ඔහු **විරිත් වැකිය, කවි ශික්ෂාව** යන ග්‍රන්ථ රචනා කළේ ය.

"සිත නිදහස් කරන   හොඳම
ගුරු කම කවි මඟට   වැටුම
එහෙයිනැතොත් සිය දෑ   පෙම
ළ දෙන්නැ කවි ලොවට   පුදුම"

විරිත් වැකියේ දී එසේ කී කුමාරතුංගගේ කවිත්වය සම්බන්ධ අගනා නිදර්ශනය සේ සැලකෙන්නේ **පියසමර** යි. සිය ජීවිතය හැඩ ගැස්වීමට පියාගේ දායකත්වය මැනවින් හෙළි කරමින් රචිත **පියසමර**, කතුවරයාගේ පෞද්ගලික අනුභූතිය ඇසුරෙන් සම්පාදනය වී ඇති නමුත් පාඨකයා එයින් විඳින්නේ පියකු හා දරුවකු අතර පවත්නා ස්නේහයේ පොදු ධර්මතාව යි.

''පොළොව ආස වලා සඳ තාරකා
සෙවණ ගස් ලිය ආදිය දක්වමින්
නුවණ දෙන්නට කී එ කතා සෙමෙන්
හැඩ ගැසී යැ මගේ දිවි මේ විලස්''

නූතන කවියට උචිත බස් වහරක් **පියසමර** මගින් හඳුන්වා දීමට ද කුමාරතුංගයෝ කටයුතු කළහ.

ළමා පරපුරේ ඥානය හා රසඥතාව  වර්ධනය උදෙසා **ශික්ෂා මාර්ගය**, **කියවන නුවණ** යන පෙළ පොත් සහ **හත් පණ**, **මගුල් කෑම**, **හීන්සැරය** යන ප්‍රබන්ධ රචනා කිරීමෙන් කුමාරතුංග ළමා සාහිත්‍යය ද පෝෂණය කළේ ය. **ප්‍රබන්ධ සංග්‍රහය** හා **ප්‍රබන්ධෝපදේශය** රචනා කරමින් ප්‍රබන්ධකරණයට මඟ පෙන්වීම ද ඔහුගේ සාහිත්‍ය සේවාවෙහි අගය කළ යුතු කාර්යයකි. **කුමර ගී** ළමයින්ගේ රසාස්වාදය උදෙසා රචිත පැදි මාලාවකි.

සිංහල පුවත්පත් කලාවට කුමාරතුංග මුනිදාසයන්ගෙන් සිදු වූ සේවාව අමරණීය වේ. **ලක්මිණි පහන** මගින් ඔහු වර්තමාන පුවත්පත් කලාවට පුළුල් බලපෑමක් ඇති කළේ ය. ජීවයෙන් තොර කඨෝර පුවත්පත් සිරස්තල වෙනුවට සුගම ජීවමාන ශෛලියකින් යුත් සිරස්තල භාවිතය එහි ලා කැපී පෙනෙයි. පුවත්පත් සිරස්තල වර්තමාන කාල ආඛ්‍යාතයෙන් තැබීම ආරම්භ කෙරුණේ **ලක්මිණි පහනෙනි**.

එතුමා 1939 දී **සුබස** නමින් සඟරාවක් ප්‍රකාශයට පත් කිරීම ආරම්භ කළේ හෙළ බසේ ස්වීයත්වය සුරැකීම උදෙසා ය. **සුබස** සඟරාව කියැවූ රට පුරා විසිරී සිටි බසට ළැදි පිරිස එකරාශි වන්නට වූහ. එහි ප්‍රතිඵලය වූයේ 1941 දී හෙළ හවුල නමින් සංවිධානයක් පිහිටුවා ගැනීම ය. එමගින් දෙස බස රැස සංකල්පය ඔස්සේ ජාතියට, ආගමට හා භාෂාවට අභිමානයක් ලබා දීමට උත්සාහ දැරී ය.

මෙතෙක් ඉංගිරිසි මාධ්‍යයෙන් ඉගැන්වුණු විෂයයන් සිංහලයෙන් ඉගැන්වීමේ ජාතික වැඩ පිළිවෙළක් මේ වන විට ඇරඹී තිබිණි. ඉංගිරිසියෙන් පැවසුණු සංකල්ප සිංහලයෙන් කියා පෑමට යෝග්‍ය වචන මාලාවක අවශ්‍යතාව ද ඒ සමග පැන නැගිණි. මෙහි දී සිය භාෂා ඥානය පදනම් කර ගෙන පර බස් යෙදුම්වලට යෝග්‍ය සිංහල වචන නිපදවමින් සිංහල වාක් කෝෂය පුළුල් කිරීමට කුමාරතුංග දායක විය. සිංහල භාෂාවේ පාරිභාෂික වචන හෙවත් 'වඩු වදන්' නිපදවීමට කුමරතුඟුන් අනුදත් ක්‍රම තුනකිඃ

1. ශබ්දයෙන් ද රූපයෙන් ද සමාන වන සේ මුල් වදන සිංහල හුරුවට හැරවීම
උදාහරණ: ටෙලස්කෝපය, බසය, ලොරිය, ජූරිය, වයර්ලස්, සබ්මැරීනය, ඩැස්කුව, බයිසිකලය, ලන්ඩනය

2. ශබ්ද සාම්‍යය නොතකා ඇවැසි අරුත දෙන අලුත් වදනක් නිපදවීම
උදාහරණ: පාපැදිය, සරසවිය, පාසල, දුරබනුව, විදුහුරු, කුමුදුව, දුරදක්නය, හසුන්යහළු, පසුබිම

3. අර්ථයෙන් හා ශබ්දයෙන් සමරූපී වන සේ අලුත් වදනක් නිපදවීම
උදාහරණ: තලික්සුව, කම්ටුව, රෙදෙවුව, කිරම, වෙළුම, ගොවුනරු, මාදිලිය, තනුව, මීයැසිය

මෙහි දී එතුමා සතු වූ සංස්කෘත, පාලි හා ඉංගිරිසි මෙන් ම ග්‍රීක හා ලතින් ආදි භාෂා ඥානය ද බෙහෙවින් ඉවහල් වී ඇත. 'රේඩියෝ' යන වදන සැකසී ඇත්තේ 'රාඩියස්' යන ලතින් වචනයෙනි. එහි අරුත 'මැද සිට අරය දිගේ දෙවෙන' යන්න යි. කුමාරතුංග 'රෙදෙවුව' යන වචනය නිර්මාණය කර ඇත්තේ එය සැලකිල්ලට ගනිමිනි.

අරය දිගේ දෙවෙනුයේ > අර + දා + දෙවු > අරදෙවු > රදෙවු > රෙදෙවු

තනුව, මීයැසිය, සරසවිය, පාපැදිය, යතුරු පැදිය, පාසල, හෙදිය, සකසු ආදි වදන් එතුමාගේ නිපැයුම් බව දැන හෝ නො දැන වර්තමානයේ බහුලව භාවිත කෙරෙයි.

වෙන බසක වචනයකට අරුතින් හා ශබ්දයෙන් සමාන වචන සෑදීමේ පුරෝගාමියා කුමාරතුංග බව ද කිව හැකි ය.

වරදක් දුටු තැන එය නිවැරදි කරන්නට නොපමා වූ කුමාරතුංග,

"ගත් කරු සත් කරු පමණ
ඔබ හට කරුණෙක් නොවේ
දෙවියකු කී දැයක් වත්
කරුණු නැති වැ නො අදහනු"

යනුවෙන් යමක් තර්කානුකූලව විමසා තහවුරු කර ගැනීම නිබඳව අගය කළේ ය. තමාගේ ම මතය පවා කරුණු ඇතොත් වෙනස් කර ගැනීමට ඔහු පසුබට නොවී ය.

> “අප ගැන මඳක් කිය යුතු. තව මැ අපි විමසීමෙහි යෙදී සිටුම්හ. දිනෙන් දින මතු වන දෑ නිසා මතය වෙනස් කරන්නට සිදු වන වාර බොහෝ යි. බොහෝ දෙන වරක් බදා ගත් මතය වෙනස් කරන්නට මැළි වෙති. අස්ථිරභාවය පිට දොස් නඟතී’යි යන බියෙනි... අනුන් කියන දොසට බියෙන් එළියට එන්නට දඟලන ඇත්ත වසන්නේ නොමිනිසෙකි. කියන දොසක් අපි විමසම්හ... ඒ හෙයින් තුන් වැන්න මුල් සැකැසුම් දෙකට මැ වඩා වෙනස් වුව පුදුමයෙක් නො වේ.”
>
> **මුවදෙව් දා විවරණය** (තෙවන සංස්කරණය)

සුබස සඟරාවෙන් උපුටා ගත් පහත ප්‍රකාශය ද එතුමාගේ අනතිමානී ගුණය ප්‍රකට කරවන්නකි. තම වරදක් පෙන්වා දුන් අයකුට දක්වන මේ ප්‍රතිචාරය කුමාරතුංග චරිතයේ ප්‍රබලත්වය ඔප් නංවයිඃ

> “ඔබගේ විවරණය හරි බවට බැහැරින් දෙස් නුවුවමනා යැ. කවර හෙයෙකින් වුව ද අපගේ වරද පිළිගනිමු. මෙය හෙළි කිරීම ගැන අපි ඔබට ණය වම්හ.”

සිංහල භාෂාවට හා සාහිත්‍යයට මහගු මෙහෙවරක් ඉටු කළ වියතකු ලෙස ද භාෂා ඥානයෙන් පරිපූර්ණ පඬිවරයකු ලෙස ද සමාජයේ ඉහළින් වැජඹුණු මෙතුමා 1944 මාර්තු 02 දින අභාවප්‍රාප්ත විය. සෑම වසරක ම මාර්තු 02 සිංහල භාෂා දිනය ලෙස නම් කර ඇත්තේ සිංහල භාෂාවේ ප්‍රගමනයට කුමාරතුංග දායකත්වය අනුස්මරණය කිරීමේ පරමාර්ථයෙනි.

## අවබෝධය

1. **කුමාරතුංග මුනිදාසයන් සිංහල භාෂාවේ අභිවෘද්ධියට කළ සේවාවන් මොනවා ද?**
2. **කුමරතුඟු මුනිදසුන් රචනා කළ ළමා සාහිත්‍ය කෘති පහක් නම් කරන්න.**
3. **කුමාරතුංග මුනිදාසයන් විවරණ සැපයූ පොත් පහක නම් ලියන්න.**
4. **කුමරතුඟුවන්ගේ නායකත්වයෙන් බිහි වූ භාෂා සංවිධානයේ කාර්යභාරය වූයේ කුමක් ද?**
5. **කුමාරතුංග මුනිදාස සිප්යුරු වදන් නිපදවීමට අනුදත් ක්‍රම මොනවා ද?**



# වාක්‍ය රීති

ලේඛනයේ දී විවිධ වාක්‍ය රීති භාවිත කෙරේ. 6, 7, 8 ශ්‍රේණිවල දී ද අපි විවිධ වාක්‍ය රීති හඳුනා ගතිමු. මේ පාඩමෙන් වාක්‍ය නිර්මාණයේ දී අවශ්‍ය වන, ‘නිත්‍ය බහු වචන පද’ ආශ්‍රිත රීති කිහිපයක් හඳුනා ගනිමු.

## නිත්‍ය බහු වචන පද

අයෙක්, ඇතැමෙක්, කවරහු, කවුරු, කෙනෙක්, දෙන, සමහරු, සමහරෙක්, දෙනෙක්, අය යන පද නිත්‍ය බහු වචන වේ. උක්තය නිත්‍ය බහු වචන වූ විට ආඛ්‍යාතය ද බහු වචන වේ.

උදාහරණ :-

1. **අයෙක්** නැටීමට දක්ෂ **වූහ.**
2. **ඇතැමෙක්** කරුණාවන්ත **වූහ.**
3. **කවරහු** පාඩම් **කළෝ** ද?
4. **කවුරු** එහි **යත්** ද?
5. **කෙනෙක්** උනන්දුවෙන් ඉගෙන **ගනිති.**
6. බොහෝ **දෙන** විභාගයට සූදානම් **වූහ.**
7. **සමහරු** විශ්වවිද්‍යාලයට **යති.**
8. **සමහරෙක්** කාලයෙන් නිසි ප්‍රයෝජන **ගනිති.**
9. ඒ **අය** ගමට **යති.**
10. ටික **දෙනෙක්** තරගයට ඉදිරිපත් **වෙති.**

ඇතැම් නිත්‍ය බහු වචන පද පැහැදිලිව ම ඒකාර්ථයක් ප්‍රකාශ කිරීම සඳහා ද යෙදේ. එවැනි අවස්ථාවන්හි දී ආඛ්‍යාතය ඒක වචන වේ.

**එක් කෙනෙක් ක්‍රීඩා කරයි.**

**ක්‍රීඩා කණ්ඩායමෙන් එක් අයෙක් ඉවත් වෙයි.**



## ආඛ්‍යාතය බහු වචනයෙන් යෙදෙන අවස්ථා

'ආණ, අණු, අණි' යන ගෞරවාර්ථ ප්‍රත්‍යය සමග 'ඕ' ප්‍රත්‍යය යෙදෙන විට ආඛ්‍යාතය බහු වචන වේ.

උදාහරණ: 'ආණ - අණු' පුරුෂ ලිංග නාම හා යෙදේ.

පිය + ආණ + ඕ - පියාණෝ

**පියාණෝ** රැස්වීමට සහභාගී **වූහ.**

පුත් + අණු + ඕ - පුතණුවෝ

**පුතණුවෝ** දෙගුරුන් පා **වැන්දහ.**

'අණි' ස්ත්‍රී ලිංග නාම හා යෙදේ.

මා + අණි + ඕ - මැණියෝ

**මැණියෝ** දරුවන් පෝෂණය **කරති.**

'වහන්සේ, දෑ' යන පද යෙදුණු කල්හි ආඛ්‍යාතය බහු වචනයෙන් තැබේ.

තෙරුන් **වහන්සේ** දහම් **දෙසූ සේක/දෙසති.**

මැණියන් දෑ දරුවන් වෙනුවෙන් **වෙහෙසෙන දෑ ය/වෙහෙසෙති.**

රැළ, පෙළ, කැල, මුළ, ගණ, පිරිස, රංචුව, පොකුර, කණ්ඩායම යනාදි පද සමූහාර්ථවාචී පද වේ. ප්‍රාණවාචී පදයක් සමූහාර්ථවාචී පදයක් සමග එක්වී උක්තයක් සේ යෙදුණු විට එහි ආඛ්‍යාතය බහු වචන වේ.

උදාහරණ :- කොටි **රැළ** වනය දෙවනත් **කරති.**

ළමා **පෙළ** පන්ති කාමරයට **පිවිසෙති.**

සියොත් **කැල** අහසේ **පියාඹති.**

සොර **මුළ** ගම් **පහරති.**

අප්‍රාණවාචී පදයක් සමූහාර්ථවාචී පදයක් සමග උක්ත වූ විට ආඛ්‍යාතය ඒක වචන වේ.

උදාහරණ :- ගස් **පෙළ** සුළඟට **සෙලවෙයි.**

**මල් පොකුරු** සුවඳ **විහිදුවයි.**

තරු **කැල** අහසේ **බබළයි.**

## ලිඛිත අභ්‍යාස

1. **වරහන් තුළින් නිවැරදි වචනය තෝරා හිස්තැන් පුරවන්න.**

   i. අපේ ගමේ ඇතැමෙක් නගරයේ රැකියා ............. (කරති/කරයි.)

   ii. සමහරෙක් මිහිරි හඬින් ගී ................ (ගයති/ගයයි.)

   iii. සමහරු විභාගයට පෙනී ........ (සිටියහ/සිටියේ ය.)

   iv. පන්තියේ එක් අයෙක් නැටුම් තරගයට ඉදිරිපත් .................. (වෙයි/වෙති.)

   v. එක් කෙනෙක් වේගයෙන් ........... (දුවයි/දුවති.)

2. **පහත සඳහන් වාක්‍ය නිවැරදි කර ලියන්න.**

   i. අලි රංචුව ගමට පහර දෙයි.
   ii. තරු පෙළ අහසෙහි බබළති.
   iii. සඟ ගණ දනට වඩියි.
   iv. තෙරණුවෝ බණ දෙසයි.
   v. සිටාණෝ මාලිගාවට යයි.
   vi. දුවණියෝ මවට උවටැන් කරන්නී ය.
   vii. තෙරණියන් දෑ වෙහෙර වඳින්නී ය.
   viii. තෙරුන් වහන්සේ ගිලනුන්ට උවටැන් කරයි.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **කුමාරතුංග මුනිදාස සම්බන්ධයෙන් පහත දැක්වෙන අනුමාතෘකා ඔස්සේ කරුණු පෙළ ගස්වන්න.**

   i. භාෂාවට කළ මෙහෙවර
   ii. නිර්මාණකරණයේ නියැලීම

2. **'දෙස බස රැස රැක ගනිමු' මැයෙන් රචනාවක් ලියන්න.**

3. **කුමාරතුංග මුනිදාස වර්තමාන භාෂාවට එකතු කළ වචන ගොනුවක් සාදන්න.**




# 12 ආනන්ද කුමාරස්වාමි

ශ්‍රී ලාංකිකයකු වූ ආනන්ද කෙන්ටිශ් කුමාරස්වාමි (1877-1947) දහනව වැනි සියවසේ පහළ වූ ශ්‍රේෂ්ඨතම ආසියාතිකයා ලෙස පිළිගැනේ. ඔහු ශ්‍රී ලංකාව හා ඉන්දියාව ද ඇතුළු පෙරදිග රටවල අදීන චින්තනයේ, කලාවේ, ශික්ෂණයේ ශ්‍රේෂ්ඨත්වය බටහිර ලෝකයාට වැටහෙන භාෂාවෙන් ඔවුන්ගේ අවධානයට ලක් කරවූ ලක් මවගේ අභිමානවත් පුත්‍රයෙකි.

යටත්විජිත සමයෙහි බටහිර අධ්‍යාපනය ලද බොහෝ ආසියාතිකයෝ තම ආවේණික සංස්කෘතික උරුමයන් හැර දමා බටහිර චින්තනය උසස් ලෙස සලකන්නට පුරුදු වූහ. එබඳු වකවානුවක පෙරදිග සංස්කෘතියෙහි විශිෂ්ටත්වය ලෝවැස්සන්ට හඳුන්වා දීමට ප්‍රයත්න දැරූවන් අතර ආනන්ද කේ. කුමාරස්වාමි ප්‍රමුඛ ය. පෙරදිග හා අපරදිග දර්ශනය මහත් අභිරුචියෙන් පරිශීලනය කළ මොහු පෙර'පර දෙදිග සංස්කෘතිය හා කලාව පිළිබඳ විශ්‍රුත දැනුමක් ලත් පඬිවරයෙකි; රසිකත්වයෙන් පිරිපුන් කලා විශාරදයෙකි; විද්‍යා, කලා පර්යේෂණයේ ස්වාධීන අදහස් පළ කළ දාර්ශනිකයෙකි. ප්‍රසිද්ධියට කිසි විටෙකත් රුචියක් නොදැක්වූ මොහු, පෙරදිග සංස්කෘතිය ලෝවැස්සන් අතර පතුරුවාලීම තම ප්‍රමුඛ කාර්යය සේ සලකා කටයුතු කළේ ය.

ආනන්ද කුමාරස්වාමි 1877 අගෝස්තු මස 22 වැනි දින කොල්ලුපිටියේ දී උපත ලැබී ය. ඔහුගේ පියා වූයේ ශ්‍රීමත් මුතු කුමාරස්වාමි මහතා ය. හෙතෙම නයිට් නාමයක් ලැබූ ප්‍රථම ආසියාතිකයා වශයෙනුත් ඉංග්‍රීසි නීතිඥ මණ්ඩලයට ඇතුළු වීමේ භාග්‍යය ලත් ප්‍රථම ලාංකිකයා වශයෙනුත් සැලකෙයි.

කුමාරස්වාමි පරපුරේ මුතුන් මිත්තෝ යාපනයේ මනිපායිහි උසස් පරපුරකට අයත්, ප්‍රබල ජාතික මෙහෙවරක නියැළුණෝ වූහ.

ආනන්ද කුමාරස්වාමි කුඩා වියේ දී ම පියා මිය ගියේ ය. එබැවින් ඔහුගේ ළමා කාලය බ්‍රිතාන්‍ය ජාතික සිය මවගේ ඇසුරෙහි එංගලන්තයේ ගත විය. ආනන්ද කුමාරස්වාමි 1889 දී එංගලන්තයේ වයික්ලිෆ් විද්‍යාලයට ඇතුළත් කෙරිණ. විදුහලේ දීප්තිමත් ශිෂ්‍යයකු වූ ඔහු දක්ෂ ක්‍රීඩකයෙක් ද විය. උස පැනීමේ ඉසව්වෙන් හා විද්‍යාලයීය පාපන්දු කණ්ඩායමේ ක්‍රීඩකයකු ලෙස ද හෙතෙම දස්කම් දැක්වී ය. එමෙන් ම විදුහලේ සාහිත්‍ය සංගමයේ දේශකයකු ලෙස ද ඔහු කටයුතු කළේ ය. වයික්ලිෆ් විද්‍යාලයේ දී නවීන විද්‍යා විෂයයන් හැදෑරූ ආනන්ද කුමාරස්වාමි තමාගේ වඩාත් සිත් ගත් විෂයය වූ භූගර්භ විද්‍යාව අලළා විද්‍යාලයීය හා වෙනත් සඟරාවලට ලිපි ලිවී ය.

පාසල් අධ්‍යාපනයෙන් පසු ලන්ඩන් විශ්වවිද්‍යාලයට ඇතුළත් වූ ඔහු 1900 දී භූගර්භ විද්‍යාව හා උද්භිද විද්‍යාව පිළිබඳ ප්‍රථම පන්තියේ විද්‍යාවේදී ගෞරව උපාධිය (B.Sc) දිනා ගත්තේ ය.

1903 වර්ෂයේ දී ලන්ඩන් විශ්වවිද්‍යාලයේ පර්යේෂකයකු ලෙස පත් වූ කුමාරස්වාමි එම වර්ෂයේ දී ම ලංකාවට පැමිණ, ඛනිජ විද්‍යා දෙපාර්තමේන්තුවේ අධ්‍යක්ෂ ලෙස වැඩ භාර ගත්තේ ය.

මේ වකවානුව මෙරට ජාතික විමුක්ති ව්‍යාපාරය ව්‍යාප්ත වීමෙන් සිංහල, දෙමළ, මුස්ලිම් බහුජන සංවිධාන නිදහස හා විමුක්තිය පතා සූදානම් වෙමින් පැවැති අවධිය යි. මාර්ග

හා ප්‍රවාහන පහසුකම් නොවූ ඒ අවධියෙහි කුමාරස්වාමි සැම පළාතක ම පයින් හා කරත්තයෙන් ගමන් කර, මහත් දුෂ්කරතා විඳිමින් පර්යේෂණවල නිරත විය. මේ ගමන්වල දී පුරා විද්‍යාත්මක තොරතුරු, සමාජ විස්තර හා කලා ශිල්ප පිළිබඳ විස්තර ද සෙවීමට ඔහු පෙලඹුණේ ය. ඔහුගේ පමණක් නො ව, කලා රසිකයන් සැමගේත් භාග්‍යයට එය හේතු විය.

ආනන්ද කුමාරස්වාමි විසින් ලංකාවේ ඛනිජ හා පාෂාණ පිළිබඳව කරන ලද පර්යේෂණ ඇතුළත් ලිපි රාශියක් විවිධ ප්‍රකාශනවල පළ විය. ලන්ඩන් විශ්වවිද්‍යාලය විසින් 1906 වර්ෂයේ ලංකාවේ සිදු කළ ඛනිජ හා පාෂාණ පිළිබඳ සොයා ගැනීම් සඳහා ඔහු වෙත උපහාරය පුද කරන ලද්දේ විද්‍යාව පිළිබඳ ආචාර්ය උපාධිය (Ph.D) ප්‍රදානය කිරීමෙනි.

දේශීය කලාව, සිරිත් විරිත් හා පුරා විද්‍යාව අරබයා ඔහු විසින් කරන ලද පර්යේෂණවල ප්‍රතිඵල ඔහුගේ ම සංස්කාරකත්වයෙන් නිකුත් වූ ***Ceylon National Review*** සඟරාවේ පළ විය. එසේ පළ වූ ලේඛන නිදහස් සටනෙහි ලා ඉමහත් ජීවයක් සැපයී ය. බටහිර සංස්කෘතිය නිසා මුල් සිඳී ගිය ලාංකිකයන්ගේ ශෝචනීය තත්ත්වය එමගින් පෙන්වා දෙනු ලැබී ය. එයින් මිදීම සඳහා ගත යුතු ක්‍රියා මාර්ග දෙකක් කෙරෙහි ඔහුගේ අවධානය යොමු වී තිබිණ. එනම් අධ්‍යාපනය සිය බසින් ම ක්‍රියාත්මක කිරීමත්, ලංකාවේ විශ්වවිද්‍යාලයක් පිහිටුවීමත් ය.

ආචාර්ය ආනන්ද කුමාරස්වාමි ලංකාවේ කලාව ඇතුළු සංස්කෘතිකාංග අලළා 1908 දී ***Medieval Sinhalese Art*** නමින් ලියූ ග්‍රන්ථය **මධ්‍යකාලීන සිංහල කලා** නමින් සිංහලයට පරිවර්තනය වී තිබේ. ලාංකේය කලාවේ ගම්භීරත්වය හා අදීනත්වය බටහිරට හඳුන්වා දෙමින් ලාංකික කලාව ලෝක කලා සිතියම තුළ ප්‍රථම වරට රැඳවූ ඓතිහාසික කෘතිය මෙය වෙයි.

**මධ්‍යකාලීන සිංහල කලා** කෘතියේ ප්‍රස්තාවනාවෙහි ඔහු සිය අරමුණ දක්වා ඇත්තේ මෙසේ යඃ

> "මෙය ලියන ලද්දේ සිංහල ජනතාව මෙකල අවබෝධ කර ගැනීමට අකැමැති කාල පරිච්ඡේදයක සිහිවටනයක් වශයෙන් ඔවුන් උදෙසා ම ය. එක් අතකින් ශත වර්ෂයක් විදේශීය ආධිපත්‍යයට යටත්ව විසීමෙන් හා ජාතික සංස්කෘතිය සම්පූර්ණයෙන් නො සලකා හරින ලද අධ්‍යාපනයක් ලැබීමෙන් ද අනික් අතින් එපමණ කාලයක් නිවට නියාලු ලෙස පර සිරිත් අනුකරණය කිරීමෙන් ද තමන් දිනා ගත් ජීවන කලාව සම්බන්ධයෙන් වර්තමාන උගත් සිංහලයාට ආඩම්බර වීමට කිසිදු හේතුවක් නැත. අතීතයට ගරහා එමගින් වර්තමානය අහසට වර්ණනා කරන නොගැඹුරු සිතිවිලි හැම තැන ම දක්නට ලැබේ. එසේ වුව ද සිංහල ජනතාවගේ ජාතික ජීවන ක්‍රමයේ නියම පුනරුත්ථානය හා නව ජීවනය ලබා ගත හැක්කේ මේ අතීතය හා භාරතයේ අතීතය පිළිබඳ විශිෂ්ටාර්ථයන් මුදුන් පමුණුවා ගැනීමට දරන ප්‍රයත්නයෙන් පමණි. එසේ හෙයින් මේ අතීතය වටහා ගැනුම් වස් සහාය වීම මේ පොත ලිවීමේ පරමාර්ථය යි."

**මධ්‍යකාලීන සිංහල කලා** ග්‍රන්ථයෙහි තත්කාලීන විවිධ කලා ක්ෂේත්‍ර හා කාර්මිකයන් පිළිබඳ තොරතුරු ඇතුළත් වෙයි. සිංහල මෝස්තර, ගෘහ නිර්මාණ ශිල්පය, දාරුමය කර්මාන්තය, ශෛලමය කර්මාන්තය, ප්‍රතිමා ශිල්පය, චිත්‍ර ශිල්පය, ඇත්දත් වැඩ, ලෝහ කර්මාන්තය, ලාක්ෂා කර්මාන්තය, මැටි කර්මාන්තය, රෙදි විවීම, ඇම්බ්‍රෝඩින් වැඩ (ලියවැල් මැහුම්) පැදුරු විවීම යනු ඒවා ය. මේ එක් එක් පරිච්ඡේදයට අදාළ උපග්‍රන්ථයන්හි කලා ශිල්ප පිළිබඳ සවිස්තර තොරතුරු ද ග්‍රන්ථය අවසානයේ ඡායාරූප හා චිත්‍ර සටහන් ද ඇතුළත් ය. එහි ලා ශ්‍රී ලාංකික කලාංග කෙරෙහි ඔහුගේ අවධානය ගැඹුරින් යොමු වූ අයුරු දැකගත හැකි ය.

සීගිරි චිත්‍ර පිළිබඳව ඔහු දක්වන විවරණය මෙබඳු යඃ

> මේවා අඳින ලද්දේ සීගිරි ගලේ බදාම යෙදූ පෘෂ්ඨය මත ය. ඉතිරි චිත්‍ර පිහිටියේ අතිශයින් දුර්ග සහිත ගල් ගුහාවක ය. ඇතුළු මගට ඉහළින් පිහිටි මුළු ගල ම බදාම ගා සිත්තම් කර තිබුණැයි සිතිය හැකි ය. දහයියා සහ ඇතැම් විට පොල් කොහු එක් කිරීමෙන් ශක්තිමත් කරන ලද මැටි හා කිරිමැටි මිශ්‍රණයක් පළමු කොට අඟල් බාගයක් ගනකමට යොදා සුදු හුනුවලින් වසා හැන්දකින් පිරිමැදීමෙන් බදාම ආලේප කෙරුණි. කහ, රතු, පච්ච යන මූලික වර්ණ තුන පමණක් භාවිත කරන ලද නමුදු අඳුර එළිය යෙදීමෙන් ද වර්ණ මිශ්‍ර කිරීමෙන් ද මේ වර්ණ විවිධ විය. මෙය, මේ වර්ණ නූතන වැඩ සඳහා භාවිත කිරීමේ ක්‍රමයට වෙනස් ය. නීල වර්ණය දක්නට නො ලැබේ. මේ චිත්‍ර වනාහි මල් අතැතිව විහාරය කරා යන රජ වාසල ස්ත්‍රීන්ගේ පිළිරූ යැයි බෙල් මහතා කියයි. පිළිරූවල පහත කොටස සම්මත වලාකුළුවලින් කැපී තිබෙන හෙයින් අප්සරාවන් නිරූපිත බව මගේ අදහස යි. අප්සරාවෝ නූතන චිත්‍රයන්හි හැම විට ම මෙසේ නිරූපණය කෙරෙත්.

ආනන්ද කුමාරස්වාමි සිය ග්‍රන්ථයේ උඩරට කාර්මික ශිල්පීන් පිළිබඳව කරුණු දක්වා ඇති තැනකි මේ.

> "ඔවුනට දවස් කුලිය කිසි කලෙක නොගෙවන ලද්දේ ය. වැඩ කළ යුතු නියමිත පැය ගණනක් ද නො වී ය. රාජකීය වැඩපොළෙහි සේවය කළ කාර්මිකයෝ කිහිප දෙනෙක් මහනුවර මගේ නිවෙසේ කැටයම් නිර්මාණය කිරීම සඳහා පැමිණියහ. ඔවුන්ට මුදල් ඉපයීම හෝ තම ජීවන තත්ත්වය වැඩි දියුණු කර ගැනීම පිළිබඳ අදහසක් හෝ නො වී ය. ඔවුන්ට අවශ්‍ය වූයේ තමන්ට හා තම පවුලට අවශ්‍ය ආහාර මිල දී ගැනීමට සෑහෙන මුදලක් පමණි. මුදල් ඉතිරි කිරීමේ අපේක්ෂාවක් ද ඔවුන් වෙත නො වී ය. කිසියම් වැදගත් කාර්යයක් අවසන් කළ විට හොඳ ඇඳුමක් වැනි විශේෂ තෑග්ගක් ඔවුහු බලාපොරොත්තු වෙති."

වාණිජකරණයට යට නොවූ මධ්‍යකාලීන කලා ශිල්පියාගේ ස්වභාවය එමගින් දැක්වෙයි.

මහනුවර අවධියේ පැවැති කලා ශිල්ප සම්ප්‍රදායයන් ද ඒ හා බැඳි පසුබිම හා තාක්ෂණික ක්‍රමවේදයන් ද ඔහුගේ විචාරාක්ෂියට බඳුන් වී ඇත. ඇතැම් ශිල්ප ශාස්ත්‍ර සම්බන්ධ ජන ගී ද මධ්‍යකාලීන සිංහල කලා කෘතියේ දැක්වේ. කුම්භකාර ගීතය, කින්නර ගීතය, පැදුරු වියමන් ආශ්‍රිත පන්නන් කතුර වැනි ජන ගී ඔහු තුළ ජනශ්‍රැතියට පැවැති ඇල්ම හෙළි කරවයි.

පාරම්පරික ජනශ්‍රැති අධ්‍යයනයේ දී කුඹල් කර්මාන්තය හා සම්බන්ධ ප්‍රස්තාව පිරුළු සංග්‍රහ කොට ඇති ආකාරය අපූරු ය.

> යන යකා කොරහ බිඳගෙන ගියා වගේ.
> කුඹලා හමසක් තැළූ වළං, පොල්ල ඇති මිනිහාට එක පාර ය.
> පිරුණු කළේ දිය නො සැලේ.
> අඩු කළේ දිය සෙලවෙයි.
> ඇතා වැහැරුණත් කොරහේ නාවන්ට බැහැ.
> හදිස්සියට කොරහෙත් අත දාන්න බැහැ.

වාණිජකරණය නිසා පරිහානියට පත් දේශීය කලා සම්ප්‍රදාය රැක ගැනීමේ අගය කුමාරස්වාමි නිරන්තරයෙන් වටහා දුන්නේ ය.

පෙරදිග සභ්‍යත්වයේ හරය සොයා යන ගමනේ දී 1906 අවසාන භාගයේ දී ඔහු ඉන්දියාවට පැමිණ ඉන්දීය කලාවේ විවිධ අංශ පිළිබඳව කරන ලද පර්යේෂණ ලෝකයේ උගතුන්ගේ මහත් අවධානයට ලක් විය. ශ්‍රී ලංකාවේ, ඉන්දියාවේ පමණක් නොව පාකිස්තානය, නේපාලය, ටිබෙටය, මියන්මාරය, තායිලන්තය, කාම්බෝජය, ජාවා, සුමාත්‍රා හා වියට්නාමය ආදි රටවල කලා ශිල්ප ද ඔහුගේ අධ්‍යයනයට බඳුන් විය. ඔහුගේ **ඉන්දීය හා ඉන්දුනීසියානු කලා ඉතිහාසය** නම් මාහැඟි ග්‍රන්ථය ඊට සාක්ෂි සපයයි.

ශාස්ත්‍රීය සේවයට කැප වූ විද්වතකු වන කුමාරස්වාමි ඉංගිරිසි, ප්‍රංස, ජර්මානු, ලතින්, ග්‍රීක, සංස්කෘත, පාලි, සිංහල, දෙමළ, හින්දු, ඉතාලි, ස්පාඤ්ඤ, ඕලන්ද, පර්සියන් ආදි භාෂා ගණනාවක් දැන සිටියේ ය. ඔහු ඇතැම් ග්‍රන්ථ ලියුවේ ප්‍රංස, ජර්මානු හා ඉතාලි බසිනි. කුමාරස්වාමි පෙර'පර දෙදිග භාෂා හැදෑරුවේ භාෂා විශාරදයකු වීමට නො ව, පෙරදිග සංස්කෘතිය අධ්‍යයනය කිරීම උදෙසා ය.

කුමාරස්වාමිගේ ශාස්ත්‍රීය අධ්‍යයන එක් විෂය ක්ෂේත්‍රයකට සීමා නොවීම නිසා සෙසු විද්වතුන් අතර ඔහු සුවිශේෂ වෙයි. පෙරදිග දර්ශනය, ආධ්‍යාත්මික විද්‍යාව, ආගම, ප්‍රතිමා කලාව, සාහිත්‍යය, සංගීතය, භූගර්භ විද්‍යාව, වාස්තු විද්‍යාව, සාම්ප්‍රදායික දැනුම හා ජනශ්‍රැති ඔහුගේ අධ්‍යයනයට ලක් වූ විවිධ ක්ෂේත්‍රයෝ ය. මේ විෂයයන් සඳහා ඔහු ලියූ ග්‍රන්ථ

පනහකට ආසන්න ය. මේවා ලොව විවිධ රටවල දී මුද්‍රණය කොට ප්‍රකාශයට පත්ව ඇත. **ඉන්දීය කලාවන්ගේ පරමාර්ථ** (1908), **පෙරදිග පණිවිඩය** (1908) **කලාව සහ ස්වදේශිකත්වය** (1914), **ඉන්දීය චිත්‍ර** (1912), **විශ්වකර්ම** (1914), **ඉන්දීය සංගීතය** (1924) **බෞද්ධ ප්‍රතිමා කලාවේ මූලධර්ම** (1935), **ආසියාතික කලාව** (1938) **වේදය හැදෑරීමට නව මගක්** (1933) යනු එයින් කීපයක් පමණි.

මේ හැර, ලංකාවේ මෙන් ම ලෝකයේ වෙනත් රටවල පුවත්පත් හා සඟරා සඳහා ඔහු ලියූ ලිපි සංඛ්‍යාව 400කට ආසන්න ය.

විවිධ රටවල කලා ගවේෂණයෙහි යෙදුණ ද ඔහුගේ නිත්‍ය වාසස්ථානය වූයේ එංගලන්තය යි. එහෙත් 1914න් ඇරඹි පළමු වැනි ලෝක සංග්‍රාමයේ ගිනිදැල් ඇවිළෙමින් තිබුණු වකවානුවේ ඔහුට එංගලන්තය හැර දමා යැමට සිදු විය. ඒ එංගලන්තය මිත්‍ර සන්ධානයට සිය උපරිම දායකත්වය ලබා දීමේ අරමුණෙන් නිර්මාණය කරමින් සිටි විශාල ස්වේච්ඡා හමුදාවට බැඳීම ඒ වන විට 39 වන වියේ පසු වූ කුමාරස්වාමි ප්‍රතික්ෂේප කිරීම හේතුවෙනි. කලාගාරයක් බඳු ඔහුගේ නිවෙස ඇතුළු සියලු දේපළ මේ නිසා රාජසන්තක කෙරිණි.

එතැන් පටන් ඔහුගේ ජීවිතය ගත වූයේ ඇමෙරිකාවේ ය. උතුරු ඉන්දියාවේ කළ සංචාරයේ දී රැස් කර ගත් පුරාවස්තු හා සිතුවම් සුරක්ෂිතව තැන්පත් කිරීමට ඇමෙරිකාවේ බොස්ටන් නුවර ලලිත කලා කෞතුකාගාරයේ ඔහුට ඉඩ ලැබිණ. 1917 සිට එහි පෙරදිග අංශයේ භාරකාරත්වය ද කුමාරස්වාමිට පැවරිණි.

ඔහුගේ අවසන් වසර දහය වෛදික සාහිත්‍යය සඳහා වෙන් විය. ඒ පිළිබඳ සොයා ගත් අලුත් කරුණු ඇතුළත් ග්‍රන්ථ රැසක් ඔහු ලිවී ය.

සිය ජීවිතයේ අවසාන කාලය ඉන්දියාවට ගොස් හිමාලයේ හෝ ටිබෙටයේ ජීවත් වීමට අපේක්ෂාවෙන් සිටියත් එම අදහස මුදුන් පත් වීමට පෙර ම 1947 සැප්තැම්බර් 19 වැනි දින ආනන්ද කුමාරස්වාමි අභාවප්‍රාප්ත විය.

අපේ රටේ පමණක් නොව, ආසියාවේ ම සංස්කෘතික රටාවේ අගය ඔහු ලොවට වටහා දුන්නේ ය. මේ උතුම් කාර්යය වෙනුවෙන් ඔහුගේ මුළු ජීවිත කාලය ම කැප කෙරිණි.

ආනන්ද කුමාරස්වාමිගේ සුවිසල් මෙහෙවර අගයනු වස් ඉන්දියාව ද ශ්‍රී ලංකාව ද සමරු මුද්දර දෙකක් නිකුත් කළේ ය. කොළඹ ග්‍රීන්පාත්හි ප්‍රධාන මාවතක් **ආනන්ද කුමාරස්වාමි මාවත** ලෙස නම් කොට ඇත්තේ ඔහුට උපහාරයක් ලෙසිනි.

1952 දී ලන්ඩනයේ පවත්වනු ලැබූ කුමාරස්වාමි අනුස්මරණ දේශනයේ දී කියැවුණේ මුළු ලෝකයේ ම ආචාර්ය ආනන්ද කුමාරස්වාමි තරම් විවිධ විෂයයන් ගැන කෘතීන් ප්‍රකාශයට පැමිණවූ විද්වත්හු වෙත් නම් ඒ ඉතා ස්වල්ප දෙනකු බව යි.

## අවබෝධය

1. පාසල් ජීවිතයේ දී ආනන්ද කුමාරස්වාමි ශිෂ්‍යයා ඉගෙනීමට අමතරව දස්කම් පෑ ක්ෂේත්‍ර මොනවා ද?
2. ආනන්ද කුමාරස්වාමි පාසල් අවධියේ සඟරාවලට ලිපි සැපයූ විෂය ක්ෂේත්‍රය කුමක් ද?
3. බටහිර සංස්කෘතියේ බලපෑමට ලක් වූ ලාංකිකයන්ට ඉන් මිදීම සඳහා ආනන්ද කුමාරස්වාමි මහතා විසින් යෝජනා කරන ලද ක්‍රියා මාර්ග දෙක සඳහන් කරන්න.
4. ලංකාවේ සංස්කෘතිය අලළා කුමාරස්වාමි මහතා ලියූ අගනා ග්‍රන්ථය කුමක් ද?
5. “ලාංකිකයකු වූ ආනන්ද කුමාරස්වාමි පෙරදිග මෙන් ම අපරදිග ලෝකයේ ද ගෞරවාදරයට ලක් වූ විද්වතෙකි,” යන්න සනාථ කරමින් ඔබේ අදහස් දක්වන්න.



# මාතෘකානුකූල කථා

ආනන්ද කුමාරස්වාමි මහතා පාසල් කාලයෙහි දී පටන් කතාවෙහි දක්ෂයෙක් විය. එම නිසා ඔහු පාසලේ සාහිත්‍ය සංගමයේ මෙන් ම විවාද කණ්ඩායමේ ද සාමාජිකයෙක් විය. පසු කාලයේ විවිධ විෂයයන් ඔස්සේ ඔහු විසින් කරන ලද දේශන දෙස් විදෙස්හි බොහෝ දෙනාගේ සිත් ගත්තේ ය.

කථා කිරීම හෙවත් කථන හැකියාව අධ්‍යාපනයේ ම කොටසකි. පාසල් ජීවිතයේ දී එම හැකියාව වැඩිදියුණු කර ගැනීමේ අවස්ථා ඔබට ලැබේ.

මාතෘකාවක් ඔස්සේ කල් ඇතිව සූදානම් වී හෝ ක්ෂණිකව හෝ කතාවක් පැවැත්වීමේ දී පහත සඳහන් කරුණු කෙරෙහි ඔබේ අවධානය යොමු විය යුතුය.

- ★ මාතෘකාවට අදාළව කරුණු ඉදිරිපත් කිරීම
- ★ වචන පැහැදිලිව හා නිවැරදිව උච්චාරණය කිරීම
- ★ කරුණු තහවුරු කිරීම සඳහා උචිත සේ අංග චලනය යොදා ගැනීම
- ★ එකම කරුණ නැවත නැවත ඉදිරිපත් නොකිරීම
- ★ කතාවේ සන්දර්භය (අන්තර්ගතය) සිත් ගන්නාසුලු වීම
- ★ ආවේගයෙන් තොරව සංයමයෙන් කරුණු දැක්වීම
- ★ නියමිත කාලයට කතාව සීමා කිරීම



# කර්තෘ කාරක හා කර්ම කාරක වාක්‍ය

කිසියම් අදහසක් ලේඛනයේ දී ඉදිරිපත් කෙරෙන්නේ 'වාක්‍ය' මගිනි. පහත සඳහන් වාක්‍ය දෙස බලන්න.

ආනන්ද කුමාරස්වාමි මහතා ග්‍රන්ථ රැසක් **ලිවී** ය.

ආනන්ද කුමාරස්වාමි මහතා විසින් ග්‍රන්ථ රැසක් **ලියනු ලැබී** ය.

මේ වාක්‍ය දෙකෙහි ම ඉදිරිපත් වන්නේ එක් අදහසකි. එහෙත් එම අදහස ඉදිරිපත් වී ඇති ආකාරය වෙනස් ය. ඊට හේතුව වාක්‍යයන්හි කර්තෘ කාරක හා කර්ම කාරක භේදය යි.

## කර්තෘ කාරක වාක්‍ය

කර්තෘ කාරක වාක්‍යවල ක්‍රියාව කරන්නාට හෙවත් කර්තෘට අනුව ආඛ්‍යාතය හෙවත් අවසාන ක්‍රියාව තැබෙයි.

මම පොතක් **කියවමි.**

වෙළෙන්දා බඩු **විකුණයි.**

ගොවීහු කුඹුර **වපුරති.**

ගුරුතුමිය පාඩම **ඉගැන්වූවා ය.**

විදුහල්පතිතුමා ශිෂ්‍ය නායකයන් **ඇමතී ය.**

දෙමාපියෝ දරුවන්ට ඔවා **දුන්හ.**

මේ වාක්‍යවල කියවමි, විකුණයි, වපුරති, ඉගැන්වූවා ය, ඇමතී ය, දුන්හ යන අවසාන ක්‍රියා පද මගින් එම ක්‍රියාවන් කරන්නා හෝ කරන්නෝ කියැවෙති. ඒ අනුව මම, වෙළෙන්දා, ගොවීහු, ගුරුතුමිය, විදුහල්පතිතුමා හා දෙමාපියෝ යන පද පිළිවෙළින් මේ වාක්‍යවල උක්ත පද වේ. ඉහත වාක්‍යවල ඇතුළත් පොතක්, බඩු, කුඹුර, පාඩම, ශිෂ්‍ය නායකයන් හා ඔවා යන පද කර්ම පද හෙවත් අනුක්ත පද වෙයි.

## කර්ම කාරක වාක්‍ය

කර්ම කාරක වාක්‍යවල දී උක්ත වන්නේ අනුක්ත පද හෙවත් කර්ම පද යි. ආඛ්‍යාතය හෙවත් අවසාන ක්‍රියාව තැබිය යුත්තේ ද උක්ත වූ කර්ම පදයට අනුකූලව ය. ඒ අනුව ඉහත කර්තෘ කාරක වාක්‍ය, කර්ම කාරක වාක්‍ය බවට පත් වන්නේ මෙසේ ය.

මා විසින් **පොතක් කියවනු** ලැබේ.

වෙළෙන්දා විසින් **බඩු විකිණෙයි.**

ගොවීන් විසින් **කුඹුර** වැපිරෙයි.

ගුරුතුමිය විසින් **පාඩම උගන්වනු** ලැබී ය.

විදුහල්පතිතුමා විසින් **ශිෂ්‍ය නායකයෝ අමතනු** ලැබූහ.

දෙමවුපියන් විසින් දරුවන්ට **ඔවා දෙනු** ලැබී ය.

කර්තෘ කාරක වාක්‍යයක් කර්ම කාරක වාක්‍යයක් බවට පත් කිරීමේ දී එහි වෙනස්කම් කීපයක් ම සිදු වෙයි. ඉහත දැක්වූ එක් වාක්‍යයක් ඇසුරෙන් එම වෙනස වටහා ගනිමු.

කර්තෘ කාරක - **විදුහල්පතිතුමා** ශිෂ්‍ය නායකයන් **ඇමතී ය.**

කර්ම කාරක - විදුහල්පතිතුමා විසින් **ශිෂ්‍ය නායකයෝ අමතනු ලැබූහ.**

| කර්තෘ කාරක වාක්‍ය | කර්ම කාරක වාක්‍ය |
|---|---|
| කර්ම පදය අනුක්ත වෙයි.<br>උදාහරණ - ශිෂ්‍ය නායකයන් | කර්ම පදය උක්ත වෙයි.<br>උදාහරණ - ශිෂ්‍ය නායකයෝ |
| උක්තයට අනුව ආඛ්‍යාතය තැබෙයි.<br>උදාහරණ - විදුහල්පතිතුමා - ඇමතී ය. | උක්තයට අනුව ආඛ්‍යාතය තැබෙයි.<br>උදාහරණ - ශිෂ්‍ය නායකයෝ අමතනු ලැබූහ. |
| කර්තෘ පදය උක්ත වෙයි.<br>උදාහරණ - විදුහල්පතිතුමා | කර්තෘ අනුක්තව 'විසින්' යන නිපාතය සමග යෙදේ.<br>උදාහරණ - විදුහල්පතිතුමා විසින් |

සිංහලයේ කර්ම කාරක ක්‍රියා පද රූප, ක්‍රම දෙකකින් සකස් වේ. 'බලයි' යන ක්‍රියා පදයේ වර්තමාන හා අතීත කර්ම කාරක ක්‍රියා පද සකස් වී ඇත්තේ මෙසේ ය.

**වර්තමාන කාලය**

| පුරුෂය | ඒක වචන | | බහු වචන | |
|---|---|---|---|---|
| | කර්තෘ කාරක | කර්ම කාරක | කර්තෘ කාරක | කර්ම කාරක |
| ප්‍රථම පුරුෂ | බලයි | බැලේ<br>බැලෙයි<br>බලනු ලබයි<br>බලනු ලැබෙයි | බලති | බැලෙති<br>බලනු ලබති<br>බලනු ලැබෙති<br>බලනු ලබත්<br>බලනු ලැබෙත් |
| මධ්‍යම පුරුෂ | බලහි | බැලෙහි<br>බලනු ලබහි<br>බලනු ලැබෙහි | බලහු | බැලෙහු<br>බලනු ලබහු<br>බලනු ලැබෙහු |
| උත්තම පුරුෂ | බලමි | බැලෙමි<br>බලනු ලබමි<br>බලනු ලැබෙමි | බලමු | බැලෙමු<br>බලනු ලබමු<br>බලනු ලැබෙමු |

අතීත කාලය

| පුරුෂය | ඒක වචන | | බහු වචන | |
|---|---|---|---|---|
| | කර්තෘ කාරක | කර්ම කාරක | කර්තෘ කාරක | කර්ම කාරක |
| ප්‍රථම පුරුෂ | බැලී ය<br>බැලුවේ ය<br>බැලුවා ය | බැලිණි<br>බැලුණේ ය<br>බලන ලදි<br>බලනු ලැබුවේ ය<br>බලනු ලැබුවා ය<br>බලන ලද්දේ ය<br>බලන ලද්දී ය | බැලූහ<br>බැලුවෝ ය<br>බැලුවාහ<br>බැලුවාහු ය | බැලුණු<br>බැලුණෝ ය<br>බැලුණාහ<br>බලනු ලැබූහ<br>බලනු ලැබුවාහ<br>බලනු ලැබුවෝ ය<br>බලනු ලැබුණෝ ය<br>බලන ලදහ<br>බලන ලද්දාහ<br>බලන ලද්දෝ ය |
| මධ්‍යම පුරුෂ | බැලීහි | බැලිණිහි<br>බලනු ලැබුවෙහි<br>බලන ලදහි<br>බලන ලද්දෙහි | බැලූහු<br>බැලුවෙහු | බැලුණුහු<br>බැලුණෙහු<br>බලනු ලැබුවෙහු<br>බලන ලදහු<br>බලන ලද්දෙහු |
| උත්තම පුරුෂ | බැලීමි | බැලිණිමි<br>බලනු ලැබුවෙමි<br>බලන ලදිමි<br>බලන ලද්දෙමි | බැලීමු<br>බැලුවෙමු | බැලුණුමු<br>බැලුණෙමු<br>බලනු ලැබුවෙමු<br>බලන ලදුමු<br>බලන ලද්දෙමු |

සෙසු ක්‍රියා පදවල රූප ද මේ ආකාරයෙන් සකස් කර ගත හැකි වේ.

කර්තෘ කාරක වාක්‍යයක් කර්ම කාරක බවට පත් කිරීමේ දී පුරුෂ භේදය, කාල භේදය හා වචන භේදයට අනුව සුදුසු ක්‍රියා පදයක් තෝරා ගත යුතු වෙයි. එසේ ම ප්‍රථම පුරුෂ, අතීත කාල, ඒක වචන ක්‍රියා පදවල දී ලිංග භේදය ගැන ද සැලකිල්ල දැක්විය යුතු ය.

## ලිඛිත අභ්‍යාස

1. **පහත දී ඇති වාක්‍ය කර්ම කාරකයට හරවන්න.**

   i. සමනලයා මල් පැණි බොයි.
   ii. ගොවීහු එළවළු වගා කරති.
   iii. අපි පෙරහර නැරඹුවෙමු.
   iv. මව දරුවා නැළවූවා ය.
   v. කම්කරුවෝ පාලම ඉදි කළහ.
   vi. ශිෂ්‍ය නායිකාවක් උදේ රැස්වීම මෙහෙයවයි.
   vii. ඔවුහු අප සුහදව පිළිගත්හ.
   viii. පොලිස් භටයෙක් සොරකු ලුහුබඳියි.

2. **පහත දැක්වෙන වාක්‍ය කර්තෘ කාරකයට හරවන්න.**

   1. රියැදුරා විසින් රථය පණ ගන්වන ලදි.
   2. මා විසින් කථාවක් පවත්වන ලද්දේ ය.
   3. මවුපියන් විසින් දරුවෝ ආරක්ෂා කෙරෙති.
   4. පඬිවරුන් විසින් ශාස්ත්‍රීය ග්‍රන්ථ ලියැවිණි.
   5. ඔවුන් විසින් මම හඳුනා ගනු ලැබීමි.
   6. සංවිධායකයන් විසින් අපි පිළිගනු ලැබූමු.
   7. ජනාධිපතිතුමා විසින් ත්‍රිවිධ හමුදා ප්‍රධානීහු පත් කරනු ලබති.

## ප්‍රායෝගික අභ්‍යාස

1. ආනන්ද කුමාරස්වාමිගෙන් ශාස්ත්‍රීය හා කලා ක්ෂේත්‍රවලට සිදු වූ සේවාව පිළිබඳ කෙටි ඇගයීමක් කරන්න.

2. **පහත සඳහන් මාතෘකා අතුරින් ඔබ කැමැති මාතෘකාවක් ඔස්සේ පන්ති කාමරය හෝ සාහිත්‍ය සමිතිය ඉදිරියේ කතාවක් පවත්වන්න** (ගුරුතුමා හෝ ගුරුතුමියගේ අනුමැතියෙන් කාලය තීරණය කර ගන්න).

| | |
|---|---|
| අපේ කලා ශිල්ප | ජල සම්පතෙහි අගය |
| පරිසරය රැක ගනිමු | ගුරු ඔවදන් පිළිපදිමු |
| මගෙන් රටට ඉටු විය යුතු දේ | ඉගෙනීමේ වටිනාකම |
| සිංහල ජන කවිය | අපට උරුම සාරධර්ම |



# 13

# හොඳ ළමයා නුවණිනී
# හොඳ දේ තෝරා ගනී

ළමයින්ගේ කියවීම සඳහා සම්පාදනය කෙරෙන ගද්‍ය, පද්‍ය, නාට්‍ය ආදි නිර්මාණ ළමා සාහිත්‍ය නිර්මාණ ලෙස හැඳින්වේ. අකුරු හුරු වන අවධියේ සිට අවුරුදු දොළහ පමණ දක්වා දරුවන් උදෙසා රචනා කෙරෙන කෘති මේ ගණයට අයත් වේ. අදාළ වයස් මට්ටමේ දරුවන්ට උචිත භාෂා භාවිතය හා අද්දැකීම් භාවිතය මෙහි දී අතිශය වැදගත් වේ. දරුවන්ගේ භාෂා ඥානය හා වාක්කෝෂය පුළුල් කිරීම ද ළමා සාහිත්‍යයෙන් අපේක්ෂිත ය. සිංහල ළමා සාහිත්‍ය නිර්මාණ පිළිබඳව ඔබට මේ පාඩමෙන් යම් කිසි අවබෝධයක් ලබා ගත හැකි ය.

| | | |
|---|---|---|
| දරුවන් හට මහත් | - | තැතක් නැති වැ මැ වැටැහෙන |
| උන්ගේ සිත් පුබුදුවන | - | ඇඟපත නිකම් නටවන |
| යහළුවන් සමගින් | - | සසඳන්ට පොලඹවන |
| උන් කියවනු ඇසූ | - | වැඩිහිටියවුන් පහදවන |
| විසිතුරු පබැඳුමෙකි | - | එ වයසට කිවියෙක් නම් |

යනුවෙන් කුමාරතුංග මුනිදාසයන් කර ඇති විවරණය ළමා සාහිත්‍යයේ ලක්ෂණ මනාව ප්‍රකට කරයි. සරල, රසවත්, ළමා ජීවිත හැඩ ගැස්වීමට මග පෙන්වන, ළමයින් වෙනුවෙන් රචනා කර ඇති නිර්මාණ, උසස් ළමා සාහිත්‍ය නිර්මාණ ගණයෙහි ලා සැලකිය හැකි ය.

පැරණි සාහිත්‍යයෙහි ළමා කවි ගී සේ අපට හමු වනුයේ කෙළි සෙල්ලම් පිණිස යොදා ගත්, පොදු ජනයා විසින් මුඛ පරම්පරාගතව පවත්වා ගෙන ආ නිර්මාණ යි. නිදසුන් ලෙස "නුඹෙ අම්මා කිරට ගියා කිරි එරවා එන්ට ගියා", "ටිකිරි ටිකිරි ටිකිරි ලියා - කළෙත් අරන් ළිඳට ගියා", "අතුරු මිතුරු දඹදිව තුරු රාජ කපුරු සෙට්ටියා", "කොප්පර කොප්පර පිපිඤ්ඤා" වැනි කුඩා කල අප කවුරුත් රස විඳි කවි දැක්විය හැකි ය. මහදැනමුත්තාගේ කතා, අන්දරේගේ කතා ද මෙසේ ජන වහර ඔස්සේ ළමයින් අතර ප්‍රකට විය.

ළමයකු ගැන ලියැවුණු, සිංහලයේ එන පැරණි ම පද්‍ය නිර්මාණය ලෙස සැලකෙන්නේ තොටගමුවේ ශ්‍රී රාහුල හිමියන්ගේ **කාව්‍යශේඛරයෙහි** එන සේනක පඬිතුමාගේ ළදරු විය විස්තර කිරීමට යොදා ගත් පහත කවිය යි. ශ්‍රී රාහුල හිමියන් මේ කවියෙන් ව්‍යංග්‍යාර්ථයෙන් නිරූපණය කර ඇත්තේ උන් වහන්සේ රාජ මාලිගයෙහි ගෙවූ කුඩා කාලය යයි මතයක් ද ඇත.

| | |
|---|---|
| දත් කැකුළු | පාලා |
| සුරතල් සිනා | සීලා |
| බොළඳ බස් | දීලා |
| කෙළී සියොලඟ දූලි | ගාලා |

මේ කුඩා කවිය දණගාමින් ඇවිදින සුරතල් දරුවකුගේ චිත්‍රයක් මවා පෑමට සමත් වෙයි. එහි වදන් සරල ය; සුගම ය. ඇතැමුන් කවි තැනීමේ දී විරිත රැක ගැනීමට යොදන අනවශ්‍ය වදන් කිසිවක් මෙහි නැත. වදන් ගළපා ඇත්තේ පැහැදිලිව නිරවුල්ව අදහස ප්‍රකාශ වන පරිදි ය. මෙවැනි ම කවියක් රාහුල හිමියන් කුඩා කල කියූ බව ජනශ්‍රැතියෙහි ද එයි. කුඩා කුමරුන් සිරි පැරකුම්බා රජතුමා වෙත පැමිණවූ අවස්ථාවේ රජු ඔහුගේ සුවදුක් විචාරා කවියක් කියන්නැයි කී විට මේ කවිය හිටිවන ම කී බව සඳහන් වේ.

| | |
|---|---|
| මා වැනි | බිලින්දා |
| වර වර ළඟට | කැන්දා |
| දුක් සැප | කුමන්දා |
| අසන නිරිඳෝ වෙන | කොයින්දා |

සිංහල ළමා සාහිත්‍යයක් පිළිබඳ පැහැදිලි සාධක අපට හමු වන්නේ විසි වන සියවසේ සිට ය. යටත් විජිත සමයේ අධ්‍යාපනය පිළිබඳව වර්ධනය වූ ප්‍රබෝධය ළමා සාහිත්‍ය නිර්මාණ බිහි වීමට මූලිකව බල පෑ බව වියතුන්ගේ මතය යි. ළමයින් සඳහා ප්‍රථම සිංහල මුද්‍රිත කෘතිය ලෙස සැලකෙන්නේ ඩබ්. වී. අන්දිරිස් අප්පුහාමි ලියූ **හෝඩි පොත** යි. ළමයින්ගේ ප්‍රාථමික අධ්‍යාපනය සඳහා ලියැවුණු **බාලාවබෝධනය, නන්දන හෝඩි පොත, නොදන්නා හෝඩි පොත** ආදි හෝඩි පොත් ඇසුරෙන් නූතන සිංහල ළමා සාහිත්‍යය ඇරඹුණු බව විශ්වාස කෙරේ. පන්ති කාමරයේ කියවන පොත්වලට අමතරව අතිරේක කියවීම් සඳහා පොත් බිහි වීම ඔස්සේ සිංහල ළමා සාහිත්‍යය වර්ධනය විය.

1915 දී ඒ. රෙජිනෝල්ඩ් විසින් **අභිනව අරාබි නිසොල්ලාසය** නමින් ද 1916 දී ඩී. ජේ. කුලතිලක විසින් **අලිබබා සහ හොරු හතළිහ** නමින් ද ළමා පරිවර්තන කෘති එළිදක්වා තිබේ. එමගින් ළමයින්ට අද්භූත රසයෙන් පිරි කතා සමීප කරවීමට ඔවුන් උත්සාහ ගෙන තිබිණි. 1927 දී චාර්ලිස් කරුණාතිලක **මගේ සිරිත** ද ඩබ්. ශ්‍රී ධීරාලංකාර **ළමා කවි මල්දම** ද 1929 දී ආනන්ද රාජකරුණා **ළදරු ගී** ද වී. ඩබ්. සමරනායක **ළමා පහන** නමින් ද ළමා පද්‍ය කෘති එළිදක්වා තිබේ. ළමා ගද්‍ය සාහිත්‍ය සම්ප්‍රදාය අරම්භ වීමට පෙරාතුව ළමා පද්‍ය සම්ප්‍රදාය ක්‍රමිකව වර්ධනය විය. නූතන ළමා ගද්‍ය සාහිත්‍යයේ පුරෝගාමියා ලෙස සැලකිය හැක්කේ වී. ඩී. ද ලැනරෝල් ය. **අන්දරේ හෙවත් රජවාසල කවටයා, මහදැනමුත්තා සහ ගෝල පිරිස, ඇලඩින්ගේ පුදුම පහන, අලිබබා හා හොරු හතළිහ, පද්මාවතී** වැනි ළමා සාහිත්‍ය කෘති ගණනාවක් ඔහු රචනා කර ඇත්තේ අතිරේක කියවීම් පොත් වශයෙනි. ඇතැම් කෘති සඳහා විදේශීය සාහිත්‍යයේ ආභාසය ද ලැබී ඇත.

ළමා කාව්‍යයෙන් හා ළමා කතාවෙන් ආරම්භ වූ නූතන සිංහල ළමා ප්‍රබන්ධ සාහිත්‍යය අනතුරුව සාහිත්‍යයේ එක් ප්‍රවර්ගයක් ලෙස වර්ධනය වූයේ ළමා ගීත, ළමා නාට්‍ය ආදි අනුප්‍රභේද ගණනාවක් ද එක් කර ගනිමිනි. ආරම්භයේ සිට නූතනය දක්වා ලියැවුණු ළමා සාහිත්‍ය කෘති සංඛ්‍යාව බොහෝ ය.

සිංහල ළමා සාහිත්‍යයේ ආරම්භක අවධියේ දායකත්වය සැපයූ නිර්මාණකරුවන් ලෙස වී. ඩී. ද ලැනරෝල්, තියඩෝර් ජී. පෙරේරා, ආනන්ද රාජකරුණා, මාරි මියුසියස්, කුමාරතුංග මුනිදාස, ටී. එස්. ධර්මබන්ධු, හියුබත් දිසානායක, ඇලෙක්සැන්ඩර් වැලිවිට, මාර්ටින් වික්‍රමසිංහ, පී. ඩී. ඇස්. වීරසූරිය, අලවු ඉසි සැබිහෙළ, චන්ද්‍රරත්න මානවසිංහ, කරුණාරත්න අබේසේකර ආදීන් හඳුනා ගත හැකි ය.

ආනන්ද රාජකරුණා නූතන ළමා කවියේ මෙන් ම ගීයේ ද පුරෝගාමී රචකයා ය. **ළදරු ගී, ළමා උයන, ළදරු කවි, ළදරු කවි මග** හා **ළදරු කව් මී** වැනි කාව්‍ය ග්‍රන්ථ රචනා කළ ආනන්ද රාජකරුණා ළමා ලෝකය හා ළමා මනස මනාව හඳුනා ගත් රචකයෙකි. **රෝස මලේ නටුවෙ කටු, දිලිහි දිලිහි ආකාසේ** වැනි ප්‍රකට ළමා කවි මගින් ඔහුගේ කුසලතාව පිළිබිඹු වේ. පහත දැක්වෙන්නේ ද ඔහුගේ නිර්මාණයකි.

මේ හිරු - රැස් වැටී
ලා උදේ ලස්සන
මල් පිපී - ලා අහෝ
මේ ගහේ ලස්සන

රොන් පැණි - බොන්නට මී
මැස්සි ආ ලස්සන
ලෝකයේ - මල් නැතොත්
කොයි ද මේ ලස්සන

**කව්මිණ, කව්මුතු, ළමා කව් කළඹ, ඔවා මුතුදම, නන්දන ගීත,** දරු නැළවිල්ල හෙවත් **ජාතික තොටිල්ල** වැනි ළමා පද්‍ය සංග්‍රහ රාශියක් රචනා කළ ඇස්. මහින්ද හිමි ළමා සාහිත්‍යයේ අධ්‍යාපනික පරමාර්ථ ද මනාව හඳුනා ගත් රචකයෙකි. **මුනි සිරිපා සිඹිමින්නේ, සමන්පිච්ච මල් ඉහිරුණු** ආදි ළමා කවි නූතන ළමා පරපුර අතර ද එක සේ ජනප්‍රිය වීමෙන් පැහැදිලි වන්නේ උන් වහන්සේගේ අසහාය කවිත්වය යි. ළමා කාව්‍යයට කවි කතා ආකෘතිය ද හඳුන්වා දුන් මහින්ද හිමි, ළමා සිතුවිලි දේශවාත්සල්‍යයෙන් ඔප්නැංවීමට ළමා කවිය උපයෝගි කර ගත්තේ ය.

ජාතිය රන් විමනක් වේ
ආගම මිණි පහනක් වේ
එය රැක ගන්නට මෙලොවේ
සමත් වෙතොත් පුත නුඹ වේ

සරල බස් වහරක් භාවිතයෙන් ළමා සිතට ගැඹුරු අදහසක් ලබා දීමට උන් වහන්සේ දරා ඇති උත්සාහය පහත නිර්මාණයෙන් ප්‍රකට කෙරේ:

මොනව ද මුත්තේ මොක ද කරන්නේ
මොකටද උඹ ඔය බිම හාරන්නේ

උඹටත් ළමයෝ නොපෙනෙයි නොසිතමි
අඹ ඇටයක් සිටුවන්නට හාරමි

දුක සේ සිටුවා අඹ ඇටයක් අද
එක අඹයක් වත් කන්න ලැබේවි ද

මම ළමයෝ මින් අඹයක් නොපතමි
යුතුකම පමණක් ඉටු කොට තබනෙමි

යහපත් ළමයකු සතු විය යුතු ගතිගුණ ළමා මනසට ගැළපෙන පරිදි ප්‍රතිනිර්මාණයට මහින්ද හිමි කටයුතු කළේ ය. පහත කවිය ඊට නිදසුනකි.

මල්වල සුම්හිරි පැණී
ඇද බොන බමරා මෙනී
හොඳ ළමයා නුවණිනී
හොඳ දේ තෝරා ගනී

**හීන්සැරය, මඟුල් කෑම, හත්පණ** නම් වූ ප්‍රකට ළමා ගද්‍ය සාහිත්‍ය කෘති රචනා කළ කුමාරතුංග මුනිදාස මහතා ළමා පද්‍ය සාහිත්‍යයට ද ප්‍රාමාණික මෙහෙවරක් ඉටු කළ රචකයෙකි. **හාවාගේ වග, නැළවිල්ල, සිරිමත්, මල් බස්, වෙළෙන්දී** වැනි ළමා පද්‍ය නිර්මාණ කිහිපයෙන් වුව ඔහුගේ ප්‍රතිභාව විශද වේ. කුමාරතුංග හුදු උපදේශාත්මක ළමා කතා රචනයෙන් බැහැර වූ, ස්වතන්ත්‍ර ළමා සාහිත්‍ය කලාවක අගය හඳුනා ගත්, ළමා මනෝවිද්‍යා සංකල්ප ද විශිෂ්ට ලෙස අවබෝධ කර ගැනීමේ හැකියාවෙන් යුත් අයකු බව ඔහුගේ නිර්මාණාවලිය විමසා බැලීමෙන් පසක් වෙයි.

ගස වතු සුදු
වී පිරිසිදු
පොහොය නැතිදු
සිල්ගත් බඳු

දවසක් රා ටිකක්
ලැබ බීමත්ව මීයෙක්
බළලා වී මතක්
මෙසේ කීයේ උඩඟු වදනක්

ජී. බී සේනානායක, මහගම සේකර, ජයරත්න සමරසේකර, සුනිල් ජයවීර, කේ. ජයතිලක, ඩබ්ලියු. ඒ. අබේසිංහ, ගුණසේන විතාන ආදීන් ද ළමා සාහිත්‍යයට දායකත්වය සපයා ඇත. සිංහල ළමා සාහිත්‍ය නිර්මාණ විදේශීය භාෂාවලට පරිවර්තනය වීම මෙන් ම එම නිර්මාණ විදේශීය සම්මානවලට පාත්‍ර වීම ද සිංහල ළමා සාහිත්‍යයේ සුවිශේෂ කඩ ඉමක් ලෙස හඳුනා ගත හැකි ය. මේ වන විට ද ළමා සාහිත්‍යකරණයේ නිරතව සිටින සිබිල් වෙත්තසිංහගේ කෘති ගණනාවක් චීනය, ජපානය, කොරියාව, පිලිපීනය, නෝර්වේ, ස්වීඩනය, ඩෙන්මාර්කය, ඇමෙරිකාව ඇතුළු රටවල් රාශියක භාෂා ගණනාවකට පරිවර්තනය වී තිබේ. ඇයගේ **කුඩහොරා, වෙසක් පහන, දුවන රැවුළ** යන ළමා සාහිත්‍ය කෘති අන්තර්ජාතික සම්මාන රැසකින් පිදුම් ලැබී ය.

ළමා කතා, ළමා කාව්‍ය, ළමා ගීත සංග්‍රහ, ළමා කවි කතා, ළමා නාට්‍ය වශයෙන් අනුප්‍රභේදවලට වර්ග කළ හැකි ළමා සාහිත්‍ය කෘතිවලින් නූතන සිංහල ළමා සාහිත්‍යය පෝෂණය වී තිබේ.

ළමා සාහිත්‍යයේ වස්තු විෂය ගහකොළ, සතුන් ආදි අවට පරිසරය, ස්වභාවික වස්තු, එදිනෙදා ජීවන අද්දැකීම්, විවිධ පුද්ගලයන්, සුරංගනාවන්, රාක්ෂසයන් ආදි පුළුල් ක්ෂේත්‍රයක පැතිර පවතී. මනඃකල්පිත වස්තු ළමා සාහිත්‍යයේ දී ප්‍රබල ලෙස භාවිත කෙරෙයි.

> දරුවාගේ ලෝකයේ වලාකුළු කතා කරයි. ගස්ගල්වලට ද වේදනාව දැනෙයි. කුරුලු සිවුපාවුන්ට ද අපට තේරෙන බසක් ඇත. අපේ බස උන්ට ද වැටහෙයි. ගංගාවලට ද දිය ඇලිවලට ද සිත් පිත් ඇත. හිරු සඳු මෙන් ම සුවහසක් තාරකාවෝ ද දරුවන්ගේ මිතුරෝ වෙති. විෂය ලෝකය හා දරුවාගේ ඇති මේ බැඳීම අනිවාර්ය වූ ද ස්වාභාවික වූ ද බැඳීමකි.
>
> **ඩබ්ලියු. ඒ. අබේසිංහ**

ළමා ලොවෙහි දී සතුන් කතා කරන අතර, අචේතනික වස්තූහු සප්‍රාණිකත්වය ලබති. රත්න ශ්‍රී විජේසිංහගේ **සින්දු කියන උණ පඳුර** කෘතියේ උණ පඳුර සජීව චරිතයක් බවට පත් වෙයි.

> තම දිවි බේරා දීම ගැන සතුටින් ඉපිල උණ පඳුර උද්දාමයෙන් දලුකොළ සලමින් සිටියා. සුළඟත් එක්ක සෙල්ලම් කළා. උණපඳුර දෙසින් ගීතයක් වැනි සිහින් හඬක් ඇසෙන්නට වුණා.

ඔහුගේ ම **ගඟ ළඟ** දී පද්‍ය පන්තියෙහි එන මෙය ද එබඳු තවත් නිදසුනකි.

> කුඹුක් අත්ත ගඟට වැටී
> වතුර අත ගගා
> දැක්ක ද පැණි කුරුල්ලෙකුට
> වතුර ඉහිනවා
>
> - **සැලළිහිණියෝ**

ස්වභාව ධර්මයේ විවිධ සංසිද්ධි ද ළමා සාහිත්‍ය නිර්මාණයේ දී ප්‍රබල වස්තු විෂය බවට පත් වෙයි. ඩබ්ලියු. ඒ අබේසිංහගේ නිර්මාණවලින් උපුටා ගන්නා ලද පහත නිදර්ශන බලන්න.

> හිරු මඬලට පාර ද මේ
> සඳ මඬලට පාර ද මේ
> කිරි මුහුදට පාර ද මේ
> කියන්න දේදුන්නේ...

> වලාකුළේ රන් පාටට
> විදුලි කොටනවා
> ආකාසේ හඬ තළමින්
> අකුණු හඬනවා

ළමයින්ට වඩාත් සමීප චරිතයක් වන 'අම්මා' ද ළමා සාහිත්‍යයේ නිරන්තරයෙන් අපට හමු වෙයි.

මුහුදක කිරි දුන් අම්මා
මිහිකත දුක් දැරූ අම්මා
රන් සමනොළ ගිර මුදුනේ
සිරිපා පද්මය අම්මා

මතු දා බෝසත් වෙම්මා
කර පිට හිඳුවමි අම්මා
රුදු සත් සමුදුර පීනා
එතෙර කරන්නෙමි අම්මා

- **ඩබ්ලියු. ඒ. අබේසිංහ**

ගෙයින් ගෙයට ගෙදර බුදුන්
අම්මා යැයි කියනවා
බුදු සමිඳුට වඳින ලෙසින්
දෑත නඟා වඳිනවා
සිතේ උපන් කරුණාවට
රන් කිරි බිඳු එරෙනවා
එරන් කිරේ සුවඳ ලබා
අපි ලෝකය දිනනවා

- **ලක්ෂ්මන් කහටපිටිය**

පරිසරය හා ළමයා අතර සබඳතාව ගොඩ නැංවීමේ ලා ළමා සාහිත්‍යයේ කාර්යභාරය සුවිශේෂ වේ. පරිසරයේ අන්‍ය වස්තූන් තමා හා සමානව සැලකීමට ළමයා පොලඹවන සාහිත්‍ය නිර්මාණ ළමයා පරිසරයට ආදරය කරන මිනිසකු බවට පත් කරයි. පරිසරයට පමණක් නොව තමා උපන් බිමට හිතැති පුරවැසියකු සේ ළමයාගේ පෞරුෂය වර්ධනය කිරීමට ළමා සාහිත්‍යයේ දායකත්වය වැදගත් වේ. එස්. මහින්ද හිමියන්ගේ දේශාභිමානී නිර්මාණ මෙයට නිදසුන් කළ හැකි ය. මහගම සේකරගේ **සරු පොළොවක් අපට ඇතේ** කෘතිය ද ළමා සිත්වල අප රටේ පරිසරය, ජීවන රටාව, විශ්වාස ආදිය පිළිබඳව හැඟීමක් ජනනය කරයි.

පාට පාට මැණික් ජාති
පසට යටින් කැටි වේ
රත්න දීප පොළොව තුළින්
ධන නිධාන මතු වේ

පලා පැහැය හැම කල්හි ම
රැඳී දිලෙන පොළොවේ
ඉවත දමන දඬුව වුව ද
දලු ලා යළි පැළ වේ

සමනොළ හිම කඳු මුදුනේ
සිරිපා සලකුණ ඇඳී
ජාතිය එකමුතු කරවයි
සම කරුණාවෙන් බැඳී

ඉරු දෙවි මුහුදින් ඇදී
සමනොළ කන්දට වඳී
එතකොට මුළු ලංකාව ම
දිලිහෙයි ලස්සන වෙවී

- **මහගම සේකර**

ළමා මනසෙහි රසිකත්වය දියුණු කිරීම පමණක් නො ව, පිරිපුන් පෞරුෂයක් ගොඩ නැගීම උදෙසා ද ළමා සාහිත්‍යයේ කාර්යභාරය අනභිභවනීය වේ. කෙසේ වුව ද හුදු රසාස්වාදයට සීමා වීම මෙන් ම නීරස ලෙස උපදේශාත්මක වීම ද ළමා සාහිත්‍ය නිර්මාණයක ගුණාත්මකභාවය හීන කරවයි. ළමා ලෝකය රසයෙන් පුරවමින් වඩා හරවත් ජීවිතයකට මගපෙන්වන ළමා සාහිත්‍ය නිර්මාණ රස විඳිමු.

විල් ජලයේ ගොහොරු මඩේ
සුදු රතු සියපත් පිපේ

අවලස්සන කොවුලු තුඩේ
පන්සිළු වෙණ නද නැගේ

කැත බෙල්ලකු කුස ඇතුළේ
සුදු මුතු ඇටයක් වැඩේ

හොඳ ළමයින් මුතු වගේ ය
හොඳ ගුණ දම් මුතු අගේ ය

- ඩබ්ලියු. ඒ. අබේසිංහ

## අවබෝධය

1. ළමයින් සඳහා කියැවුණු පැරණි ම පද්‍ය නිර්මාණය හමු වන්නේ කිනම් ග්‍රන්ථයක ද? එය රචනා කළේ කවුද?
2. ළමා නිර්මාණ සඳහා පාදක කරගෙන ඇති වස්තූන් කීපයක් පාඩමෙන් සොයා ලියන්න.
3. ළමා සාහිත්‍ය නිර්මාණ සඳහා යොදා ගන්නා බස් වහර කෙබඳු විය යුතු ද?
4. පහත වචනවල තේරුම ඔබේ වචනයෙන් ලියන්න.

   i. දේශවාත්සල්‍යය
   ii. පරිවර්තනය
   iii. අචේතනික
   iv. පුරෝගාමියා
   v. ජනශ්‍රැතිය



# තනි පද

විවිධ අර්ථ සහිත පද කිහිපයකින් යුක්ත යෙදුමක් හෝ වාක්‍යාංශයක් සඳහා ඒ වෙනුවට යෙදිය හැකි, ඒ අර්ථ සියල්ල කැටි කොට ගත් ප්‍රකාශයකින් යුක්ත පද, තනි පද ලෙස හැඳින්වේ. එමගින් අදහස් රාශියක් ඉක්මනින් හුවමාරු කර ගැනීමට හැකි වන අතර භාෂාවේ සංක්ෂිප්තභාවය ද ආරක්ෂා වේ.

උදාහරණ:

| | |
|---|---|
| අනුන් විසින් පෝෂණය කළ | පරපුටු |
| අවුරුද්දක් පාසා පැවැත්වෙන | සාංවත්සරික |
| උසට ගැළපෙන මහතින් යුත් | ආරෝහපරිණාහ |
| කැලෑවේ ඉබේ හටගන්නා ගින්න | ළැව්ගින්න |
| කිසිවකුට දෙවැනි නොවන | අද්විතීය |
| කිසි ම ප්‍රයෝජනයකට නැති | නිෂ්ප්‍රයෝජන |
| කෙළෙහි ගුණ නොසලකන | අකෘතඥ |
| ගලින් නිමවන ලද | ශෛලමය |
| දියෙහි උපන්නා වූ | ජලජ |
| දුරදිග බලා කටයුතු කරන | දූරදර්ශී |



# බහු අර්ථ පද

සිංහල භාෂාවේ ඇතැම් වචනවල අර්ථයක්, දෙකක් හෝ ඊට වැඩි ප්‍රමාණයක් තිබිය හැකි ය. එක් පදයකින් බොහෝ අර්ථ නිරූපණය කළ හැකි විට එය බහු අර්ථවත් පදයක් ලෙස දැක්විය හැකි ය. මෙහි විශේෂත්වය වන්නේ එක ම පදය, එක ම වාක්‍යය තුළ වුවත් වෙනත් වෙනත් අර්ථ ප්‍රකාශ කිරීම සඳහා යොදා ගැනීම යි. ඒ අනුව මෙබඳු පදවලින් ප්‍රකාශ වන නිශ්චිත අර්ථය නිවැරදිව අවබෝධ කර ගැනීමට නම් එම වචනය යෙදී ඇති වාක්‍ය පරිසරය ද අවබෝධ කර ගත යුතු ය.

උදාහරණ:-




















# සවන් දී උගනිමු

භාෂාවක ඇති චතුර්විධ කුසලතා ලෙස සවන් දීම, කතා කිරීම, කියවීම හා ලිවීම හඳුන්වා දිය හැකි ය. ඒ අතරින් තොරතුරු ලබා ගැනීමේ මූලික ක්‍රමය වන්නේ සවන් දීම හෙවත් ශ්‍රවණය යි. සාවධානව සවන් දීම මගින් යහපත් රසාස්වාදයක් මෙන් ම නිවැරදි අවබෝධයක් ද ලබා ගත හැකි ය.

## ලිඛිත අභ්‍යාස

1. **ළමා සාහිත්‍ය නිර්මාණයක් කිරීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු මොනවා ද?**
2. **පහත දැක්වෙන එක් එක් කවියට ගැළපෙන තවත් කවිය බැගින් නිර්මාණය කරන්න.**

i. අහස පුරා නිල් කහ දම්
පාට හතයි දේදුන්නට
හරි පුදුමයි කවුද ඇන්දෙ
ලස්සන දේදුන්න

ii. උදේ පිපෙන මල් අපී
රෑයේ පිපෙන මල් අපී
උදේ රෑයේ පිපී නටන
පාට සුවඳ මල් අපී

iii. හෝ හොහෝ හඬ නගයි
නිදියන්නෙ නෑ වගෙයි
රැළි නැගෙයි පෙණ ඉහෙයි
මුහුද නම් හරි දඟයි

3. **පහත දැක්වෙන පද සඳහා යෙදෙන බහු අර්ථ පද, දී ඇති පදවලින් තෝරා ලියන්න.**

**පිය, මුව, තෙර, වස්, සමය**

| | | |
|---|---|---|
| මුඛය | තාත්තා | යුගය |
| වර්ෂය | ආගම | ප්‍රිය |
| මුවා | සඳහා | තීරය |
| පියවර | වයස | වෙරළ |
| ස්ථවිර | මුහුණ | |

4. **නොගැළපෙන වචනය තෝරන්න.**

i. සඳ, කාලය, චන්ද්‍රයා, උතුම්, දාන

ii. දද, කිලිටි, බමුණු, කොඩි, කුණ්ඨ

iii. පොළොව, මීයා, මීපැණි, මදුවිත, මිනිසා

iv. සමර, අනංගයා, ජය, සිහිකිරීම, පාට වර්ගයක්

v. මල, කිලිටි, දැවීම, මල්ලී, පුෂ්පය

5. **පහත පදවලට බහු අර්ථ පද සොයා ලියන්න.**

i. තිර ii. සක්

iii. පර iv. පත්

6. **පහත සඳහන් වාක්‍යාංශවලට තනි පද ලියන්න.**

i. කාලයට උචිත -

ii. බොහෝ ඇසූ පිරූ තැන් ඇති -

iii. දියෙහි හැසිරෙන -

iv. අඩක් සාගරයෙන් ද ඉතිරිය ගොඩබිමින් ද වට වූ ප්‍රදේශය -

v. අහසත් පොළොවත් එකට ගැවෙන සේ පෙනෙන ස්ථානය -

vi. පාද බොහෝ ගණනක් ඇති -

vii අනුන්ගෙන් පෝෂණය වන -

viii. දිය ගොඩ දෙකෙහි ම වසන -

## ප්‍රායෝගික අභ්‍යාස

1. ළමා ගීත ඇතුළත් ශ්‍රව්‍ය සංයුක්ත තැටි අසා රස විඳින්න.
2. ඔබ සිත් ගත් ළමා ගී එකතු කරන්න.
3. ඒවායේ නිර්මාණකරුවන් පිළිබඳ තොරතුරු විමසන්න.
4. විවිධ තේමා යටතේ විකාශනය වන ගුවන්විදුලි වැඩසටහන් කීපයකට හොඳින් සවන් දී, ඒ ඒ වැඩසටහන් පිළිබඳ තොරතුරු වෙන වෙන ම පහත වගුවට අනුව ගොනු කරන්න. සවන් දුන් සියලු වැඩසටහන් පිළිබඳ ගොනුවක් සකසා පන්ති කාමරයේ දී මිතුරන් සමග හුවමාරු කර ගනිමින් අවබෝධ කර ගන්න.

| | |
|---|---|
| ගුවන්විදුලි නාලිකාව | |
| වැඩසටහනේ නම | |
| ප්‍රචාරය වූ වේලාව | |
| උගත් කරුණු | |



# 14

# කඨින පූජෝත්සවය

බෞද්ධ පූජෝත්සව අතර කඨින පින්කමට හිමි වන්නේ විශේෂ ස්ථානයකි. කඨින යන පදය ‘තද’, ‘බලගතු’, ‘බලවත්’ යන අර්ථය දෙන පදයකි. කඨින පින්කමෙන් ලැබෙන ආනිශංස අනෙකුත් පින්කම්වලින් ලැබෙන ආනිශංසවලට වඩා බලවත් ලෙස සැලකීම මේ පින්කමට ‘කඨින’ යන නාමය ලැබීමට හේතුව ලෙස සැලකේ. සංස්කෘතිය හා සාරධර්ම හඳුනා ගනිමින් සහජීවනය හා ජාතිකාභිමානය ගොඩනගා ගැනීම උදෙසා අවස්ථාව සලසා දෙන මේ පාඩම, වල්පොළ රාහුල හිමියන්ගේ ‘ලංකාවේ බුදු සමයෙහි ඉතිහාසය’, ‘සත්‍යෝදය ලිපි එකතුව’ සහ මහාචාර්ය ජේ. බී. දිසානායකගේ ‘සිංහල සිරිත් විරිත්’ යන කෘති ආධාර කර ගනිමින් රචනා වූවකි.

කඨින පින්කම සිදු කෙරෙන්නේ වස් කාලය කේන්ද්‍ර කරගෙන යි. වස් යනුවෙන් අදහස් වන්නේ වර්ෂාව යි. වස් කාලය යනු වර්ෂා කාලය ලෙස ගැනේ. වස් කාලයේ දී වස් විසීමේ චාරිත්‍රය මුලින් ම ඇති වුණේ සිද්ධාර්ථ ගෞතමයන් වහන්සේගේ බුද්ධත්වයෙන් වසර විස්සකට පසුව ය. තදින් වැසි ඇදහැලෙන වස් කාලයේ දී භික්ෂූන් වහන්සේ චාරිකාවේ යෙදෙන විට අලුතින් දලු ලා වැඩෙන තණකොළ ආදියත් පොළොවෙන් උඩට මතු වන සතුනුත් පෑගෙන බවට අන්‍යාගමිකයන් වෙතින් නැගුණු චෝදනා භික්ෂූන් වහන්සේගෙන් දැනගත් බුදු රජාණන් වහන්සේ

“අනුජානාමි භික්ඛවේ වස්සානේ වස්සං උපගන්තුං”
(මහණෙනි, වස්සාන කාලයේ වස් විසීමට අවසර දෙමි.)

යනුවෙන් විනය නීතියක් පැනවූ සේක. මෙයින් පැහැදිලි වන වැදගත් කරුණක් වන්නේ බුදුරජාණන් වහන්සේ අන්‍යාගමිකයන්ගේ අදහස් ද සලකා බලමින් ආගම් අතර සහජීවනය පවත්වාගෙන යෑමට කටයුතු කළ බව යි.

වස් විසීම අනුදැන වදාරන්නට බලපෑ තවත් හේතුවක් වෙයි. යන්ත්‍ර සූත්‍රවලින් රෙදි වියන වර්තමානයේ මෙන් නො ව අතීතයේ දී රෙදි පිළි ඉතා දුර්ලභ විය. ඒ නිසා ම භික්ෂූන් වහන්සේට සිවුරු සුලභ නො වී ය. ඇතැම් භික්ෂූන් වහන්සේ දැඩි වර්ෂාවෙන් තෙමී, දිය බේරෙන සිවුරු ඇතිව, විහාරයට පැමිණ, මාරු කිරීමට වෙනත් සිවුරක් නැති නිසා ඒ තෙතබරිත සිවුර පිටින් ම දවස ගෙවති. එය ශරීර සෞඛ්‍යයට හිතකර නො වේ. වස් කාලයේ දී භික්ෂූන් වහන්සේට එක් තැනක වැඩ විසීමට නියම කිරීමට මේ තත්ත්වය ද සැලකිල්ලට ගැනුණු බව කියවේ.

මෙසේ ආරම්භ වූ වස් විසීම දෙවිධියකින් සිදු වේ. ඒ ‘පෙර වස්’ හා ‘පසු වස්’ යනුවෙනි. ‘පෙර වස්’ වසන භික්ෂූන් වහන්සේ ඇසළ පුර පසළොස්වක පොහොය දින වස් සමාදන් වෙති. එදින සිට තුන් මසක් ගෙවුණු පසු වස් කාලය අවසන් වෙයි. මේ තුන් මාසයට පසුව එළඹෙන්නේ චීවර මාසය යි. මේ මාසය එනමින් හැඳින්වීමට හේතුව ‘පෙර වස්’ විසූ භික්ෂූන් වහන්සේට කඨින චීවරය පිළිගැන්වෙන්නේ මේ මාසයේ දී වන බැවිනි.

පසු වස් වසන භික්ෂූන් වහන්සේ වස් සමාදන් වන්නේ ඇසළ මසට පසු එළඹෙන නිකිණි මස පුර පසළොස්වක පෝ දින සිට ය. සාමාන්‍යයෙන් වස් ආරාධනාව සිදු කෙරෙන්නේ ගමේ හතර පේරුව නියෝජනය කරමින් එක් දායකයකු විසිනි. ඔහු ඇසළ පෝ දිනට පෙර දිනක පන්සලට ගොස් පන්සලේ හාමුදුරුවන්ට මේ ආරාධනය කරයි. ඒ ගමනේ දී වැසි සළුව නම් වූ සුදු රෙදි කඩක් ද රැගෙන යනු ලැබේ. අදාළ දායකයා බුලත් කොළ තුනකින් ගොටුවක් සාදා එය වැසි සළුව මත තබා නායක හාමුදුරුවන්ට පිළිගන්වා ‘අප කෙරෙහි අනුකම්පාවෙන් මේ ආරාමයේ වස් වසන’ මෙන් උන් වහන්සේට ඇරයුම් කරයි.

වස් ආරාධනාවේ දී වැසි සළු පූජා කිරීම අතීතයේ සිට ම සිදු කෙරෙන චාරිත්‍රයකි. වැසි සළු පූජා කිරීම සෑම ප්‍රදේශයක ම පාහේ සිදු කෙරුණ ද වස් ආරාධනා කිරීම ප්‍රදේශයෙන් ප්‍රදේශයට වෙනස් ආකාරවලින් සිදු කරනු දැකිය හැකි ය. වස් කාලය ඇතුළත නොයෙක් වස් පින්කම් පන්සලේ දී පැවැත්වෙයි. මල් පූජා, ගිලන්පස පූජා, බෝධි පූජා, ධර්ම දේශනා ආදිය මේ අතර වෙයි. කඨින පින්කම මේ සියලු පින්කම් අතුරින් ප්‍රධාන පින්කම වෙයි. මේ පින්කමේ දී විශේෂයෙන් සිදු වන්නේ පෙර වස් විසූ භික්ෂූන් වහන්සේට කඨින චීවරයක් පූජා කිරීම යි.

කඨින චීවර පූජා කර්මය අනෙකුත් චීවර පූජා කර්මවලට වඩා බලවත් පුණ්‍ය කර්මයක් වන බව බෞද්ධ පිළිගැනීම යි. ඊට හේතුව මේ පින්කම එක් විහාරස්ථානයක සිදු කළ හැකි වන්නේ වසරකට එක් වරක් පමණක් වීම යි. ඒ නිසා ම කඨින චීවරය පිළියෙල කිරීමට ගමේ සියලු දෙනා ම සම්මාදන් වෙති. කඨින පින්කම භාර ගත් දායකයාගේ නිවෙසට ගොස් එම චීවරය සකස් කිරීම වෙනුවෙන් පුණ්‍යාධාර කිරීම වර්තමානයේ පවා දක්නට ලැබේ.

කඨින චීවරය සකස් කිරීමට යොදා ගැනෙන වස්ත්‍රය අදාළ දායකයාගේ නිවෙසේ සිට පන්සලට ගෙන යනු ලබන්නේ විශේෂ පෙරහැරකිනි. මෙය කඨින පෙරහැර නමින් හැඳින්වේ. කඨින පෙරහැර අදාළ විහාරස්ථානයට අයත් සතර පේරුවේ ම මංමාවත්වල ගමන් කිරීම සාමාන්‍ය සිරිත යි. ඒ නිසා පෙරහැර ගමන් කරන එම මාවත් ගම්වැසියන් විසින් පිරිසිදු කරනු ලැබේ. මාර්ගය අවහිර කරන ගස් වැල් කපා එළි පෙහෙළි කොට තණකොළ උගුල්වා පවිත්‍ර කිරීම සියලු දෙනා අතින් ම සිදු වන්නේ ආගම් භේදයක් නොතකා ය. වීථි දෙපස ඇති සියලු නිවෙස්වල බෞද්ධ කොඩියක් ඔසවනු ලැබේ. ආගම් භේදයකින් තොරව මග දෙපස ඇති සියලු නිවෙස් විදුලි බුබුළුවලින් සැරසීම වූ කලී වර්තමාන ආගමික සහජීවනයේ ප්‍රතිඵලයක් වැනි ය.

කඨින පෙරහැර ආරම්භ වන්නේ උදේ පාන්දර ය. කඨිනය භාර ගත් දායකයාගේ නිවෙසේ සිට ඇරඹෙන මේ පෙරහැරේ දී කඨින වස්ත්‍රය හිස මත තබා ගත් දායකයා උඩු වියනක් යටින් ගමන් කරයි. පෙරහර යන අතරමග දී තම කැමැත්ත පරිදි එක් එක් පුද්ගලයෝ මේ වස්ත්‍රය හිස මතින් ගෙන යති. කඨින වස්ත්‍රය පන්සල කරා ගෙන යෑමට තමනුත් සම්මාදම් වීම මහඟු පුණ්‍යකර්මයක් ලෙස ඔවුහු සලකති.

අතීතයේ දී උණ බටවලින් සැකසූ පන්දම් එළියෙන් හෝ ලන්තෑරුම් එළියෙන් ගමන් කළ සරල පෙරහැරක් වූ මෙය වර්තමානය වන විට විචිත්‍රවත් පෙරහැරක් බවට පත්ව ඇත. පෙර දී සැදැහැති උපාසක උපාසිකාවන්ගේ සාධු නාදය, මල් වට්ටි රැගත් ළමයින්ගේ ශාන්ත ගමන් විලාසය ආදියෙන් පමණක් සමන්විත වූ කඨින පෙරහැරට වර්තමානය වන විට කසකරුවන්, ගිනිබෝලකරුවන්, නර්තන ශිල්පීන්, බෙර වාදකයන්, මල් බයිසිකල්කරුවන් පමණක් නො ව ඇතැම් විට හස්තීන් පවා එක් වී ඇති අයුරු දැක ගත හැකි ය.

කඨින පෙරහැරේ ගමන් කිරීමෙන් වෙහෙසට පත් වූවන්ගේ වෙහෙස නිවීම පිණිස ඇතැම්හු සිසිල් පැන්, තේ, කෝපි ආදි නොයෙක් දන්සල් පවත්වති. පෙරහැරේ ගමන් කරන්නන්ගේ විඩා නිවා ගැනීමට මෙවැනි දන්සල් මහගු පිටුබලයක් වෙයි.

පෙරහර තම නිවෙස අසලින් ගමන් කරන විට පන්සලට අවශ්‍ය යම් දෙයක් පූජා කිරීම හෝ ඒවා රැගෙන පෙරහැරට එක් වීම ගම්වැසියන්ගේ සිරිත යි. කඨින පෙරහැර පන්සලට ළඟා වන විට පන්සල් බිම සැදැහැතියන්ගෙන් පිරී යයි. ඇතැම් විහාරස්ථානවල ඊට පෙර දිනයෙහි සර්ව රාත්‍රික පරිත්‍රාණ ධර්ම දේශනාවක් ද පැවැත්වීම චාරිත්‍රයකි. මේ පිරිතේ අවසානය හා පෙරහැර පන්සලට ඇතුළු වීම එක ම විටක සිදු වෙයි. ඒ මොහොත 'කොස් නැටි පේන වෙලාව' හෝ 'දහසක් බුදුන් බුදු වන පාන්දර' ලෙස ගැමි ව්‍යවහාරයේ සඳහන් වෙයි. කඨින පෙරහැර ලංකාවේ විවිධ ප්‍රදේශවල නොයෙක් ආකාරයෙන් පැවැත්වේ. ඇතැම් පළාතක මේ පෙරහැර රාත්‍රිය මුළුල්ලේ ම ගම පුරා ගමන් කරනු දක්නට ලැබේ. කඨින වස්ත්‍රය ගෙන යෑමෙහි ද වෙනස්කම් පවතී. ඇතැම් ප්‍රදේශවල සිදු කෙරෙන්නේ පන්සලට අවශ්‍ය බඩු ද පෙර දින පන්සලට ගොස්, එහි ඇති කප්රුක නමින් සකසන ලද විශේෂිත වූ කෘත්‍රිම ගසක එල්ලීම යි.

පන්සලට භාර දුන් කඨින වස්ත්‍රය එම දවස ඇතුළත කපා, මසා, පඬු ගසා, වේළා ගැනෙන විහාරස්ථාන ද වෙයි. ඇතැම් විහාරස්ථානයක මේ සියලු කටයුතු කෙරෙන්නේ භික්ෂූන් වහන්සේ අතිනි. චීවරය මසා නිම කළ පසු ඊට පඬු පෙවීම සිදු කෙරේ. තද කහටක් සහිත නුග, වරකා වැනි ගස්වල පට්ටා යොදා ගෙන පඬු ගසනු ලැබේ. පඬු ගැසූ කඨින චීවරය භික්ෂූන් වහන්සේ මධ්‍යයෙහි තබා පුද්ගල නාමයකින් තොරව, සාංඝිකව පූජා කිරීම සිදු වේ. මේ පූජාව පිළිගත් භික්ෂූන් වහන්සේ පෙර වස් විසූ, වස් ආරක්ෂා කර ගත්, සුදුසුකම් සම්පූර්ණ කළ එක් භික්ෂු නමකට මේ චීවරය පවරති.





කඨින චීවරය පූජා කිරීමට පෙර, එම විහාරස්ථානයේ වස් විසූ සෑම ස්වාමීන් වහන්සේ නමකට ම සිවුරු පූජා කිරීමක් සිදු වේ. එසේ පූජා කෙරෙන සිවුරු ‘වස්සාවාසික චීවර’ නමින් හඳුන්වනු ලැබේ.

කඨින පින්කම සිදු කෙරෙන දින දහවල් අදාළ විහාරස්ථානයේ දී භික්ෂූන් වහන්සේ විෂයයෙහි පිරිනැමෙන දානය කඨින දානය යි. එම විහාරස්ථානයෙහි වස් විසූ භික්ෂූන් වහන්සේ මෙන් ම විහාරාධිපති ස්වාමීන් වහන්සේගේ ආරාධනය පරිදි, අවට සෙසු විහාරස්ථානවලින් වඩින භික්ෂූන් වහන්සේ ද මේ දානය සඳහා සහභාගි වෙති. ගමේ සතර පේරුවේ දායක දායිකාවෝ කලින් භාරගත් පරිදි විවිධ ආහාර වර්ග සකසා ගෙනැවිත් මේ දානය උදෙසා පූජා කරති. අවසානයේ සෑම භික්ෂූන් වහන්සේ නමකට ම පිරිකර ද පූජා කරනු ලැබේ. ඉතා සහයෝගයෙන් කඨින දානයේ කටයුතු නිම කිරීමට ගම්වැසියෝ වග බලා ගනිති. ගම්වැසියන් සියලු දෙනා ම ඉතා උනන්දුවෙන් හා උද්යෝගයෙන් කඨින පෙරහැරටත් කඨින දානයටත් සහභාගී වීම වූ කලි ඔවුනතර පවතින සහජීවනය ප්‍රදර්ශනය වන අවස්ථාවකි.

දායක දායිකාවෝ නැවත සවස් භාගයේ දී විහාරස්ථානයට එක්රැස් වෙති. ඒ ‘කඨිනානිශංස ධර්ම දේශනාව’ ශ්‍රවණය කිරීමට යි. කඨින චීවරය හිමි වූ ස්වාමීන් වහන්සේ එම චීවරය හැඳ පෙරවා ධර්ම ශාලාවට වැඩම කර, එම ධර්ම දේශනාව සිදු කරති. මේ ධර්ම දේශනාවෙන් කියවෙන්නේ කඨින පින්කමකින් සිදු වන අනුසස් පිළිබඳව යි. කඨිනානිශංස ධර්ම දේශනාවෙන් කඨින පූජෝත්සවය අවසාන වෙයි.

වස් කාලය සැලකෙන්නේ කුඩා සතකුට වත් හිංසාවක් නොවන, අහිංසාවාදී සමයක් ලෙස යි. මේ කාලය තුළ විහාරස්ථානයක වස් වසන භික්ෂූන් වහන්සේ ද විශාල කැප කිරීමක් කරති. පන්සලෙන් බැහැරට නොගොස්, එහි ම වැඩ වෙසෙමින්, තම පෞද්ගලික අවශ්‍යතා පසෙක ලා දායක දායිකාවන් වෙනුවෙන් විවිධ පින්කම් සිදු කිරීමට උන් වහන්සේ කටයුතු කරති. මේ කාලය තුළ යම් අවශ්‍යතාවකට පන්සලෙන් බැහැරට වැඩිය ද නැවත පැමිණෙන දිනය හෝ වේලාව තීරණය කර යෑමට භික්ෂූන් වහන්සේ ක්‍රියා කරති.

කඨින පින්කම අතීතයේ පටන් ලංකාවේ ප්‍රධාන පින්කමක් ලෙස සිදු කෙරුණු බවට සාධක සෙල්ලිපි ආශ්‍රයෙන් සපයා ගත හැකි ය. විහාරේගල සෙල්ලිපියෙහි ‘වැසි වසික භාටික’ යනුවෙන් වස් ආරාධනාවේ දී පූජා කෙරෙන වැසි සළු පිළිබඳ සඳහන් වෙයි. මීට අමතරව වස් කාලයේ දී භික්ෂූන් වහන්සේ අරියවංස නම් සූත්‍ර දේශනාවක් සිදු කළ බව තෝනිගල සහ ලබුඇටබැඳිගල සෙල්ලිපිවල සඳහන් වෙයි. මෙසේ අතීතයේ සිට ම පින්කමක් ලෙස වැදගත් ස්ථානයක් හිමි කර ගෙන ඇති කඨින පූජෝත්සවය බෞද්ධයාට වැඩදායි පුණ්‍යකර්මයක් ලෙස අගය කළ හැකි ය.

## අවබෝධය

1. බුදු රජාණන් වහන්සේ අන්‍යයන්ගේ මතවලට සවන් දුන් බව ප්‍රකට වන අවස්ථාවක් සඳහන් කරන්න.
2. වැසි සළුව පූජා කරන්නේ කුමක් සඳහා ද?
3. කඨින පින්කමේ දී අන්‍යාගමිකයන් අතර සුහදතාව ප්‍රදර්ශනය කෙරෙන අවස්ථාවක් දක්වන්න.
4. 'කඨින චීවරය' හා 'වස්සාවාසික චීවර' අතර ඇති වෙනස පැහැදිලි කරන්න.
5. "කඨින පින්කමේ දී ගම්වැසියන්ගේ එකමුතුකම වර්ධනය වෙයි" මේ පිළිබඳ ඔබේ අදහස් දක්වන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. ඔබ සහභාගි වූ කඨින පූජෝත්සවයක දී ලැබූ අද්දැකීම පිළිබඳ පන්තිය ඉදිරියේ කෙටි විස්තරයක් කරන්න.
2. ඔබේ වැඩිහිටියකුගෙන් අතීතයේ කඨින පින්කම් පැවැත්වූ ආකාරය පිළිබඳ අසා දැන ගන්න. වර්තමානයේ සහ අතීතයේ මේ පින්කමෙහි හඳුනා ගත හැකි වෙනස් ලක්ෂණ වගුවක සටහන් කරන්න.
3. අන්‍ය ආගමික ස්ථානයක පැවැත්වෙන උත්සවයක් නිරීක්ෂණය කොට, ඒ පිළිබඳ කුඩා ලිපියක් සකස් කරන්න.



# ප්‍රයෝජ්‍ය ක්‍රියා, අසම්භාව්‍ය ක්‍රියා

කිරීමක්, සිදුවීමක් හෝ විඳීමක් පිළිබඳ කියවෙන පද ක්‍රියා පද බවත්, එම පද අතුරින් වාක්‍යයක ආඛ්‍යාතය ලෙස යෙදෙන ක්‍රියා අවසාන ක්‍රියා බවත්, එසේ නොයෙදෙන ක්‍රියා අනවසාන ක්‍රියා බවත් මීට ඉහත ශ්‍රේණිවල දී විස්තරාත්මකව ඉගෙන ගෙන ඇත.




මේ ක්‍රියාපද අතුරින් අවසාන ක්‍රියා ගණයට අයත් විධි ක්‍රියා සහ ආශීර්වාද ක්‍රියා ද අනවසාන ක්‍රියා ගණයට අයත් පූර්ව ක්‍රියා සහ මිශ්‍ර ක්‍රියා ද පිළිබඳව ඔබ 7, 8 ශ්‍රේණිවල දී දැනුවත් වී තිබේ. මේ පාඩමෙන් අවසාන ක්‍රියාවලට අයත් වන ප්‍රයෝජ්‍ය ක්‍රියා සහ අනවසාන ක්‍රියාවලට අයත් වන අසම්භාව්‍ය ක්‍රියා පිළිබඳ විමසා බලනු ලැබේ.

## ප්‍රයෝජ්‍ය ක්‍රියා

1. ගුරුවරයා අකුරු ලියයි.
2. ගුරුවරයා ශිෂ්‍යයා ලවා අකුරු **ලියවයි.**

තමන් විසින් සිදු කරනු ලබන ක්‍රියා මෙන් ම අනුන් ලවා කරවනු ලබන ක්‍රියා විශේෂයක් ද සිංහල භාෂාවෙහි දක්නට ලැබේ. ඉහත පළමු වාක්‍යයෙන් තමන් විසින් කරනු ලබන ක්‍රියාවක් පිළිබඳව කියැවෙන අතර දෙවැනි වාක්‍යයෙන් වෙනත් අයකු ලවා කරවනු ලබන

ක්‍රියාවක් පිළිබඳව කියැවෙයි. එසේ අන් අයකු මෙහෙයවීමෙන් කරවනු ලබන ක්‍රියා, ප්‍රයෝජ්‍ය ක්‍රියා ලෙස හැඳින්වේ.

ක්‍රියා මූලයත් විභක්ති ප්‍රත්‍යයත් අතරට 'ව' ප්‍රත්‍යය යෙදීමෙන් ප්‍රයෝජ්‍ය ක්‍රියා නිර්මාණය වෙයි.

| ක්‍රියා මූලය | ප්‍රයෝජ්‍ය ක්‍රියා ප්‍රත්‍යය | ක්‍රියාවසාන ප්‍රත්‍යය |
|---|---|---|
| ලිය | ව | යි |
| කර | ව | ති |
| බල | ව | මි |
| නට | ව | මු |
| තන | ව | හු |

ප්‍රයෝජ්‍ය ක්‍රියාව පුරුෂත්‍රයෙහි, කාලත්‍රයෙහි හා ඒක වචන - බහු වචන දෙකෙහි ද කර්තෘ කාරක හා කර්ම කාරකයෙහි ද යෙදෙයි.

| | අනතීත | | අතීත | |
|---|---|---|---|---|
| | ඒක වචන | බහු වචන | ඒක වචන | බහු වචන |
| ප්‍රථම පුරුෂ | කරවයි | කරවති | කරවීය | කරවූහ |
| මධ්‍යම පුරුෂ | කරවහි | කරවහු | කරවීහි | කරවූහු |
| උත්තම පුරුෂ | කරවමි | කරවමු | කරවීමි | කරවූමු |

සමහර අවස්ථාවල දී එක ම ක්‍රියාව සඳහා ප්‍රයෝජ්‍ය ක්‍රියා රූප කිහිපයක් දක්නට ලැබෙන අයුරු ද හඳුනා ගත හැකි ය.

උදාහරණ:- රකියි - රක්වයි, රක්කයි, රක්කවයි
බසියි - බස්වයි, බස්සයි, බස්සවයි

ප්‍රයෝජ්‍ය ක්‍රියාවල දී අකර්මක ධාතු සකර්මක බවට පත් වේ.

| | (අ) | | (ආ) |
|---|---|---|---|
| උදාහරණ:- | මල්ලී අඬයි | - | අයියා මල්ලී අඬවයි |
| | දරුවා නායි | - | අම්මා දරුවා නාවයි |

(අ) යටතේ ඇති වාක්‍ය දෙක ම කර්ම පද නො යෙදුණු අකර්මක වාක්‍ය වේ. 'අඬයි' 'නායි' යන අකර්මක ක්‍රියා 'අඬවයි' හා 'නාවයි' යනුවෙන් ප්‍රයෝජ්‍ය ක්‍රියා බවට පත් කළ විට 'මල්ලී' සහ 'දරුවා' යන පද කර්ම පද බවට පත් වෙයි.

සකර්මක ක්‍රියා ප්‍රයෝජ්‍ය ක්‍රියා බවට පත් කිරීමේ දී බහු කර්මක වෙයි.

| | (අ) | | (ආ) |
|---|---|---|---|
| උදාහරණ:- | නංගී ගීත ගයයි | - | ගුරුතුමිය නංගී ලවා ගීත **ගයවයි** |
| | වඩුවා පුටුව සාදයි | - | තාත්තා වඩුවා ලවා පුටුව **සාදවයි.** |

(ආ) කාණ්ඩයට අයත් වාක්‍යවල දී 'නංගී' සහ 'ගීත' යන පදත් 'වඩුවා' සහ 'පුටුව' යන පදත් කර්ම පද බවට පත් ව ඇත. එබැවින් එම ප්‍රයෝජ්‍ය ක්‍රියා සහිත වාක්‍ය බහු කර්මක පද බවට පත්ව තිබෙන බව හඳුනා ගත හැකි ය.

## අසම්භාව්‍ය ක්‍රියා

අනවසාන ක්‍රියා ප්‍රභේදයක් වන අසම්භාව්‍ය ක්‍රියාවල ස්වරූප දෙකක් දක්නට ලැබේ.

1. කාලාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා
2. අනියමාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා

### කාලාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා

නිශ්චිත කාලසීමාවක් හැඟවෙන ක්‍රියා රූප කාලාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා ලෙස හැඳින්වෙයි.

උදාහරණ:- නිළියක **නටද්දී** ප්‍රේක්ෂකයෝ බලා සිටියහ.

මේ වාක්‍යයෙහි 'බලා සිටීම' සිදු වී ඇත්තේ නිළියක නැටීම සිදු වන විට ය. ඒ අනුව බලා සිටීමේ කාර්යය සිදු වූ නිශ්චිත කාලය කුමක් ද යන්න 'නටද්දී' යන ක්‍රියා රූපයෙන් කියවේ.

මේ ක්‍රියා රූප නිර්මාණය කර ගැනීම සඳහා පහත දැක්වෙන ප්‍රත්‍යය යෙදේ.

| | |
|---|---|
| ත | කියත |
| | කියත උන් මෙතෙපල ආයෙය ඇඳුරු ගුත්තිල |

| | |
|---|---|
| ත් | නැගෙත් |
| | හිරු **නැගෙත්** මල් පිපේ. |

| | |
|---|---|
| දී | සිටිය දී |
| | තාත්තා එතැන **සිටිය දී** මම ගෙදර ආවෙමි. |
| ද්දී | පැමිණෙද්දී |
| | මා නිවසට **පැමිණෙද්දී** අම්මා උයමින් සිටියා ය. |

| | |
|---|---|
| ම | ලැබුණා ම |
| | අක්කාගෙන් ලිපියක් **ලැබුණා ම** මටත් දන්වන්න. |

කෘදන්ත නාමයකට පසුව කාලවාචී පද යෙදීමෙන් ද කාලාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා නිර්මාණය වේ.

| | |
|---|---|
| විට | සීනු හඬ ඇසෙන **විට** ළමයි රැස්වීම් ශාලාවට පැමිණියහ. |
| කොට | මාමා ගෙදර එන **කොට** කුඩා පුතා ඉදිරියට දුවයි. |
| කල්හි | ලේඛකයන් පොත් ලියන **කල්හි** පාඨකයෝ සතුටු වෙති. |
| සඳ | දිගු කලකින් ඔවුනොවුන් මුණගැසුණු **සඳ** මිතුරෝ සතුටට පත් වූහ. |
| කල | දරුවා ශිල්ප උගත් **කල** දෙමවුපියෝ සතුටු වෙති. |

## අනියමාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා

කිසියම් ක්‍රියා රූපයක් මගින් අවිනිශ්චිත බවක් හැඟවෙන්නේ නම් එවැනි ක්‍රියා අනියමාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා නම් වේ.

උදාහරණ:- ශිෂ්‍යයන් පාසල් **ගියොත්** ගුරුවරු උගන්වති.
අමුත්තකු නිවෙසට **පැමිණියොත්** වැඩිහිටියකුට දන්වන්න.
ඔහු ලිපියක් **යැව්වත්** ලේකම්තුමා එයට පිළිතුරක් නොඑවී ය.

අනියමාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා නිර්මාණය වන ආකාර කිහිපයකි. ඒ සඳහා පහත සඳහන් ප්‍රත්‍යය යෙදේ.

| | |
|---|---|
| තු | ඔබ එය **කරතුදු** මම නො කරමි. |
| ත | යත බැරි නො වේ. |
| හොත් | මල්ලී එහි ගිය **හොත්** මම ද එහි යමි. |
| තොත් | ඔවුන් එසේ **කියතොත්** මම ද එය පිළිගනිමි. |
| ඔත් | ඔවුන් එසේ **කළොත්** අපි ද එය අනුගමනය කරමු. |
| ඔතින් | දරුවන් පාසල් **ගියොතින්** දෙමාපියෝ සතුටු වෙති. |

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් ක්‍රියා පද ප්‍රයෝජ්‍ය ක්‍රියා පද බවට හරවා අර්ථවත් වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.**

i. උයයි　　ii. කරමු　　iii. කඩයි

iv. බසිති　　v. කියමි

2. **කාලාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා පද යොදා වාක්‍ය දෙකක් වශයෙන් දී ඇති පහත සඳහන් වාක්‍ය තනි වාක්‍යයක් බවට පත් කරන්න.**

i. පාසලේ ආරම්භක සීනුව නාද විය. සිසුහු රැස්වීම් භූමිය කරා පිටත් වූහ.

ii. රෝගියා වේදනාවෙන් කෑගසයි. හෙදිය ඔහුට බෙහෙත් ලබා දෙයි.

iii. ගිලන් රථයේ හඬ ඇතින් ඇසිණි. රියැදුරෝ එම රථයට යෑමට ඉඩ සලසා දුන්හ.

iv. ක්‍රමයෙන් අඳුර පැතිරිණි. කුරුල්ලෝ කැදලි කරා පියඹා ගියහ.

v. ජාතික ගීය වාදනය කෙරිණි. සියල්ලෝ සීරුවෙන් සිටගත්හ.

3. **පහත සඳහන් ක්‍රියා පද අනියමාර්ථයේ අසම්භාව්‍ය ක්‍රියා පද බවට හරවා වාක්‍යය බැගින් නිර්මාණය කරන්න.**

i. වසියි　　ii. යයි　　iii. කියවයි

iv. අඬයි　　v. නළවයි

4. **පෙළපොතෙහි පාඩම් කිහිපයක් කියවා එම පාඩම්වල ඇතුළත් ප්‍රයෝජ්‍ය ක්‍රියා සහ අසම්භාව්‍ය ක්‍රියා වර්ග දෙකට අයත් පද තෝරා වගුවක සටහන් කරන්න.**



# 15 සිරම්බි අඩිය

විවිධ අවශ්‍යතා සඳහා වරින් වර අප රටට විවිධ ජන කොටස් සමූහ වශයෙන් ගෙන්වා ගැනුණු අවස්ථා වෙයි. එසේ පැමිණි ජන කොටස් අතුරෙන් සමහරෙක් මේ දිවයිනෙහි ස්ථිර පදිංචිකරුවන් බවට පත් වූහ. ඔවුන්ගෙන් සමහරකු සිය මුල් බස අත හැර සිංහලය මවු බස කොට ගත් අතර, ඇතැම් පිරිස් දිගින් දිගට ම සිය මුල් බස මෙරට දී ද ව්‍යවහාර කරන්නට වූහ. කල් යත් ම ඒ මුල් බසට සිංහල වචන එකතු වීම සිදු වූ අතර, මෑතක දී මුල් බස අත් හැර සිංහල හෝ දෙමළ භාෂා භාවිතය දැකිය හැකි ය.

පුත්තලම නගරයට නුදුරින් පිහිටා ඇති ‘සිරම්බි අඩිය’, විදේශ ජන සංක්‍රමණ හා භාෂා පරිණාමය පිළිබඳ අගනා තොරතුරු සමුදායක් අපට ලබා දෙන ජන කොටසක් වෙසෙන ගම්මානයකි.

මෙරටට පැමිණි පෘතුගීසි ජාතික ලොරෙන්සෝ ද අල්මේදා ප්‍රමුඛ හමුදාව විසින් 1505 දී මුහුදුබඩ ප්‍රදේශ අල්ලා ගනු ලැබී ය. වන දුර්ග, ගිරි දුර්ග හා ජල දුර්ග තරණය කොට රට අභ්‍යන්තරයට යෑමට පෘතුගීසින්ට දුෂ්කර විය. කැලෑබද කටුක දිවියක් ගෙවූ අප්‍රිකානුවන්ගේ සහාය ලබා ගැනීමට පෘතුගීසි හමුදාව පෙලඹිණි. මේ හේතුවෙන් "සිලෝන් කැෆ්ර්" ජනයාගේ ආදිතමයන් මෙරටට පැමිණෙන්නේ වහල් සිරකරුවන් ලෙස ය. පෘතුගීසීන් පමණක් නො ව ඉංග්‍රීසි ජාතිකයන්ගේ පාලන සමයේ 'කැෆ්ර්වරු' බහුල වශයෙන් වහල් සේවයට යොදා ගැනුණහ. මොසැම්බික් සම්භවයක් සහිත ඔවුහු දෙවැනි ලෝක යුද්ධ සමයේ යුද සෙබළුන් හා කඳවුරුවල ආවතේවකරුවන් ලෙස මේ රටට පැමිණියහ.

මේ ජනයාගේ පළමු ජනාවාසය සකස් වූයේ කොම්පඤ්ඤ වීදිය ආශ්‍රිතව ය. පසු කලෙක ඔවුහු විවිධ වෘත්තීන්ට බෙදී ගොස් විවිධ පළාත්වල පදිංචි වූහ. වර්තමානයේ 'සිලෝන් කැෆ්ර්වරුන්' බහුල ලෙස ජීවත් වන්නේ පුත්තලම නගරයේ සිට අනුරාධපුර මාර්ගයේ කි.මී. 3ක් ගිය තැන හමු වන 'සිරම්බි අඩිය' ප්‍රදේශයෙහි ය.

ඉංග්‍රීසි පාලන සමයෙහි කැෆ්ර්වරුන් අනුයුක්ත කරනු ලැබූ වෘත්ති කිහිපයක් විය. තැපැල් සේවය, පුත්තලම ලුණු ලේවායෙහි කටයුතු, ගම්මුලාදෑනි රාජකාරි ඒ අතර ප්‍රධාන වේ. ලංකාවේ තැපැල් සේවය ආරම්භ කළ වකවානුවෙහි මුලින් ම කොළඹ සිට පුත්තලමට, ත්‍රිකුණාමලයට, බදුල්ලට තැපැල් ගෙන යන ලද්දේ ඉංග්‍රීසි ආණ්ඩුවට සේවය කළ කැෆ්ර් සේවකයන් විසිනි. ප්‍රධාන මංමාවත් නොතිබූ යුගයේ වනගත මං ඔස්සේ අදාළ ස්ථානවලට ලිපි මලු රැගෙන දිවීමට මේ ශක්ති සම්පන්න මිනිසුන්ට පැවරිණි. පසු කලෙක සීනුවක් නාද කරමින් යන තැපැල් කරත්තවල ආරක්ෂාවට ඔවුහු යොදවා ගැනුණෝය.

පුත්තලමේ ලුණු ලේවායෙහි කටයුතු ආරම්භ කිරීමත් සමග ලේවාය පිරිසිදු කිරීම හා ආරක්ෂක කටයුතු යන කාර්යයන් සඳහා යොදවා ගනු ලැබුවේ කැෆ්ර් ජාතිකයන් ය. මෙම ජන කොටසට ආවේණික සිරිත් විරිත්, නැටුම් ගැයුම් රැසක් ඇත. ඒවා අතුරෙන් 'කාපිරි මාඤ්ඤ' නම් විශේෂිත ගීත වර්ගයක් තිබේ.

"අරාබි චායා කඩෝරා
අරාබියා බොලොරේ //
ඉස්ක උපං ලකටිපංච නාගර සේ මනෝරේ //
අයිචොටාකි බේද ලගියා //
මා චොටාකි නගර ලගියා //
නිකර තිරිය ලාල මිරා //
නාඩි තිරිය ලාල මිරා //
අරාබි චායා කඩෝරා අරාබියා බොලොරේ //

මේ ගීතයේ තේරුම, අරාබියේ ගැහැනු ලස්සන යි, ඇයි ඔයාලා මුහුණු නිරාවරණය නො කරන්නේ? ඔයාලගේ ලස්සන මුහුණු පෙන්වන්න හොඳ නැද්ද? යන්න යි. සිරම්බි අඩියේ කැෆ්‍රර් ජනයා සතුව මෙවැනි සාම්ප්‍රදායික ගීත සිය ගණනක් පවතී. ඒ සියල්ල රචනා වී ඇත්තේ පෘතුගීසි බසිනි. මේ 'කාපිරි මාඤ්ජ' ගීතවලට නැටීමේ දී අත්පොළොසන් දීම, අඩි පොළොවේ ගැසීම, ඔල්වරසන් දීම ආදිය සිදු කෙරෙනු දැකිය හැකි ය. මේවායේ අප්‍රිකානු ජන ගීයේ ආභාසය රැඳී ඇතැයි කියැවේ. ඩොල්කිය, රබාන, පොල්කටු දෙක, හැඳි දෙක, බෝතලය හා කාසිය යන මේවා මාඤ්ජ ගායනයේ දී වාද්‍ය භාණ්ඩ ලෙස භාවිත කෙරෙයි. මාඤ්ජ ගායනයේ දී ගැහැනු අය විශේෂ දක්ෂතා දක්වති.

යටත්විජිත සමයෙහි මෙරට වැසියන් බවට පත්වූ මේ ජනයාගේ පැරණි සිරිත් විරිත් වර්තමානය වන විට බොහෝ දුරට මැකී ගොස් ඇත. විවාහ උත්සවයක දී දින හතක් පමණ උත්සව පවත්වන ඔවුහු වර්තමානයේ එය දින තුනකට සීමා කොට ඇත්තේ ආර්ථික දුෂ්කරතා හේතුවෙනි. විවාහ ගිවිස ගත් තරුණියට විවාහයට සති තුනකට පෙර පල්ලියේ දී විවාහ දිවිය ගැන අවබෝධයක් ලබා දෙයි. විවාහයට පෙර දින මනාලියගේ නිවෙසේ දී පාන්දර වන තුරු මනාලියට ආශීර්වාද ගීත ගායනා කිරීම තවමත් නොකඩවා සිදු කෙරෙන චාරිත්‍රයකි. පාන්දර කුකුළා හැඬලීමෙන් පසු උත්සවය පටන් ගනියි. එදිනට මනාලිය 'කැන් කැන්' නමින් ඔවුන් විසින් ව්‍යවහාර කරනු ලබන බොස්තොරොක්ක ගවුම අඳියි. මනාලයා සැරසෙන්නේ යුරෝපීය ඇඳුමෙනි. මංගල දිනයේ දී නව යුවළ මනාලියගේ නිවෙසේ ම නතර වීම චාරිත්‍රයකි. දින දෙකකින් පසු මනාල යුවළ මනාලයාගේ නිවෙස වෙත යති. ඊට පසු තවත් දින දෙක තුනක් නොනවතින සාදයකින් පසු මංගල උත්සවය නිමාවට පත් වෙයි. මෙය කැෆ්‍රර් ජනයාගේ ආවාහ විවාහ සිදු කරන සාම්ප්‍රදායික ක්‍රමය යි.

බාර හාර පල්ලියේ වීම කැෆ්‍රර් ජනයා අතර පවතින තවත් සම්ප්‍රදායකි. කිසිවකුට කේන්දර නැති වීම ද විශේෂ ලක්ෂණයකි. පිටි කිරි භාවිතය ප්‍රිය නො කරන මේ ජනයා දරුවකු උපන්දා සිට වසර හතරක් ගත වන තුරු මවු කිරි පමණක් ලබා දීමට උත්සුක වෙති. තම ජන වර්ගයේ කිසිවකුට සරම්ප හෝ කම්මුල්ගාය නොවැලඳෙන බව ඔවුන්ගේ විශ්වාසය යි.

ඔවුහු අද තම අතීත අනන්‍යතාව නො සොයති. සාම්ප්‍රදායික නැටුම, ගීතය, විනෝදය සඳහා පොරබැදීම ආදිය පිළිබඳව නව පරපුර සංවේදිතාවක් නො දක්වති. ඔවුන් සතු ආවේණික ගති සිරිත් ක්‍රමයෙන් අභාවයට යමින් තිබේ.

## අවබෝධය

1. 'සිලෝන් කැෆර්වරුන්' මෙරට පැමිණෙන්නේ කුමන හේතුවක් නිසා ද?
2. මේ ජනයා නියැලි රැකියා ක්ෂේත්‍ර තුනක් නම් කරන්න.
3. 'සිලෝන් කැෆර්වරුන්' සතු ගීත විශේෂය කුමක් ද? ඒවා ගායනා කිරීමේ දී භාවිත කරනු ලබන වාද්‍ය භාණ්ඩවල නම් ලියන්න.
4. කැෆර් ජනයාගේ විවාහ උත්සවවල දක්නට ලැබෙන ආවේණික ලක්ෂණ තුනක් ලියන්න.
5. මේ ජනයා සතු ආවේණික ගති සිරිත් පැහැදිලි කරන්න.



## සාරාංශකරණය

කිසියම් වාක්‍යයක, ඡේදයක, ලිපියක, ප්‍රකාශයක, දේශනයක, අන්තර්ගත වැදගත් ම අදහස් පිඩු කොට දැක්වීම 'සාරාංශකරණය' යි. දේශනයකට, සාකච්ඡාවකට සවන් දීමේ දී පුවත්පතකට වාර්තාවක් සැපයීමේ දී සාරාංශකරණය බෙහෙවින් වැදගත් වේ. යමක් අවබෝධ කර ගැනීමේ හැකියාවත් එහි සාරය වටහා ගෙන සංක්ෂිප්තව නැවත ප්‍රකාශ කිරීමේ හැකියාවත් 'සාරාංශකරණයෙන්' බලාපොරොත්තු වේ.

"වැදි ජනයා බාහිර සමාජයට නිරාවරණය වීමට පටන් ගැනීමත් සමග චිරාගත චර්යාධර්ම පද්ධතිය සෑම අංශයකින් ම පාහේ විපර්යාසයට පත් වීමේ ලකුණු පහළ වන්නට විය. මුල් යුගයේ දී ඔවුන් වන මැද ආඩතාලයට යාන්තමින් කොටා ගත් හේනෙහි කුරක්කන්, බඩ ඉරිඟු, වැනි භෝග වගා කරන්නට වූයේ දඩයම් හිඟ වන සමයේ දී පැන නඟින ආහාර අහේනියට පිළියමක් වශයෙනි. එහෙත් පසු කාලයේ දී අනුක්‍රමයෙන් හේන් ගොවිතැනට නැඹුරු වන්නට වූ ඔවුහු අසල්වාසී සිංහලයන්ගේ ඇසුරට පත් වීමෙන් අනතුරුව එකයායට සාමූහිකව කරන හේන් ගොවිතැනට අනුගත වූහ.

මේ පාඨය සාරාංශ කළ විට මෙසේ දැක්විය හැකි යඃ

> **"වැදි ජනයා බාහිර සමාජයට නිරාවරණය වීමෙන් චිරාගත චර්යාධර්මයන් විපර්යාසයට ලක් විය. මුල් යුගයේ ඔවුන් යාන්තමට හේන් ගොවිතැන් කළේ ආහාර අහේනියට පිළියමක් ලෙසිනි. පසු කලෙක හේන් ගොවිතැනට නැඹුරු වූයේ අසල්වාසී සිංහලයන්ගේ ඇසුරට පත් වීමෙනි."** (වචන 34)

යම් පාඨයක් සාරාංශ කිරීමේ දී අවධානයට ලක් කළ යුතු කරුණු රැසකි.

- පළමුව ඡේදයේ හරය වැටහෙන තෙක් කීප වරක් කියවන්න.
- දෙවනුව එහි වැදගත් අදහස්වලට යටින් ඉරි අඳින්න. නැති නම් වෙන ම කොළයක ලියා ගන්න.
- එහි දී නිදර්ශන, උපමා, විශේෂණ, අලංකාර, පුනරුක්ති, අනවශ්‍ය නිපාත ආදි සියල්ල බැහැර කරන්න.
- ඉදිරිපත් කර ඇති කරුණුවල වැදගත්කම අනුව ඒවා පිළිවෙළට ගොනු කරන්න.
- සාරාංශය ලිවිය යුතු වචන ගණන ගැන සැලකිලිමත් වන්න. (සාමාන්‍යයෙන් සාරාංශය, දී ඇති කොටසෙන් තුනෙන් එකක් විය යුතු ය).
- ප්‍රධාන ඡේදයේ අදහස මැනවින් ප්‍රකාශ වන පරිදි ලියන්න.
- ඡේද කීපයක් තිබුණත් එය එක් ඡේදයක් ලෙස ලිවිය යුතු ය.
- සාරාංශ ගත ඡේදයේ ඇතුළත් වචන ගණන ඡේදය අවසානයේ අනිවාර්යයෙන් ම ලියන්න.

## ලිඛිත අභ්‍යාස

1. 'ශ්‍රී ලංකාවේ ජීවත් වන විවිධ ජන වර්ග' යන මාතෘකාව යටතේ රචනයක් ලියන්න.

2. වැදි ජනයා, අභිගුණ්ඨික ජනයා ආදි විවිධ ජන කොට්ඨාසවලට ආවේණික සිරිත් විරිත් සොයා බිත්ති පුවත්පතකට ලිපියක් ලියන්න.

3. පහත සඳහන් ඡේදය වචන (30-40) වන සේ සාරාංශ කරන්න.

එකතු කර ගන්නා කසළ ගොඩවල් ශීලාචාර දියුණු ලෝකයේ සුනඛ වසුරු මෙන් අවට පරිසරය ගඳ ගස්වමින් එක් තැනක සිට තවත් තැනකට ගෙනවිත් දමන්නේ නැත. නොදියුණු යැයි සම්මත තුන්වැනි ලෝකයේ සමහර රටවල් පවා මේ ප්‍රශ්නයට නවීන විද්‍යාත්මක විසඳුම් සොයා ගෙන ඇත. අපට තරම් ශිෂ්ටාචාරයක් හෝ අතීතයක් නොමැති රටවල් ද මෙවන් ප්‍රශ්න සාර්ථකව විසඳාගෙන තිබේ. 'කසළ ප්‍රතිචක්‍රීකරණය' නූතන ලෝකයේ භාවිතයට ගැනෙන්නේ ඒ සඳහා ය. එදා පණ්ඩුකාභය යුගයේ මනා පළාත් පාලනයක් හා කසළ පරිපාලනයක් පැවති බව අසන්නට ලැබේ. ස්වීඩනය වැනි රටවල් ප්‍රවාහන කටයුතු උදෙසා අවැසි ඉන්ධන නිපදවා ගැනීමට කසළ භාවිත කරයි. දකුණු කොරියාව එම තාක්ෂණය ශ්‍රී ලංකාවට ලබා දීමට සූදානමින් සිටී. කැලි කසළ කළමනාකරණයේ දී අපිරිසිදු යැයි සම්මත අසල්වැසි ඉන්දියාව ද සිටින්නේ අපට වඩා ඉදිරියෙනි.



# 16 දිට්හ දාන

නූතන සාහිත්‍යාංගයක් වන කෙටිකතාව පුරාණ කතාන්දරයට නෑකම් කියන්නක් සේ සැලකේ. කතාන්දරවලට මනුෂ්‍ය ලෝකයේ පුවත් මෙන් ම සත්ත්ව හා දේව ලෝකවල පුවත් ද වස්තු වී ඇතත් කෙටිකතාව සත්‍ය හෝ කල්පිත පුවතක් පදනම් කොට ගනිමින් මානව ජීවිතය නිරූපණය හා විවරණය කෙරෙන සාහිත්‍යාංගයකි. අද කෙටිකතාව වස්තු විෂය අතින් මෙන් ම කාර්ය සිද්ධිය හා රචනා මාර්ගය අතින් ද නව ක්ෂේත්‍ර පුරා පැතිර පවතින්නකි. කෙටිකතා නිර්මාණයේ දී ලේඛකයාට අද්දැකීම් ඉතා වැදගත් වේ.

ජේ. සී. පී. එස්. සිරිවර්ධන විසින් රචිත 'දිට්හ දාන' කෙටිකතාව මානුෂික අද්දැකීම් මෙන් ම ආකල්ප ප්‍රකාශයට පත් කිරීම උදෙසා කෙටිකතා මාධ්‍යය භාවිත කළ ආකාරය පිළිබඳ නිදර්ශනයකි. එය 2013 පෙබරවාරි 'සංස්කෘති' සඟරාවෙන් උපුටා ගන්නා ලද්දකි.

තිස් වසරක සේවා කාලය තුළ, සිරිසෝම මින් පෙර මෙබඳු අකරතැබ්බයකට මුහුණ පා නැත. නව සේවා ප්‍රදේශයෙහි නිරත වූ පළමු රාජකාරියේ දී ම මෙවැනි බාධකයක් එළඹීම අසාමාන්‍ය සිද්ධියකි. එහෙත් මහජන සෞඛ්‍ය පරීක්ෂකවරයකු වශයෙන් මනා පරිචයකින් හෙබි හෙතෙම ඉන් මඳකුදු නො සැලුණේ ය.

නගරයෙන් සෑහෙන දුර බැහැරක පිහිටි ගම්බද පාසලක් වන මෙහි, ඉගෙනුම ලබන දරුදැරියෝ, දෙසීයයකට අඩු සංඛ්‍යාවක් වෙති. හෙට දින පාසලේ සියලු ළමයින් නියමිත වාර්ෂික වෛද්‍ය පරීක්ෂණයට භාජනය කරනු පිණිස, කොට්ඨාසයේ සෞඛ්‍ය වෛද්‍ය නිලධාරි මහතා පැමිණෙන්නේ ය. ඒ ඒ දරුවන්ට අදාළ වෛද්‍ය පරීක්ෂණ ආකෘති පත්‍රවල, ඔවුනොවුන්ගේ වයස, උස, බර, දෘෂ්ටි ශක්තිය හා ශ්‍රවණ හැකියාව යනාදි මූලික දත්ත මැන බලා වෙන වෙන ම සටහන් තැබීම සිරිසෝමට අද දින පැවරුණු අත්‍යවශ්‍ය මෙහෙය වේ.

“ඇස් පෙනීමේ අඩුකම, කන් ඇසීමේ බාධා, කතා කිරීමේ දුර්වලතා, හෘදයාබාධ යනාදි හේතු, ළමයින්ගේ ඉගෙනීමට හුඟක් බලපානවා. ඒ වගේ අඩුපාඩු සොයා බලලා ඉක්මනින් පිළියම් යොදන්න ඕනෑ. මේ සෞඛ්‍ය වැඩසටහනේ අරමුණ ඒකයි.”

පාසල් වෛද්‍ය පරීක්ෂණයේ අවශ්‍යතාව පැහැදිලි කිරීමට සිරිසෝම එසේ වෑයම් කළ ද, පාසල් ප්‍රධානියා ඒ පිළිබඳව කිසි සැලකිල්ලක් නො දැක්වී ය. ගුරුවරු මුළු ගණනින් අඩකට ආසන්න සංඛ්‍යාවක් මෙදින සේවයට පැමිණ නො සිටියහ. ඊටත් වඩා පසුබෑමේ හේතුව, ළමා වෛද්‍ය පරීක්ෂණයේ ඵලදායකත්වය පිළිබඳ අගය, ඔහුට සංඛ්‍යාත්මක වශයෙන් බින්දුවක් සේ හැඟී යෑම ය.

තව ද අද හෙට ම, කොට්ඨාස අධ්‍යක්ෂ පාසලට පැමිණීමට නියමිත ය. ඒ ආ විට ඔහු නිරීක්ෂණය කරනුයේ, ළමයින්ගේ සෞඛ්‍ය මට්ටම් ගැන නො වේ. වසරට නියමිත විෂය මාලා ඉලක්ක සපුරා ඇති ප්‍රමාණය පිළිබඳව ය. එදාට මේ හීල් සෙවණේ කරගෙන යන විදුහල්පතිකමත් සුං. ආයෙත්, නිකම්ම නිකං උප ගුරුවරයෙක් හැටියට, මීටත් වඩා කැලෑ මණ්ඩියට බඩගාපල්ලකො.

එවැනි චිත්තවේගයකට පත් විදුහල්පතිවරයා උද්වේගකර ලෙස, සිරිසෝමගේ මුහුණට කඩා පැන්නේ ය.

“පී. එච්. අයි. මහත්තයා නං බණ කියයි. ඉස්කෝලෙ ළමයින්ගෙ ඉගෙනීම කඩාකප්පල් වුණා ම, දෙපාර්තමේන්තුව දොස් කියන්නේ අපට. තමුන්නාන්සෙලගෙ ඔය මහලොකු රාජකාරියට, අද හෙට නම්, මේ ගුරු මණ්ඩලේ සොච්චමෙන් කිසි උදව්වක් දෙන්න බෑ.”

සේවා සහාය දීම එසේ තරයේ ප්‍රතික්ෂේප කළ මුල්ගුරුවරයා, සිරිසෝම විසින් පෙර දිනක සපයන ලද ආකෘති පත්‍ර මිටිය, ‘දඩාස්’ යන හඬින් මේසය මත තැබුවේ ය. එය සිරිසෝමට දුන් අතුල් පහරක් වැන්න.

“තරහ ගන්න එපා, සර්! අපි මේ කරන්නෙත් අසරණ දරුවන්ගේ ඉගෙනීමට උදවු දීමක් තමා” යි, සිරිසෝම සිනාමුසුව පිළිතුරු ලෙස පැවසුවේ, නිවට නියාලු ස්වරයෙනි.

“ඕක මොන උදව්වක් ද, මහත්තයෝ? මීට කලිනුත් අවුරුද්දක් පාසා, කාණ්ඩයක් ඔහොම ඇවිදිං, දවසක් පුරා මෙතෙන නෙයියාඩගමක් නැටුව, අපටත් මතකයි. ඒත් ඒකෙං, මේ ඉස්කෝලෙ එක කොලු කෙල්ලකුට හරි වෙච්චි සුබසිද්ධියක් ගැන නං, මං කියන්ඩ දන්නෙ නෑ.” පාසල් ප්‍රධානියා ගත් කටට ම එසේ කී ය.

එහෙත් ඉන් පසුබට වූයේ සිරිසෝම නො වේ. “හොඳයි, ඔබතුමන්ලා කවුරුවත් මට උදව් වෙන්න එපා. මගේ කාරිය තනියම කරගන්ට මට පුළුවනි. ඉස්කෝලෙ ළමයි පන්තියෙන් පන්තිය, මිදුලෙ අන්න අර කොස් ගහේ සෙවණට ගෙන්වා ගන්න ඔබතුමා අවසර දුන්නොත්, මට ඒ හොඳටෝම ඇති” යි හෙතෙම බැගෑපත්ව ඉල්ලා සිටියේ ය.

එම ආයාචනය කෙරේ විදුහල්පතිවරයා මඳ අනුකම්පාවක් දැක්වූවා විය හැකි ය.

“හොඳයි, තමුන්නාන්සේ ඕනෑ කෙංගෙඩියක් කරගත්තට කාරි නෑ. හැබැයි අපේ ඉගැන්වීම් කටයුතුවලට කිසි බාධාවක් කරනව හෙම නෙමෙයි.” තර්ජනාංගුලිය පාමින් පාසල් ප්‍රධානියා කළ තරවටුව, සිරිසෝම මැදහත් සිතින් ඉවසී ය.

එහි එක ම පාසල් ගොඩනැගිල්ලට සමීප කොස් ගසේ සෙවණ, ඔහුගේ කාරියට කදිමට ගැළපෙයි. ගොඩනැගිල්ල කෙළවර අගුවෙහි තිබුණු අබලන් ඩෙස්කුව සහ පුටු කබල තුරු සෙවණට ගෙන ඒමට පවා, සිරිසෝමට කිසිවකුගේ සහායක් නො ලැබිණ.

ගුරුභවතුන් සිප් සතර උගන්වන හඬ පන්ති කාමරවලින් නිරතුරුව ඇසේ. උදා හිරු රැස් පතිත පාසල් පරිසරය පිරිසිදු ය; පියකරු ය. මිදුල කෙළවර පිළිවෙළකට වවන ලද බටු, මිරිස්, බණ්ඩක්කා සහ මෑ ආදි එළවළු වගාව, දුටුවන් නෙත් සිත් සනසන රමණීය දසුනකි. අසරණ ගැමි දරුවන් යහපත් අනාගත පුරවැසියන් කිරීමෙහි වැර දරන ගුරු මවුපියන් කෙරේ සිරිසෝමගේ සිත කිසි කහටක් නො ඉපදෙයි.

පළමුව මුතු පබළු වැලක් සේ විනීතව පෙළ ගැසුණු බාලාංශ පන්තියෙහි ළමා පැටවු තුරු සෙවණ කරා පැමිණියහ. ඔවුහු ගණනින් පහළොවක් වෙති. එහෙත් දරු පැටවුන් කැටුව පන්ති භාර ගුරු භවතකු නොපැමිණීම, සිරිසෝම තරමක අපහසුවට පත් කරවී ය.

එක් නමක් බැගින් සටහන් කරන ලද ආකෘති පත්‍රය අනුව, එක් එක් දරුවා පිළිවෙළින් තමා සමීපයට කැඳවමින් ඔවුනොවුන්ගේ උස සහ බර මැන ආකෘති පත්‍රයෙහි සටහන් කිරීම, සිරිසෝමට වැඩි වෙහෙසක් ගෙන නුදුන්නේ ය. එකිනෙකාගේ මුඛය විවෘත කරවමින් දන්තාබාධ ඇත් දැයි පිරික්සීම ද වැඩි අපහසුවකින් තොරව කළ හැකි විය.

ඉක්බිති දෘෂ්ටි පරීක්ෂණ සටහනේ ඉහළ සිට පහළට ක්‍රමානුකූලව කුඩා වන පරිදි පෙළින් පෙළට මුද්‍රිත අකුරු, අහඹු ලෙස අතරින් පතර කියවීමේ හැකියාව අනුව දෘෂ්ටි ශක්තිය මැනීම පිළිගත් න්‍යාය වෙයි. වම් ඇසෙහි සහ දකුණු ඇසෙහි පෙනීම වෙන වෙන ම නිරීක්ෂණයත් අත්‍යවශ්‍ය දත්තයකි. ඇසේ පෙනීම දරුවකුගේ අධ්‍යාපනය සඳහා කොතෙක් දුරට ඉවහල් වේ ද යන්න, සිරිසෝම ප්‍රත්‍යක්ෂයෙන් දනී. එම අවශ්‍යතාව නිසි පරිදි සපුරා ගැනීමට ඔහු වඩාත් උනන්දු වූයේ එහෙයිනි.

එහෙත් කොස් ගසේ කඳෙහි ගැසූ ඇණයක ඇස් මට්ටමට එල්ලන ලද දෘෂ්ටි පරීක්ෂණ සටහන් පත ඉදිරියේ සම්මත දුරකින් පිහිටවනු ලැබූ දරුවකු ලවා, සටහන් පතේ මුද්‍රිත අකුරු පෙළින් පෙළ කියවීම, තරමක් අසීරු කටයුත්තක් සේ දැනිණි.

පන්තියේ අනෙක් දරුවකුගේ සහාය ලබා, පළමු දරුවාගේ එක් ඇසක් කාඩ්පතකින් ආවරණය කරවා, අහඹු ලෙස තෝරා දක්වන අකුරින් අකුර ඔහු ලවා කියවීමට ගත් උත්සාහය සඵල නොවී ය. කාකි නිල ඇඳුමින් සැරසුණු ආගන්තුක නිලධාරියකු ඉදිරියේ ගැමි දරුවන් බොහෝ විට ගොළු වීම සිරිසෝම අත්දැකීමෙන් හඳුනන්නකි.

පන්ති කාමරවල ඉගැන්වීමෙහි නිරත ගුරුවරු පවා, විටින් විට තුරු සෙවණ දෙස විපරමින් බලති. සෞඛ්‍ය නිලධාරියා දරන දුෂ්කර වෑයම ඔවුන් කිසිවකුට විහිළුවක් සේ හැඟී යෑම සාධාරණ ය. ඇතැමකුගේ කට කොනට නැඟුණේ සරදම් නොහොත් සාවඥ සිනාවකි.

එහෙත් නොබෝ වේලාවකින් ගොඩනැගිල්ලේ ඈත කෙළවර පන්ති කාමරයක ඉගැන්වීමෙහි නිරතව සිටි ගුරු භවතකු, කඩිනමින් තුරු සෙවණ කරා පැමිණෙනු දක්නා ලදි. බෝතල් අඩි වැනි අවතල කාච සහිත උපනෙත් සඟළක් පැලඳ හුන් ඔහු, යොවුන් විය නො ඉක්මවූවෙකි. සුදෝසුදු ජාතික ඇඳුම, ඔහුගේ උස මහත කළුවන් දේහයට පැහැපත් පෙනුමක් ගෙන දුනි.

“සර්... මට ඔය කාරියට උදවු වෙන්ට අවසර දෙන්ට! ‘ස්නේලන්’ පරීක්ෂණ සටහන ළඟ ඉඳන් මේ දරුවන්ට අකුරු එකින් එක පෙන්වා දෙන්ට මට පුළුවනි. ඒක සර්ට ලොකු පහසුවක් වේවි.”

තරුණ ගුරුවරයාගේ ගත හා වත මෙන් ම කතා බහ ද ප්‍රසන්න ය. එහෙත් සෞඛ්‍ය පරීක්ෂකගේ සිත නැඟුණේ තරමක නොසන්සුන්කමකි. පාසල් ප්‍රධානියා දුටුව හොත්, උපගුරුවරයා නොවරදවා ම දෝෂ දර්ශනයට ලක් වනු නිසැක ය.

“නෑ... මහත්මයා, ඔබතුමා නියමිත පන්තියට යන්න. මම තනිවම මේ කටයුත්ත කර ගන්නම්” යි සිරිසෝම ඔහු වළක්වන්නට උත්සාහ කළේ එහෙයිනි.

එහෙත් ඉන් පසුබට නො වූ තරුණ ගුරුභවතා සිරිසෝමගේ සහාය පිණිස සිය කැමැත්තෙන් එහි රැඳුණේ ය. සිරිසෝම විසින් කාඩ් පතකින් එක් ඇසක් ආවරණය කෙරුණු දරුවා, ගුරුවරයා පරීක්ෂණ සටහන් පත අසල හිඳ අහඹු ලෙස තෝරමින් පෙන්වා දෙන අකුරු, එකිනෙක හඳුනාගෙන පැකිළීමෙන් තොරව උස් හඬින් කියවී ය. ගුරුභවතා විසින් දෙන ලද සහායෙන් සිරිසෝමට ලැබුණු පහසුව සුළුපටු නො වේ.

එසේ වුව ද, බාලාංශයේ සියලු දරුවන්ගේ පූර්ව නිරීක්ෂණ අවසන් කිරීමට අවකාශ නො ලැබිණ. පාසල් ප්‍රධානියා වහ වහා තුරු සෙවණ කරා දිව එනු දක්නා ලදි.

හෙතෙම අවට සිටි කුඩා දරුවන් ද බියපත් කරවන තරම් උස් හඬින් උපගුරුවරයාගේ මුහුණට කඩා පැන්නේ ය.

"සුගුණපාල මහත්තයා, ඔහේ මේ නෙයියාඩමට අත් උදවු දෙන්ට ආවේ, කොයි ඩිරෙක්ඩර් උන්නාන්සෙගෙ අවසරයක් පිට ද ඕයි?"

ගුරුභවතා පමණක් නො ව සිරිසෝම ද අන්දමන්ද විය. කුඩා ළමයි පෙළ බියෙන් අසරණව ඔබමොබ බැලූහ. එහෙත් උපගුරුවරයා සන්සුන් ලෙස විනීතව නො පමාව පිළිතුරු දුන්නේ ය.

"සමා වෙන්න සර්, මම සෞඛ්‍ය පරීක්ෂක මහත්මයාට උදවු වෙන්ට ආවේ, එතුමා මෙතන තනියම විඳින වදේ දැකලයි. ඒ මිස කාගෙ වත් අවසරයකින් නො වෙයි."

"මිස්ට සුගුණපාල, මුන්නැහේ මෙතන ඕනෑ වදයක් විඳගත්තාවේ. ඔහේට මේ කාල පරිච්ඡේදයේ නියමිතව තියෙන්නේ පහේ පන්තියෙ වාක්‍ය රචනය පාඩම. ඒ ළමයි අද හෙට ශිෂ්‍යත්වෙටත් ලියන්ඩ ඉන්න අය. එහෙව් එකේ ඔහේ මෙතන ඇවිත් අහවල් නෙයියාඩමක් නටනව ද? "

"මම මෙතනට ආවේ, ඒ ළමයින්ට අදාළ පාඩමට වුවමනා කරුණු කියා දීලයි සර්. ඒ ළමයි තවම රචනය ලියනව ඇති. කවුරු හරි නියමිත කාරිය නො කර, කලබැගෑනියක් කළොත්, මට ඇවිත් කියන්ට කියාල, මම පන්ති නායකයටත් උපදෙස් දුන්නා."

උපගුරුවරයා කළ ප්‍රකාශයෙහි සත්‍යතාව විමසන්නා සේ, පාසල් ප්‍රධානියා පාසලේ ඈත කෙළවර පන්ති කාමරය වෙත හෙළුවේ උකුසු බැල්මකි. ගුරුභවතා සඳහන් කළා සේ ම, පන්ති කාමරය මීයට පිම්බාක් සේ නිහඬ ය. එය දරුවන් තමන්ගේ පාඩුවේ නියමිත අභ්‍යාසයේ යෙදී සිටින බවට කදිම සාක්ෂියකි.

එහෙත් ගුරුවරුන් දෙපළ අතර සිදු වන සංවාදය සිරිසෝමගේ සිත බිහි කළේ, සානුකම්පිත

හැඟීමකි. හෙතෙම තවදුරටත් නිහඬව නො සිට ඔවුන් අස්වසන්නට සිතී ය.

"සුගුණපාල මහත්මයා, විදුහල්පතිතුමාගේ කතාව හරි. ඔබතුමා කරුණාකරලා නියමිත පන්තියේ පාඩමට යන්න! මට අපහසුවෙන් වුණත් පුළුවන් හැටියකට මගෙ කටයුත්ත කරගෙන යන්නම්."

එහෙත් උපගුරුවරයා ඔහු කළ ඉල්ලීමට අවනත නො වී ය.

"නෑ... සර්, සර්ට මේ රාජකාරිය තනියම කර ගන්න අමාරුයි. මම සෑහෙන වේලාවක් මේ පැත්ත බලාගෙන හිටියා. ඔබතුමා විඳින වදේ මට හොඳහැටි තේරුණා. මම කැමැත්තෙන් ම මෙතනට දුවලා ආවේ ඒකයි."

"සුගුණපාල, ඔහෙට වත් මට වත් වැටුප් ගෙවන්නෙ සෞඛ්‍ය දෙපාර්තමේන්තුව නො වෙයි. ඔහෙගෙ තක්කඩිකම ගැන, මම අද ම කලාප අධ්‍යක්ෂතුමාට රපෝර්තු කරනවා" යි වඩාත් ප්‍රචණ්ඩ වූ පාසල් ප්‍රධානියා කෝපයෙන් ගුගුළේ ය.

"සමා වෙන්න සර්! කමක් නෑ සර්ට කැමැත්තක් කරන්ට! පාසල් වෛද්‍ය පරීක්ෂණයක වටිනාකම සර්ට නොතේරුණාට මට අගේට තේරෙනවා. අද ගෙදර යන්ට සිද්ධ වුණත්, සෞඛ්‍ය පරීක්ෂක මහත්මයාට මේ කාරිය හොඳින් කරගන්ට උදවු වෙලා තමයි මම ගෙදර යන්නෙ" සුගුණපාල පිළිතුරු ලෙස එසේ පැවසුවේත් පෙර පරිදි ම සන්සුන් හා විනීත ඉරියව්වෙනි.

"කෙහෙල්මල් වෛද්‍ය පරීස්සනේ...! මළඉලවු වටිනාකම...? මේ ඊයේ පෙරේදා පේරාදෙණියෙං එළිබැස්ස ඔහේ දන්නෙ මොන ඉටිගෙඩිය ද සුගුණපාල? විස්ස විජ්ජාලවල දැං ඔහෙලට උගන්නන්නෙ ඔය වගේ තක්කඩිකම් කරන හැටි ද?"

විදුහල්පතිවරයාගේ වදන් බෙහෙවින් කර්කශ ය; ස්වරය ද උපහාසයෙන් හා සරදමින් අනූන ය.

එහෙත් උපගුරුවරයා සුපුරුදු සංයමය සුරැකී ය.

"මට සමා වෙන්න සර්, ඔබතුමා නොදන්නා නමුත්, මේ වෛද්‍ය පරීක්ෂණයෙ අගය මට අතැඹුලක් වගෙ වැටහෙනවා. ඒ විතරක් නො වෙයි. ඔබතුමාට කියන්ට, අසරණ මට පේරාදෙණි යන්ට පාර කපාල දුන්නෙත්, මේන්න මේ උත්තමයා තමයි සර්."

"මොනවා... ඕයි?" පාසල් ප්‍රධානියා සිත උපන් විස්මය පළ කළේ ඒ අයුරිනි.

ඔහු පමණක් නො ව, සිරිසෝම ද මවිත ව ගල්ගැසුණේ ය.

“එහෙමයි සර්! මීට පාළොස් අවුරුද්දකට ඉහත, දැදුරු ඔයබොඩ හද්දා පිටිසර වන්නි හත්පත්තුවේ, අපේ ගමේ කටගොමුවෙ පොල් අතු ඉස්කෝලෙ, පාසල් වෛද්‍ය පරීක්ෂණේටත් මෙතුමා වෙහෙස මහන්සි වුණේ මෙයාකාරයෙන් ම යි. මට තවමත් අද වගේ මතක යි.”

“එහෙනම් ඔහේ මුන්නැහැව ඒ කාලෙ ඉඳල දන්නව?”

මුල් ගුරුවරයා විස්මිත ස්වරයෙන් විමසී ය.

“එහෙමයි. මං එතකොට හතරෙ පන්තියෙ. පහුවදා ඉස්කෝලෙට ආ දොස්තර මහත්තයෙක් පරීක්ෂා කරල, මගේ ඇස් දෙකේ ම පෙනීම දුර්වලයි කීවා.”

“දොස්තර එහෙම කිවුවමයි කියමුකො. ඉතිං මුන්නැහැගෙං ඔහෙට වුණු සෙතේ මොකක් ද?”

පාසල් ප්‍රධානියා එසේ ප්‍රශ්න කරද්දී, අතීතය සිහිව උපගුරුවරයාගේ දෙනුවන් කඳුළින් බොඳ විය.

ඒ හිමිදිරි උදෑසන කන් බිහිරි කරවන යතුරුපැදි හඬින් අවදිව, නිදි පැදුරින් නැඟී එළිපත්තට එන විට නිලධාරියා අප්පච්චි හා පිළිසඳරේ යෙදී හුන් අයුරු, චිත්තාකර්ෂණීය සිනමා පටයක් සේ, සුගුණපාලගේ මනැසට නැඟිණ.

“කොලුගෙ දෑහැ ඔය පේන තරම හොඳටෝම ඇති ආයුබොවං! උ? ඉතිං මින් මත්තටත්, මේ හේංකොටේ වල්උදලු ගාල එකලාසයක් කරගන්ට මට උදවු වෙනව මිසක, ඩීආරෝ උන්නාන්සෙ ගාව කුරුටු ගාන්ට යන්ට දෑ?” උදැල්ලට මිටක් ගසමින් හුන් අප්පච්චි දුන් පිළිතුරු, අද මෙන් ම සානුකම්පිතව ඉවසූ මහත්මා ගුණය සුගුණපාලට දැනුත් අමතක නොකළ හැකි ය.

“මේ උත්තමයගෙ රාජකාරිය එතනිං ඉවර වුණේ නෑ... සර්! පසුවදා උදේ ම අපේ පැළට ඇවිත්, බෑ කියද්දි ම, අප්පච්චිත් මාත් දෙන්නා ඒ මොටෝසයිකලේ ම නංවගෙන, වාරියපොළ ඉස්පිරිතාලෙ ලොකුමහත්තයා ගාවට ගියා.”

“ඩීඇම්ඕත් ඉතිං අරක ම කියන්ඩ ඇති. කතාව ඔච්චරයි නේ?” මුල් ගුරුවරයා එසේ ඇසුවේ, උපගුරුවරයා නිහඬ කරවන අදහසිනි.

“එහෙ ම කීවා විතරක් නෙමෙයි, ඩීඇම්ඕ මහත්මයා තවත් හොඳින් පරීක්ෂා කරල තුණ්ඩුවකුත් ලියා දුන්නා, සර්!”

“එහෙනං, ඒකත් බලලා මුන්නැහැ ඇස්ගෙඩි දෙක ගලෝල ඔහේට පූජා කළා වත් ද?”

“හිනැහෙන්ට එපා සර්! මෙතුමා ඒ ගමං ම අපිවත් කැන්දාන ඩීආරෝ කන්තෝරුවට ගියා.”

“දෙයියන්ට ම ඔප්පු වෙච්චාවේ... එහෙනං ඩීආරෝ උන්නැහැත් ඔහෙගෙ ඇස් පරීක්ෂා කළා?”

“ඇස් පරීක්ෂා කළා නෙමෙයි සර්! ඉස්පිරිතාලෙ වාර්තාව බලලා, එදා ඒ මොහොතෙ ම, සමාජ සේවා ආධාරෙ ලියල දුන්න. ඒ ආධාරෙං ගත්තු කණ්ණාඩි කුට්ටමට පිං සිද්ධ වෙන්ට මං අද මෙතන.”

උපගුරුවරයාගේ අතීත කතාව සරදමින් වුව ද අසා හුන් පාසල් ප්‍රධානියා, කඳුරකින් ඇද හැලෙන දියවැලක් සේ පැහැදිලි සත්‍යය හමුවේ, කන්වැයකු පරිදි හැකිළුණේ ය.

ඉක්බිති ඔහු, පසෙක සිටි සිරිසෝම වෙත හෙළුවේ, කතරගම මහ දෙවොලේ, ඔද තෙදින් බබළන ස්කන්ධකුමාර දේවරාජයාණන්ගේ ප්‍රෞඪ ප්‍රතිමාරූපය වෙත යොමු කරන්නාක් වැනි, භක්ති පූර්වක බැල්මකි.

“මේ ඉන්නෙ නිකම් ම නිකම් හිස් මනුස්සයෙක් නො වෙයි සර්! මතු බුදු වෙන්ට පෙරුම් පුරන බෝධිසත්ත්ව උත්තමයෙක් ම යි කියාල, මට අදටත් හිතෙනවා!”

එසේ තෙපළ ගුරුභවතා එතෙකින් නොනැවතුණේ සැණෙකින් මුලිනුදුරා ලූ සද්දන්ත නුග රුකක් සේ, සිරිසෝමගේ දෙපා අබියස වැලි පොළොවේ වැඳ වැටුණේ ය.

“මේ වැඳුම් පිදුම් කිසි දෙයක් මට හිමි නෑ සුගුණපාල මහත්මයා... මම එදත් අදත් කළේ, මට ලැබෙන වැටුපට නියමිත රාජකාරිය විතරයි.”

දෙනුවන් නැගු කඳුළු අතරින් කොඳුළ සෞඛ්‍ය නිලධාරියා, වහා ඔහු දෙවුරින් අල්ලා නඟා සිටුවද්දී, කුඩා ළමයින් පෙළ පවා අයාගත් මුවින් හා සංවේදී හැඟීමෙන් යුතුව බලා හිඳිනු පාසල් ප්‍රධානියා විසිනුදු දක්නා ලදි.

## අවබෝධය

1. **පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**
   i. සිරිසෝම කවර වෘත්තියක නියැලෙන්නෙක් ද?
   ii. විදුහල්පතිතුමා වෛද්‍ය සායනයට අකමැති වන්නේ කවර හේතු නිසා ද?
   iii. වෛද්‍ය සායනයක් පැවැත්වීමේ අරමුණ කුමක් ද?
   iv. තරුණ ගුරුවරයා වෛද්‍ය පරීක්ෂණයට සහාය වන්නේ ඇයි?
   v. තරුණ ගුරුවරයාගේ ජීවිතය වෙනස් වීමට බල පෑ සිදුවීම කුමක් දැයි විස්තර කරන්න.
2. **කෙටිකතාවේ භාවිත කටවහරේ යෙදුම් පහක් උපුටා දක්වන්න.**
3. **කෙටිකතාවේ අන්තර්ගත ප්‍රබල අවස්ථාවක් විස්තර කරන්න.**



# නිර්මාණාත්මක ප්‍රබන්ධකරණය

සංක්ෂිප්ත ගද්‍ය කාව්‍ය විශේෂයක් ලෙස කෙටිකතාව හැඳින්විය හැකි වේ. සංකීර්ණ මානුෂික අද්දැකීම් හා මනෝභාවයන් පිළිබඳ හැඟීම් ප්‍රබල ලෙස නිරූපණය කිරීමට කෙටිකතා කලාව භාවිත කළ හැකි ය.

නිර්මාණාත්මක ප්‍රබන්ධකරණයෙන් අපේක්ෂා කරනුයේ නිර්මාණාත්මක කෙටිකතාවක් ලියන්නේ කෙසේ ද යන්න පිළිබඳ ඔබට අද්දැකීමක් ලබා දීමට ය. කෙටිකතා මාධ්‍යය පිළිබඳව අවබෝධයක් ඇති කර ගැනීම සඳහා කෙටිකතාවක් රචනා කිරීමේ දී හෝ රස විඳීමේ දී අපගේ සැලකිල්ලට යොමු විය යුතු කරුණු කිහිපයක් තිබේ:

කථා වස්තුව
චරිත නිරූපණය
පසුබිම
දෘෂ්ටිකෝණය
භාෂාව

මෙකී ලක්ෂණවලට අමතරව සංකේත භාවිතය ආදි තවත් ලක්ෂණ රැසකි.

සෑම කෙටිකතාවකට ම කථා ප්‍රවෘත්තියක් මුල් වේ. කථා ප්‍රවෘත්තියක් යනු කාලයට අනුව ඒකාබද්ධ කරන ලද සිදුවීම් සමුදායකි. බොහෝ කෙටිකතාවල සාර්ථකත්වය රඳා පවතින්නේ මේ කථා ප්‍රවෘත්තියෙහි අපූර්වත්වය උඩ ය. මේ කතා පුවත පාඨකයා විශ්වාස කළ හැකි එකක් වීම වැදගත් ය. අද්දැකීම් පාඨකයාට සමීප වන්නේත්, පොදු බවට පත් වන්නේත් එවිට ය. නිදසුනක් ලෙස 'මීටර් සියය' කෙටිකතාව ගනිමු.

> "අලුත් මහත්තයා ආවට පස්සේ ඉස්කෝලෙ කලින් තිබුණ පාළු ගතිය නෑ; ළමයිනුත් වෙනදාට වැඩියෙ ආශාවෙන් ඉස්කෝලෙ එනවා. පසුගිය වාරෙ අපේ ඉස්කෝලෙ උත්සවයක් තිබුණා. ඒකට මුල් වෙලා වැඩ කෙරුවෙත් අලුත් මහත්තයා. ඒකෙන් දහතුනෙන් පහළ මීටර් සියය දිවීමේ තරගයෙන් පළමු වැනියා වුණේ මම යි."

'මීටර සියය' කෙටිකතාවේ අද්දැකීම බවට පත්ව ඇත්තේ ගමේ ඉස්කෝලයට අලුතින් පත්ව එන ඉස්කෝලේ මහතාගේ මෙහෙයවීමෙන් 'මුදලිහාමි' නම් දරුවා සමස්ත ලංකා මීටර් සියය තරගයෙන් ජයග්‍රහණය කිරීම යි.

'චරිත නිරූපණය' කෙටිකතා රචනයේ දී වැදගත් වේ. විශාල කාල පරිච්ඡේදයක් ඇතුළත විකාශනය වන අද්දැකීම් විශාල සංඛ්‍යාවක් ඇතුළත් නවකතාවක මෙන් නොව, කෙටිකතාවක පරිපූර්ණ චරිත නිරූපණයක් කිරීම දුෂ්කර ය. කෙටිකතාවක නිරූපණය වන්නේ චරිතයකින් අංශුවක් පමණි. එමෙන් ම කෙටිකතාව තුළ ඉස්මතු වන්නේ එක් ප්‍රබල චරිතයක් හෝ දෙකකි. නිදසුන් ලෙස 'මීටර් සියය' කෙටිකතාව ගනිමු.

මීටර් සියය කෙටිකතාව කේන්ද්‍රගත වන්නේ මුදලිහාමිගේ චරිතය වටා ය. එනම් ඔහු මීටර් සියය ධාවන තරගයට ඉදිරිපත් වීමේ සිදුවීම පසුබිම් කර ගෙන ය. මේ කතාව විකාශනය වීමට ඉස්කෝලේ මහතාගේ චරිතය ද හේතු වී තිබේ.

කෙටිකතා නිර්මාණයේ දී වැදගත් වන තවත් ලක්ෂණයක් නම් පසුබිම යි. එනම්ඃ කෙටිකතාවේ අන්තර්ගත ක්‍රියාවට පිටුපසින් ඇති පරිසරය යි. කෙටිකතාවේ අද්දැකීම් කිසියම් නිශ්චිත ස්ථානයක නිශ්චිත අවස්ථාවක සිදු වන්නක් හැටියට දැක්වීම නිසා පාඨකයාගේ විශ්වාසය දිනා ගැනීමට පසුබිම උපකාරී වේ.

කොළඹ නගරයේ ක්‍රීඩා පිටියකට කැකිරාව ගමේ ළමයකු පැමිණීම හා ඔහු අද්දකින වෙනස කෙටිකතාවේ මූලික පසුබිම යි.

දෘෂ්ටි කෝණය හෙවත් කථන ක්‍රමය කෙටිකතාවක් රචනා කිරීමේ දී වැදගත් වන ලක්ෂණයකි. දෘෂ්ටිකෝණය යනුවෙන් අදහස් කරනුයේ සිය අද්දැකීම් නිරූපණය කිරීම පිණිස රචකයා විසින් තෝරා ගනු ලැබ ඇති මාර්ගය යි. කෙටිකතා රචනයේ දී බහුල ලෙස ප්‍රථම පුරුෂ දෘෂ්ටිකෝණය හා උත්තම පුරුෂ දෘෂ්ටිකෝණය යොදා ගැනේ.

'දිටිහ දාන' ප්‍රථම පුරුෂ දෘෂ්ටි කෝණය අනුගමනය කර ඇති කෙටිකතාවකි. එහි දී සියලු චරිත බාහිර පුද්ගලයන් ලෙස විස්තර කෙරේ.

උත්තම පුරුෂයෙන් හෙවත් 'ම' ශබ්ද කාරකයෙන් කෙටිකතාවක් රචනා කිරීමේ දී සිදු වන්නේ 'මම' නැමැති පුද්ගලයාට විඳීමට සිදු වූ අද්දැකීමක විලාසයෙන් කෙටිකතාව නිරූපණය වීම යි. 'මීටර් සියය' එලෙස උත්තම පුරුෂ දෘෂ්ටිකෝණයෙන් රචිත කෙටිකතාවකි.

කෙටිකතා රචනයේ දී වැදගත් වන ලක්ෂණයක් ලෙස භාෂාව හැඳින්විය හැකි ය. කෙටිකතාවෙන් නිරූපණය කිරීමට බලාපොරොත්තු වන අද්දැකීමට පාඨකයා හැකි තාක් දුරට සමීප කරවා ගැනීමට ඉවහල් වන පරිද්දෙන් කෙටිකතාකරුවා වචන භාවිත කරයි.

මීටර් සියය කෙටිකතාවේ දී මුදලිහාමිගේ චරිතයට ගැළපෙන ආකාරයට භාෂාව යොදා ගෙන තිබේ.

> "ඔක්කොම සපත්තුකාරයෝ. පෙළක් ළමයින්ගේ සපත්තුවල උල් හයි කරලා. මං ඉස්සර වෙලා දුවන කොට ඒ ගොල්ල කකුල පෑගුවොත් පතුරු යයි. මට බැරි වෙයි ද මේ ළමයි එක්කලා දුවලා දිනන්න?"

'දිටිහ දාන' කෙටිකතාවේ ද විදුහල්පතිවරයාගේ චරිතය ඉස්මතු වී පෙනෙන ආකාරයට ඔහුගේ භාෂා භාවිතය නිරූපණයට කතුවරයා උත්සුක වී තිබේ.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පාසල් ජීවිතයේ දී හෝ වෙනත් අවස්ථාවක ඔබ ලැබූ අමතක නොවන අද්දැකීමක් මුල් කොට ගෙන කෙටිකතාවක් රචනා කරන්න. එය පන්ති බිත්ති පුවත්පතේ ප්‍රදර්ශනය කරන්න.**
2. **පුවත්පත්වල පළ වන කෙටිකතා එකතු කොට, ගොනුවක් සකස් කරන්න.**



# 17 අභ්‍යවකාශ තාක්ෂණය

හිරු, සඳු, තාරකා ආදි ආකාශ වස්තු කෙරෙහි අතීතයේ සිට ම මිනිසාගේ අවධානය යොමු විය. මුල දී කුතුහලය පදනම් කොට ගෙන ඇරඹුණු ආකාශ වස්තු නිරීක්ෂණය මනුෂ්‍ය චින්තනය හා විචාර බුද්ධිය ප්‍රබෝධ කරවීමෙහි හේතු විය. ඒ ඇසුරෙන් නව දැනුම් ඉසවු කරා මනුෂ්‍යයා අවතීර්ණ විය. නක්ෂත්‍රය නැත හොත් තාරකා ශාස්ත්‍රය වූ කලි එසේ නිර්මිත දැනුමකි. ගොවීන් බෝග වගාව සඳහාත් නාවිකයන් මුහුදු ගමන් සඳහාත් ඉංජිනේරුවන් සිය නිර්මාණ දිශාභිමුඛ කිරීමටත් පර්යේෂකයන් පෘථිවි අන්වේක්ෂණයටත් තාරකා හා ග්‍රහ පිහිටීම් යොදා ගත් බව පෙනේ. අභ්‍යවකාශ ගවේෂණයේ පැතිකඩක් අනාවරණය කෙරෙන මේ පාඩම සකසා ඇත්තේ නවීන තාක්ෂණ පිළිබඳ ආතර් සී. ක්ලාක් ආයතනයේ අභ්‍යවකාශ යෙදවුම් අංශයේ පර්යේෂණ විද්‍යාඥ විදානගේ මහේෂ් ඉන්දික චතුරංග මහතා විසින් සම්පාදිත ලිපියක් ඇසුරෙනි.

දහ නව වන සියවසේ දී විද්‍යා හා තාක්ෂණ ක්ෂේත්‍රයන්හි ප්‍රබල වෙනසකට හේතු වූයේ යුරෝපයේ සිදු වූ කාර්මික විප්ලවය යි. මිනිසා නව විද්‍යා දැනුම නිර්මාණය කරමින් විද්‍යාත්මක සොයා ගැනීම්, තාක්ෂණික අත්හදා බැලීම් සඳහා උත්සුක විය. ඊට සමගාමීව පෘථිවියෙන් ඔබ්බට වූ, එනම් අභ්‍යවකාශ වස්තූන් පිළිබඳ තිබූ උනන්දුව ඉහළ ගිය අතර, අභ්‍යවකාශ ගවේෂණ මූලික කොට ගත් අභ්‍යවකාශ තාක්ෂණ විෂයය බිහි විය. දෙවන ලෝක යුද්ධයෙන් පසු අභ්‍යවකාශ තාක්ෂණය ඇමෙරිකා එක්සත් ජනපදය, ජර්මනිය හා සෝවියට් සමූහාණ්ඩුව මූලික කොට ගෙන දියුණු වූ අතර, අභ්‍යවකාශ ගවේෂණ පිළිබඳ ඔවුනොවුන් අතර තරගයක් පැවතිණි.



ස්පුට්නික් 1

අභ්‍යවකාශ තාක්ෂණයේ වැදගත් ම අත්හදාබැලීම් අතර රොකට්ටුව මූලික තැනක් ගනී. එය පදනම් කරගෙන අභ්‍යවකාශ තාක්ෂණ ක්ෂේත්‍රයේ සුවිශේෂ ජයග්‍රහණ රැසක් අත්පත් කර ගෙන ඇත. සමාජවාදී සෝවියට් සමූහාණ්ඩු සංගමය විසින් 1957 දී 'ස්පුට්නික් 1' නම් චන්ද්‍රිකාවක් සාර්ථකව කක්ෂගත කරන ලදි. එය මිනිසා විසින් කක්ෂගත කරන ලද ප්‍රථම චන්ද්‍රිකාව යි. ඊට සිවු වසරකට පසුව, එනම් 1961 දී 'වොස්ටොක් 1' යනුවෙන් නම් කෙරුණු යානයක් මනුෂ්‍යයකු සමග අභ්‍යවකාශයට යවමින් සෝවියට් සංගමය මිනිසකු පළමුව අභ්‍යවකාශයට යැවීමේ ගෞරවය හිමි කර ගත්තේ ය. අභ්‍යවකාශයට ගිය පළමු මිනිසා ලෙස ඉතිහාස ගත වන්නේ යූරි ගගාරින් ය. 1969 දී සඳ මතට පළමු මිනිසා යවමින් ඇමෙරිකාව හිමි කර ගත්තේ රුසියාවට නොදෙවෙනි ගෞරවයකි. මේ අභ්‍යවකාශ ගවේෂණ ක්ෂේත්‍රයේ විශේෂ සන්ධිස්ථාන ත්‍රිත්වයකි.



වොස්ටොක් 1




යූරි ගගාරින්

චන්ද්‍රිකාවක් යනු  අවකාශය තුළ වස්තුවක් වටා කක්ෂගත වී ඇති (ස්වාභාවික හෝ කෘත්‍රිම) තවත් වස්තුවකි. සූර්යයා වටා කක්ෂයක ගමන් කරන පෘථිවිය ද පෘථිවිය වටා කක්ෂයක ගමන් කරන චන්ද්‍රයා ද ස්වාභාවික චන්ද්‍රිකා වේ. වර්තමානයේ බොහෝ රටවල් විවිධ අරමුණු සඳහා කෘත්‍රිම චන්ද්‍රිකා කක්ෂගත කර තිබේ. බොහෝ අභ්‍යවකාශ යෙදවුම් **චන්ද්‍රිකා පද්ධති** මූලික කොට ගෙන ඇත.

තාක්ෂණික දෘෂ්ටිකෝණයෙන් බලන කල අභ්‍යවකාශ තාක්ෂණ නියැලුම්, ප්‍රධාන විෂය පථ තුනක් ඔස්සේ දිවේ.

1. සන්නිවේදන චන්ද්‍රිකා පද්ධති (Communication Satellite Systems)
2. වායුගෝලීය හා පෘථිවි සමීක්ෂණ චන්ද්‍රිකා පද්ධති (Atmospheric and Earth Observation Satellite Systems)
3. ගෝලීය යාත්‍රණ චන්ද්‍රිකා පද්ධති (Global Navigation Satellite Systems)

## සන්නිවේදන චන්ද්‍රිකා පද්ධති

සන්නිවේදන චන්ද්‍රිකා පිළිබඳ මූලික අදහස ශ්‍රීමත් ආතර් සී. ක්ලාක් මහතා විසින් 1945 දී ***Wireless World*** සඟරාවේ පළ කරන ලද ලිපියක් මගින් ඉදිරිපත් කරන ලදි. පෘථිවියේ සමක තලය මත මධ්‍යයන මුහුදු මට්ටමට කිලෝමීටර 35786ක් දුරින් පිහිටි කවාකාර කක්ෂයක එකිනෙකට අංශක 120ක පරතරයක් සහිතව ස්ථානගත කොට ඇති භූ ස්ථාවර චන්ද්‍රිකා (Geostationary Satellite) තුනක් මගින් මුළු පෘථිවිය ම ආවරණය කළ හැකි බව ඔහුගේ පිළිගැනීම විය.



ශ්‍රීමත් ආතර් සී. ක්ලාක් මහතා

පෘථිවියේ එක් ස්ථානයක සිට තවත් ස්ථානයකට තොරතුරු සන්නිවේදනයට අතරමැදියන් ලෙස ක්‍රියා කිරීමට මෙම චන්ද්‍රිකාවලට හැකි ය. වර්තමානයේ ඉහළ අක්ෂාංශ ප්‍රදේශ ආවරණය කිරීම සඳහා, ආනත ඉලිප්සාකාර කක්ෂවල ස්ථානගත කර ඇති භූසමමුහුර්ත (Geosynchronice) චන්ද්‍රිකා භාවිත කෙරේ. අන්තර් මහාද්වීප, අන්තර් දේශ සීමා සහ ස්වදේශික දුරකථන, ගුවන්විදුලි, රූපවාහිනී හා අන්තර්ජාල සන්නිවේදන කටයුතුවලට අමතරව ගෝලීය සමුද්‍රීය සන්නිවේදන කටයුතු සඳහා ද මේ  චන්ද්‍රිකා පද්ධති යොදා ගනු ලැබේ.

## වායුගෝලීය හා පෘථිවි සමීක්ෂණ චන්ද්‍රිකා පද්ධති

මේ චන්ද්‍රිකා පද්ධතීන්ගේ අරමුණ වනුයේ පෘථිවිය මත හෝ ඊට ආසන්නව පවතින වස්තූන්ගේ හා සංසිද්ධීන්ගේ තොරතුරු අභ්‍යවකාශයේ සිට අන්වේක්ෂණය (Investigation) කිරීම යි. මෙහි දී මේ චන්ද්‍රිකා විසින් තම සංවේදක (Sensors) මාර්ගයෙන් ග්‍රහණය කර ගනු ලබන පෘථිවි පරාවර්තිත හෝ විමෝචිත විද්‍යුත් චුම්බක තරංග, පිළිබිඹු (Images) වශයෙන් ගබඩා කර ගනු ලැබේ. මෙලෙස ගබඩා කර ගනු ලබන පිළිබිඹු, මූලික පෙර සැකසුමකට පසුව විවිධ වූ තොරතුරු උකහා ගැනීමේ ක්‍රමවේදවලට යටත් කෙරේ. මෙසේ වස්තුව හෝ සංසිද්ධිය භෞතිකව ස්පර්ශ නොකර තොරතුරු ලබා ගැනීම දූරස්ථ ග්‍රහණ ගෝචර (Remote Sensing) ලෙස හැඳින්වේ. එහි ආකාර දෙකකි.

1. **සක්‍රිය දූරස්ථ ග්‍රහණ ගෝචර** (Active Remote Sensing)



මෙහි දී සංවේදකය සහිත චන්ද්‍රිකාවට සවි කොට ඇති විමෝචකයකින් නිකුත් කෙරෙන විද්‍යුත් චුම්බක තරංග මාර්ගයෙන් දීප්තනය (Illumination) කෙරෙන වස්තුව මගින් පරාවර්තිත ප්‍රතිප්‍රකිරණය (Backscatter) නැවත සංවේදකය විසින් ග්‍රහණය කර ගනු ලැබේ.

සක්‍රිය දූරස්ථ ග්‍රහණ ගෝචර

2. **අක්‍රිය දූරස්ථ ග්‍රහණ ගෝචර** (Passive Remote Sensing)

මෙහි දී වස්තුව දීප්තනය කරනු ලබන ප්‍රභවය සංවේදකය සවි කර ඇති චන්ද්‍රිකාවෙන් පරිබාහිර වේ. එනම් සූර්යයා හෝ වෙනත් ප්‍රභවයක් වේ. එමගින් ප්‍රතිදීප්තනය වන වස්තුව මගින් පරාවර්තනය හෝ විමෝචනය කරනු ලබන කිරණ, සංවේදක මගින් ග්‍රහණය කර පිළිබිඹු ලෙස ගබඩා කරනු ලැබේ.



අක්‍රිය දූරස්ථ ග්‍රහණ ගෝචර

වායුගෝලීය හා පෘථිවි සමීක්ෂණ චන්ද්‍රිකා පද්ධතියේ යෙදවුම් බොහෝ ය. කෘෂි වගාවන්හි ගුණාත්මකභාවය නිර්ණය හා අස්වැන්න අනුමාන කිරීම, නියඟ, ගංවතුර හා නායයෑම් ආදි ආපදා තත්ත්ව හඳුනා ගැනීම, හමුදාමය කටයුතු, නගර සැලසුම් කටයුතු, වන සංරක්ෂණය හා කළමනාකරණය, කාලගුණ හා දේශගුණ තත්ත්ව අධ්‍යයනය, සාගර ආශ්‍රිත කටයුතු පාලනය හා භූමියේ විවිධ සිතියම් නිර්මාණය ඉන් කිහිපයකි.

## ගෝලීය යාත්‍රණ චන්ද්‍රිකා පද්ධති

යාත්‍රණය (Navigation) යනු යම් ස්ථානයක සිට තවත් ස්ථානයක් සොයා යෑමේ ක්‍රමවේදයකි. ඒ සඳහා අනවරත ස්ථානගත කිරීම් ද (Continuous Positioning) නිවැරදිව මනිනු ලබන ප්‍රවේග හා කාලය ද අවශ්‍ය වේ. යාත්‍රණ ක්‍රියාවලිය සඳහා චන්ද්‍රිකා භාවිතයේ දී, දන්නා ස්ථාන (Known Station) වනුයේ කක්ෂවල ගමන් කරන චන්ද්‍රිකාවල පිහිටීම යි. මෙහි දී භාවිත වන සිද්ධාන්තය වනුයේ ත්‍රයංශනය (Trilateration)යි. එනම් චන්ද්‍රිකාවල සිට පිහිටීම නිර්ණය කිරීමට අවශ්‍ය පෘථිවි ස්ථානයට දුර මැනෙන අතර, එම දුරවල් ප්‍රතිච්ඡේදනයෙන් (Resection) අවශ්‍ය පිහිටීම අක්ෂාංශ, දේශාංශ හා උන්නතාංශ වශයෙන් ගණනය කරනු ලැබේ. මේ සඳහා අවම වශයෙන් නිවැරදි ජ්‍යාමිතික පිහිටීමේ ස්ථානගත චන්ද්‍රිකා හතරක් වත් අදාළ ස්ථානයේ ඇති ප්‍රතිග්‍රාහකයට (Receiver) දර්ශනය විය යුතු ය.

මේ සංකල්පය මුලින් ම හඳුන්වා දෙන ලද්දේ සෝවියට් සමූහාණ්ඩුව විසින් වුව ද පළමු යාත්‍රණ චන්ද්‍රිකා පද්ධතිය ස්ථාපිත කරනු ලැබුවේ එක්සත් ජනපදය විසිනි. වර්තමානයේ ගෝලීය පද්ධතියක් වශයෙන් ක්‍රියාත්මක වන 'ගෝලීය ස්ථානගත කිරීමේ පද්ධතිය' (GPS - Global Positioning System) එහි ක්‍රමික දියුණුවකි. එය සමක තලය සමග අංශක 55ක ආනතියකින් යුතුව එකිනෙකට වෙනස් වූ දිශාභිමුඛ සහිත කක්ෂ හයක එකක හතර බැගින් අවම චන්ද්‍රිකා 24කින් පිහිටුවනු ලැබූ පද්ධතියකි. එමෙන් ම එය ඕනෑ ම කාලගුණ තත්ත්වයක් යටතේ ඕනෑ ම වේලාවක දී ඕනෑ ම භූගෝලීය පිහිටීමක දී මනා ජ්‍යාමිතික පිහිටීමකින් යුතු අවම චන්ද්‍රිකා 4ක් හෝ ඊට වැඩි ගණනක් දර්ශනය වන සැකසුමකි.

GLONASS යනු GPSට අනුරූප මෑතක දී ස්ථාපිත රුසියානු යාත්‍රණ පද්ධතියයි. දැනට ගෝලීය යාත්‍රණ චන්ද්‍රිකා පද්ධතියට සක්‍රියව දායක වී ඇත්තේ GPS සහ GLONASS පද්ධති පමණි. යුරෝපයේ GALILEO, චීනයේ BEIDOU, ඉන්දියාවේ NAVIC සහ ජපානයේ QZSS ඉදිරියේ දී මේ ගෝලීය පද්ධතියට එකතු වීමට බලාපොරොත්තු වන කලාපීය (Regional) යාත්‍රණ චන්ද්‍රිකා පද්ධති වේ.

ගෝලීය යාත්‍රණ චන්ද්‍රිකා පද්ධතියේ යෙදවුම් බොහෝ ය. කක්ෂගත කරන ලද අනෙකුත් චන්ද්‍රිකා අධීක්ෂණය, මුහුදු, ගොඩබිම් හා ගුවන් ගමන් නියාමනය, අන්තර්ජාල ගනුදෙනු නියාමනය, මැනුම් හා සිතියම් නිර්මාණය ඉන් කිහිපයකි.

මේ ආකාරයෙන් අභ්‍යවකාශ තාක්ෂණය පුළුල් පරාසයක පැතිරී තිබේ. මීට අමතරව සෞරග්‍රහ මණ්ඩලය හා ඉන් ඔබ්බට පැතිර යන්නා වූ ගවේෂණ ද අභ්‍යවකාශ තාක්ෂණයේ සුවිශේෂ ක්‍රියාකාරකම් ලෙස සැලකිය හැකි ය. මෙලෙස අභ්‍යවකාශ තාක්ෂණය මිනිසාගේ ජීවිතය හා බැඳුණු වැදගත් ක්ෂේත්‍රයක් බවට පත් වී ඇත.

**පාරිභාෂික වචන**

| | |
|---|---|
| අභ්‍යවකාශය | - පෘථිවි වායු ගෝලයෙන් ඔබ්බට (එපිට) පිහිටි කලාපය හෝ ප්‍රදේශය |
| පෘථිවිය | - මිනිසා ජීවත් වන ග්‍රහලෝකය, පස්, ඛනිජ ආදිය තිබෙන භූමිය, සූර්යයාගේ සිට දුරින් තුන්වැනි ග්‍රහලෝකය |
| විමෝචනය | - පිට කිරීම, නිකුත් කිරීම |
| අන්වේක්ෂණය | - විමර්ශනය, වග විභාගය, සෝදිසිය |
| කක්ෂය | - අභ්‍යවකාශය තුළ අනෙකුත් වස්තුවක් වටා ගමන් කරන චන්ද්‍රයන්, ග්‍රහලෝක හෝ කෘත්‍රිම චන්ද්‍රිකා අනුගමනය කරනු ලබන ගමන් පථය |
| සෞරග්‍රහ මණ්ඩලය | - සූර්යයා ද ඇතුළුව සූර්යයා වටා පරිභ්‍රමණය වන සියලු ම ග්‍රහලෝක, චන්ද්‍රයන්, ධූමකේතු (වල්ගාතරු) හා ග්‍රහක |
| චන්ද්‍රිකාව | - ග්‍රහලෝකයක් හෝ වස්තුවක් වටා කක්ෂ ගත වී ඇති ස්වාභාවික හෝ කෘත්‍රිම වස්තුව |
| විද්‍යුත් චුම්බක තරංග | - එකිනෙකට ලම්බකව දෝලනය වන විද්‍යුත් ක්ෂේත්‍රවලින් හා චුම්බක ක්ෂේත්‍රවලින් සමන්විත, ප්‍රචාරණය සඳහා මාධ්‍යයක් අවශ්‍ය නොවන තරංග විශේෂයකි. |

## අවබෝධය

1. අභ්‍යවකාශ ගවේෂණයේ සුවිශේෂ අවස්ථා තුන නම් කරන්න.
2. සන්නිවේදන චන්ද්‍රිකා පද්ධති පිළිබඳ ආතර් සී. ක්ලාක්ගේ මතය කුමක් ද?
3. වායුගෝලීය සහ පෘථිවි සමීක්ෂණ චන්ද්‍රිකා පද්ධතිවල අරමුණ කුමක් ද?
4. යාත්‍රණය යන්න පැහැදිලි කරන්න.
5. ප්‍රධාන චන්ද්‍රිකා පද්ධති තුනෙහි යෙදවුම් වෙන් වෙන් වශයෙන් වගුගත කරන්න.



# බිත්ති පුවත්පතක ව්‍යුහය

- බිත්ති පුවත්පත දිනපතා පත්‍රයක මුල් පිටුවේ ආකෘතිය අනුව සකස් කිරීම සුදුසු ය.
- ඉහළින් ම සටහන් කළ යුත්තේ බිත්ති පුවත්පතේ නම යි.
- ඉනික්බිතිව එය පළ කරනු ලබන්නේ කවුරුන් විසින් ද, දිනය ආදි තොරතුරු සඳහන් කළ හැකි ය.

## බිත්ති පුවත්පත් හා සඟරා ලිපි ලිවීම

පාසලේ ප්‍රසිද්ධ ස්ථානයක හෝ පන්ති කාමරවල බිත්තියේ සවි කරන ලද පුවරුවක හෝ අලවන ලද කඩදාසියක පෙළගස්වා ඇති ගද්‍ය හා පද්‍ය නිර්මාණ, චිත්‍ර, විවිධ තොරතුරු, උද්ධෘත ආදිය ඔබ කියවා ඇත. ඒ ඔබ කියවූ ලිපි බිත්ති පුවත්පත් ලිපියි. එමෙන් ම **නුවණ, සම්භාෂා, සංස්කෘතික පුරාණය, නවයුගය, දෙසතිය, හඬ** ආදි සඟරාවල ද විවිධ විෂය සම්බන්ධ ශාස්ත්‍රීය ලිපි මෙන් ම කාලීන වැදගත්කමක් ඇති තොරතුරු, නිර්මාණාත්මක ලිපි, සම්මුඛ සාකච්ඡා ආදිය ඇතුළත් වෙයි. එවන් සඟරා ලිපි ද කොතෙකුත් ඔබ කියවා තිබේ. නිර්මාණාත්මක ලේඛන වන බිත්ති පුවත්පත් ලිපි හා සඟරා ලිපි පිළිබඳ මීට ඉහත ශ්‍රේණිවල දී ඔබ උගත් කරුණු නැවතත් මතකයට නගා ගන්න.

| බිත්ති පුවත්පත් ලිපි | සඟරා ලිපි |
|---|---|
| • සීමිත කාලපරාසයක දී පමණක් ප්‍රදර්ශනය වන නිසා කෙටි කාලීන ය | • මුද්‍රිත ප්‍රකාශනයක් ලෙස දිගුකලක් පවතී. |
| • බිත්ති පුවත්පතේ ලිපි නැවත නැවත අලුත් කළ හැකි ය. | • සඟරාවක එක් කලාපයක පළ වූ ලිපි නැවත වෙනස් කළ නොහැකි ය. |
| • බිත්ති පුවත්පත් ලිපි සංක්ෂිප්ත විය යුතු ය. | • ඉඩකඩ සීමිත නොවන නිසා සඟරා ලිපි සංක්ෂිප්ත වීම අනිවාර්ය නො වේ. |

| | |
|---|---|
| ● විවිධ මාධ්‍යවල (උදාහරණ: ගද්‍ය, පද්‍ය, කෙටිකතා, චිත්‍ර, ඉගෙනුම් ආධාරක) එකතුවකි.<br>● බිත්ති පුවත්පත් ලිපි කියවීමට පාඨකයාට ඇත්තේ සීමිත කාලයකි. උදාහරණ - පාසල ආරම්භ වන තුරු, පාසල් විවේක කාලය, පාසල් බස් රථය පැමිණෙන තුරු | ● පොදු හෝ විශේෂ අරමුණක් පාදක කොටගත් මුද්‍රිත මාධ්‍යය පමණක් භාවිත වූවකි.<br>● ළඟ තබා ගත හැකි නිසා සඟරා ලිපි කියවීමට කාලය බාධාවක් නො වේ. තමාට ඉඩ ලද ඕනෑ ම මොහොතක කියවිය හැකි ය. |

ඉහත සඳහන් වගුවෙහි දැක්වෙන්නේ බිත්ති පුවත්පත් ලිපි සහ සඟරා ලිපි අතර ඇති වෙනස්කම් ය. වෙනස්කම් මෙන් ම මේවා අතර සමානකම් ද දක්නට ලැබේ.

- බිත්ති පුවත්පතටත් සඟරාවටත් සංස්කාරකවරයෙක් හෝ සංස්කාරක මණ්ඩලයක් සිටී.
- සංස්කාරක සටහනක් දක්නට ලැබේ.
- මේ ලිපි දෙවර්ගයේ ම ඡායාරූප හා චිත්‍ර තිබිය හැකි ය.
- සඟරාව මෙන් ම බිත්ති පුවත්පත ද විවිධ කලාප හා තේමා යටතේ පළ කළ හැකි ය.

| කලාපය | තේමා |
|---|---|
| අලුත් අවුරුදු කලාපය | ශ්‍රී ලාංකික රජවරු |
| වෙසක් කලාපය | ජල සම්පත |
| නත්තල් කලාපය | ළමා දිනය |

- මේ දෙවර්ගයේ ම ලිපිවලින් යම්කිසි මතයක්, අදහසක්, පණිවිඩයක් ඉදිරිපත් කළ හැකි ය.

බිත්ති පුවත්පතක ව්‍යූහය දිනපතා ප්‍රවෘත්ති පත්‍රයක මුල් පිටුවේ ආකෘතියට අනුව සකස් විය යුතු බව ඔබ 7 ශ්‍රේණියේ දී ද ඉගෙන ගෙන ඇත. අධ්‍යාපනික සඟරා කිහිපයක් සපයා ගෙන සඟරාවක ව්‍යූහය නිරීක්ෂණය කරන්න. එහි පිටු සකස් වී ඇති අනුපිළිවෙළ දැක ගත හැකි ය.

1. මුල් පිටුව
2. සංස්කාරක මණ්ඩලය
3. සංස්කාරක සටහන
4. සඟරාවේ පළ කෙරෙන ලිපි

**බිත්ති පුවත්පතකට හෝ සඟරාවකට ලිපියක් ලිවීමේ දී ලේඛකයා සැලකිලිමත් විය යුතු කරුණු කිහිපයකි.**

### රචකයාගේ භාෂා ශෛලිය

ලිපිය ලියන්නා නිවැරදි හා නිරවුල් ලෙස භාෂාව භාවිත කළ යුතු ය. සරල බස් වහරකින් පාඨකයාට පැහැදිලිව අවබෝධ කර ගත හැකි පරිදි ලිපි ලිවීම වැදගත් ය.

### අර්ථවත්භාවය

ලිපියෙහි ඇතුළත් කරන කරුණු, තොරතුරු අර්ථවත් හා නිවැරදි විය යුතු ය. කාලීන වැදගත්කමක් ඇති, අරුත්බර තොරතුරු සැම විට ම පාඨක අවධානය දිනා ගනී.

### නිර්මාණාත්මකභාවය

කොතරම් නිවැරදි භාෂා ශෛලියක් අනුගමනය කරමින් කෙතරම් වැදගත් තොරතුරු ඉදිරිපත් කළත් ලිපිය නිර්මාණශීලි නො වේ නම් එය පාඨකයාගේ ආකර්ෂණයට ලක් නො වේ. ඒ නිසා ආකර්ෂණීය මාතෘකාවක් යොදා රසවත් ලෙස කරුණු ඉදිරිපත් කළ යුතු ය.

මේ කරුණු කෙරෙහි සැලකිලිමත් වෙමින් ඔබත් බිත්ති පුවත්පත් ලිපි හා සඟරා ලිපි ලිවීම ප්‍රගුණ කරන්න.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පාරිභාෂික වචන යෙදෙන මෙවැනි පුවත්පත් හෝ සඟරා ලිපියක් සොයා ගෙන එහි ඇති පාරිභාෂික වචනවල අර්ථ ශබ්දකෝෂ පරිහරණය කර සොයා ලියන්න.**
2. **ඔබ කැමැති විෂය ක්ෂේත්‍රයක් යටතේ පාරිභාෂික වචන ඇතුළත් කරමින් සකස් කළ ලිපියක් පන්තියේ හෝ පාසල් බිත්ති පුවත්පතට යොමු කරන්න.**
3. **'සිංහල සාහිත්‍යධරයෝ' යන්න ප්‍රධාන තේමාව වශයෙන් ගෙන පන්තියේ සියලු දෙනාගේ ම නිර්මාණ ඇතුළත් වන පරිදි බිත්ති පුවත්පතක් නිර්මාණය කරන්න.**
4. **ගුරුතුමාගේ/තුමියගේ උපදෙස් අනුව පොදු තේමාවක් සපයා ගෙන සියලු දෙනාගේ ලිපි ඇතුළත් කරමින් පන්ති සඟරාවක් සකස් කරන්න.**



# 18 පොතපතෙන් සරු දහම්

කිසියම් චර්යාවක්, හැසිරීමක් යහපත් යැයි සමාජයේ පිළිගැනීමක් ඇති වූ විට එය සාරධර්මයක් ලෙස සැලකිය හැකි ය. සමාජයේ සාමූහික එකඟතාව සාරධර්මයක පදනම යි.

සාහිත්‍ය නිර්මාණයක අපේක්ෂාව වන්නේ ජීවිතය පිළිබඳ අවබෝධය පුළුල් කිරීම යි. සාහිත්‍යය මවක මෙන් උපදෙස් දෙයි. සාහිත්‍යයේ එන ජීවිත විවරණ, ඍජු උපදේශ ස්වරූපයක් නොව යහපත පිළිබඳ අදහස් වශයෙන් මනා අවබෝධයකින් යුක්තව මනසේ තහවුරු වේ. ජීවිතය හැඩගස්වා ගැනීම සඳහා අත්‍යවශ්‍ය උපදේශ ලබා දෙන්නට ම ලියැවුණු පොතපත ද සාහිත්‍යයෙහි බහුල ය. සාහිත්‍ය නිර්මාණ පරිශීලනයෙන් ලබන අවබෝධය ඔස්සේ වඩා යහපත් ජීවිතයක් ගොඩනගා ගත හැකි ය. මේ පාඩම සාහිත්‍යයේ නිරූපිත සාරධර්ම කිහිපයක් ගැන අවධානය යොමු කරන්නකි.

යම් සමාජයක ජීවත් වන මිනිසුන්ගේ ජීවිත යහපත් ලෙස හැඩගස්වන, එම සමාජයේ ම වුවමනා තුළින් ම ඇති වුණු පිළිගැනීම්, විශ්වාස සහ සිරිත් විරිත් 'සාරධර්ම' ලෙස හැඳින්විය හැකි ය. සමාජයක ප්‍රගමනයට හේතු වන්නේ එහි වෙසෙන්නන් තුළ පවතින යහපත් ගුණාංග යි. සමාජයක ජීවත් වන අපට ඒ සමාජයේ පැවැත්මට හේතු වන චර්යා අනුගමනය කරන්නට සිදු වෙයි. මේ චර්යා හා සිරිත් විරිත් මිනිසා විසින් ම ඇති කර ගන්නා ලද හා පුරුදු පුහුණු කර ගන්නා ලද ගති පැවතුම් ය. මේවා ඈත අතීතයේ පටන් සකස් වෙමින් පැවත එන්නේ ය. බොහෝ සිරිත් විරිත් හා තහංචි පරම්පරාවෙන් පරම්පරාවට සම්ප්‍රදායක් වශයෙන් මිනිසුන් උරුම කර ගත් හැසිරීම් ය. ඕනෑ ම සමාජයක ඒ ඒ අයගේ ජාතියට, ආගමට, විශේෂිත වූ චර්යා සිරිත් විරිත් දැකිය හැකි ය.

බුදුන් වහන්සේ දේශනා කළේ කෙනකුගේ උතුම් බව රැකෙන්නේ උත්පත්තියෙන් නො ව, ක්‍රියාවෙන් බව යි. මේ අදහස ම සනාථ කරමින් තිරුවල්ලුවර් නමැති ශ්‍රේෂ්ඨ හින්දු චින්තකයා **තිරුක්කුරල්** නමැති මානව ධර්ම ශාස්ත්‍ර ග්‍රන්ථය රචනා කළේ ය. **පෙරියපුරාණම්** නමැති ග්‍රන්ථයේ ඇතුළත් චරිත කතා මගින් ද කෙරෙන්නේ සමාජයේ යහපත් බව රැක ගන්නට උපදෙස් දීම යි. **ශුද්ධ වූ කුරානයේ** සඳහන්ව ඇත්තේ ද ඉස්ලාම් ධර්මය මගින් සමාජයට යහපත සලසන ආකාරය යි. සියලු මනුෂ්‍යයන් දේව දරුවන් වන හෙයින් 'ඔවුහු සියල්ලෝ ම සහෝදරයෝ ය' යන අදහස ක්‍රිස්තු ධර්මයෙහි ඉගැන්වේ. කිතු දහමෙහි ද සමාජය යහපත් ලෙස පවත්වා ගෙන යෑමට අවශ්‍ය උපදෙස් අන්තර්ගත වී ඇති බව **බයිබලය** කියැවීමෙන් අවබෝධ කර ගත හැකි ය. මෙබඳු සෑම ග්‍රන්ථයක ම පාහේ ගැබ් වී ඇත්තේ යහපත් පුද්ගලයකු නිර්මාණය කරන සාරධර්ම බව පැහැදිලි ය.

පවුල අප සමාජයේ කුඩා ම ඒකකය යි. පවුලේ සාමාජිකයන් හැසිරිය යුතු ආකාරය අපි ගෙදර දී ම උගනිමු. ඉන් පසු සමාජයට පිවිසෙන අපට ඒ ඒ ආයතන යහපත් ගුණධර්ම උගන්වයි. සමාජයේ යහපත් පැවැත්මටත් පුද්ගලයාගේ චරිත සංවර්ධනයටත් පුද්ගලයා හා සමාජය අතර නිරවුල් අවබෝධය තහවුරු කරලීමත් මේ සාරධර්ම මහෝපකාරී වන්නේ ය. මේවාට පටහැනි වීම පුද්ගලයාගේ යථා පැවැත්මට හානි පමුණුවයි.

සිංහල සාහිත්‍යයේ උපදේශ ග්‍රන්ථ යනුවෙන් විශේෂයෙන් හැඳින්වෙන ශ්‍රේෂ්ඨ කෘති කීපයකි. **ලෝවැඩ සඟරාව, ලෝකෝපකාරය, සුභාෂිතය, සිරිත්මල්දම** එබඳු පොත් ය. **ජාතක පොත් වහන්සේ** අපට උගන්වන යහපත් ගුණධර්ම මෙතෙකැ'යි ප්‍රමාණ කළ නොහැකි ය. බෞද්ධ සාහිත්‍යයේ සෑම ග්‍රන්ථයක ම අපට උගන්වන්නේ සාරධර්ම යි.

**සද්ධර්මරත්නාවලියෙහි** සඳහන් පූතිගත්ත තිස්ස තෙරුන් වහන්සේගේ කථාවෙහි දී, ඇල්ලීමට නොව බැලීමට පවා නොහැකි ලෙස ශරීරය කුණු වී, ඇල්ලීමට නොව බැලීමට පවා නොහැකි ලෙස සැරව ගලමින් තිබූ අවස්ථාවේ ඒ තෙරුන්ගේ තුවාල සෝදා පිරිසිදු කරන්නේ ද බුදුන් වහන්සේ ම ය.

"ඒ ඇතාණෝ ද බුදුන් දැක ළඟට ගොසින් වැඳලා කැටි ව ආ අනික් තෙනක් නැති නියාව දැක වැඩ සිටි රුප්පයේ ම තණ පයින් උදුරා පියා අත්තක් කඩා ගෙන අවුත් හැමඳ පියා බුදුන් වස් වැස වැඩහුන් කල්හි වස් තුන්මස ම කළය සොඬින් හැරගෙන ගොසින් බොන පැනුත් ගෙනවුත් තබාලති."

- **සද්ධර්මරත්නාවලිය**

පාරිලෙයාා ඇතා බුදුන් වහන්සේට උවටැන් කළ අයුරු මෙහි කියැවේ. එකිනෙකාට උදවු උපකාර හා උවටැන් කිරීම මගින් පුද්ගලයා යහපත් අයකු කෙරෙන බව බොහෝ සාහිත්‍ය ග්‍රන්ථ මගින් පැහැදිලි කෙරෙයි. චුල්ලහංස ජාතකයේ හංස සේනාධිපතියා හංස රාජයාණන්ට උපකාර කරන්නේ තම ජීවිතය ද පරදුවට තබමිනි.

"නුඹ වහන්සේ මරණ පාසයෙන් බැඳුණු සේක. මම ස්නේහ පාසයෙන් බැඳී ගියෙමි. එහෙයින් මියෙතත් එක්ව ම ය. ගැලවී යතත් නුඹ වහන්සේ හා එක්ව යෙමි'යි. ඉදින් ඇර පියා ගොස් මාගේ ජීවත් වීමට වඩා නුඹ වහන්සේ හා එක්ව රඳා මිය යාම උතුම් වන්නේ ය."

නූතන සාහිත්‍ය නිර්මාණ මගින් ද මේ සාරධර්මය ජීවිතවලට සම්බන්ධ කරනු දක ගත හැකි ය.

විජේසිංහ අමතක ද උඹට
කම්හලේ රෝදයට
අත බිඳී ගිය දවස
නාදන් නොවෙ ද නුඹ
බේර ගත්තේ එදින
පිච්චමල් හදවතින්
ලේ දෙමින්
වාට්ටුව ළඟ ඉඳන්
මලමූත්‍ර ගෙන යමින්

- **ටියුඩර් අමරසේන**

මේ නිර්මාණයෙන් කියවෙන උපස්ථානය ජාති, ආගම් භේදයකින් තොරව කෙරෙන්නකි. නූතන කවියා සමගිය, සාමය ඇති කරන්නට කවිය යොදා ගත් අපූරු අවස්ථාවකි මේ. උවටැන් කිරීමේ දී සිත්හි මතු කර ගත යුතු උතුම් දහම මෙය යි. 'පිච්චමල් හදවතින්

ලේ දෙමින්' නාදන් විජේසිංහ බේරා ගනියි. මෙයින් සමාජයට දෙන පණිවිඩය ශ්‍රේෂ්ඨ ය. මේ සාරධර්මය ඉස්මතු කෙරෙන නිර්මාණ නූතන සාහිත්‍යයෙහි ද බොහෝ සෙයින් අපට හමුවෙයි. එසේ ම මෙබඳු උවටැන් තම දෙමවුපියන්ට කළ යුතු බව සාහිත්‍යයේ බොහෝ නිර්මාණවල දැකිය හැකි ය.

'මාතා පිතු උපට්ඨානං' යනුවෙන් මහා මංගල සූත්‍රයේ සඳහන් වෙයි. ඇතකු ලෙස ඉපදී තම අඳ මවුපියන් රැකි පුතකු ගැන මාතුපෝසක ජාතක කතාවේ සඳහන් වෙයි. මෙලෙස අප සාහිත්‍යයේ මේ උතුම් ගුණදහම ගැන වර්ණනා වී ඇත.

අම්මාගේ හා තාත්තාගේ ගුණ කියැවෙන සාහිත්‍ය නිර්මාණ රස විඳින විට තම සිත්හි උපදින ආදරණීය හැඟීම නිසා ම පුද්ගලයා තුළ දෙමවුපියන් ගැන ගෞරවය හා ආදරය ඇති වෙයි.

මවුපියනට ආදරය කරන දරුවන් සමාජයට අවැඩක් කරන්නේ නැත. සාහිත්‍යය ඒ සඳහා ඔවුන්ට උපදෙස් දෙයි.

පුල හෙළ කුසුම **ලිය පිය** තෙපල රන් කෙඬි...
බල සුබ නිමිති පෙර මග නැකතටත් වැඩි

**සැලළිහිණි සංදේශය**

පෙර මග සුබ නිමිති ගැන පවසන රාහුල හිමි, ප්‍රිය වචන කතා කරන්නිය සුබ නිමිත්තක් බව කියයි. ප්‍රිය වචන කතා කරන්නට මුළු සමාජය ම උත්සාහ ගන්නේ නම් වෛරය, ක්‍රෝධය, ඊර්ෂ්‍යාව වැනි මිනිසා විනාශ කරන හැඟීම් පහළ නොවනු ඇති. නන්දිවිසාල ජාතකය ප්‍රිය වචන කතා කිරීමේ වැදගත්කම ගැන අපට මහඟු ආදර්ශයක් සපයයි. එහි කියවෙන බ්‍රාහ්මණයා තරගයෙන් පරාජය වීම සිදු වන්නේ බර උසුලන වෘෂභයා පෙර පරිදි ගැල් ඇදීම නොකළ බැවිනි. එය එසේ වූයේ "අඳුව කුළ, උසුලව කුළ" යනුවෙන් සැරපරුෂ ලෙස අණ දීම නිසා ය. පරාජයට පත් වී ශෝකයෙන් පසු වුණු බ්‍රාහ්මණයාට වෘෂභයා පවසන්නේ මෙසේ ය.

> "බ්‍රාහ්මණය, මෙපමණ කලක් තොපගේ ගෙයි වසන්නා වූ මා විසින් කිසි භාජනයක් බිඳපීමක් හෝ කිසිවක් මැඩ මිරිකීමක් හෝ නුසුදුසු තැනෙක්හි මලමූත්‍ර බැහීමක් හෝ කළ විරි දෑ ද? එසේ කල්හි මට කවර දෝෂයකින් කුළුවාදයෙන් කීයෙහි ද?"

සැර පරුෂ වචනයෙන් කතා කිරීම නිසා සිදු වූ පාඩුව ගැන හා එය කොතරම් අයහපත සාදන්නේ ද යන්න පැහැදිලි කළ බුදුන් වහන්සේ "අන්‍යයන් හා කථා කරන්නේ චතුර්දෝෂ

විරහිත වූ මිහිරි වූ මටසිලුටු වූ මොළොක් වූ ප්‍රිය වචනයෙන් ම බිණිය යුත්තේ ය. කිසි කලෙක්හිත් අමනෝඥ වචනය නො බිණිය යුත්තේ ය," යනුවෙන් ශික්ෂාපද පැනවූ සේක. සාහිත්‍ය නිර්මාණ මගින්, යහපත් වචනය පුද්ගලයාගේ යහපත සලසන සාරධර්මයක් බව පැහැදිලි කෙරෙයි. සමාජයේ ජීවත් වන විට අන්‍යෝන්‍ය සබැඳියාව සඳහා ද ප්‍රිය වචන බලපාන බව ඇස්. මහින්ද හිමියන්ගේ පහත පද්‍යයෙන් ද ප්‍රකට වෙයි.

කඩු දහයෙකින් වන රිදුමට වඩා රළු
එක තෙපලකින් වන රිදුමට වෙයි කැකුළු
මනු ලොව දුකින් ගලවනු රිසි නම් යහළු
පිය වදනකින් සනහනු සත් වග සියලු

මේ සමාජයේ බොහෝ ව්‍යසන හා අපරාධවලට හේතු වන්නේ වචන භාවිත කිරීමේ දී ඒ පිළිබඳව දෙවරක් නොසිතීම යි. මේ දුර්ගුණය මග හරවා ගෙන යහගුණය වඩවා ගෙන අන්‍යයන්ට සතුට, සහනය ලබා දීමට සාහිත්‍ය නිර්මාණ මගින් ලැබෙන පිටිවහල කොතෙක් දැයි වැටහෙනු ඇත.

දෙයක් වේ නම් යම්
සුදුස්සාට ම අයිති විය යුතු
ම කියනා ලෙස මෙලෙද
ලැබිය යුතු අයමයි ලැබිය යුතු

- **බර්ටෝල්ට් බ්‍රෙෂ්ට්ගේ**
The Cocacian chalk circle
නාට්‍යයේ සිංහලානුවාදයෙනි.

සමාජයේ බොහෝ ගැටලු මතු වන්නේ සුදුස්සාට සුදුසු තැන නො ලැබෙන නිසා ය. මෙයින් පුද්ගලයා ද සමාජය ද පිරිහෙයි. විනාශකාරී තත්ත්වයන් මතු වෙයි. හෙන්රි ජයසේනයන් නිෂ්පාදනය කළ හුණුවටයේ කතාව නම් වේදිකා නාට්‍යය අපට මේ බව පසක් කරයි.

මෙය සමාජයේ වෙසෙන සියලු දෙනා ම පිළිගත යුතු, පිළිපැදිය යුතු දහමකි. එමගින් බොහෝ ගැටලු විසඳා ගත හැකි ය. වර්තමානයේ බොහෝ ආයතන පරිහානිය කරා යන්නේ නුසුදුස්සන්ට තනතුරු ලබා දීමෙනි. අපේ ම සාහිත්‍යය අපට උපදෙස් දෙන්නේ එබඳු අමනෝඥ ක්‍රියා නො කරන ලෙස යි. සුදුස්සා සුදුසු ලෙස කටයුතු කරද්දී සියල්ල යහපත් වනු ඇත.

සොබා දහම අපට බොහෝ දේ ලබා දෙයි. ඒත් අප සොබා දහමට ලබා දෙන්නේ මොනවා ද? සුළඟ, වැස්ස, අව්ව, තුරුලතා, සෙවණ, වැලිතලා, කුරුලු ගීත, බිඳෙන රළෙහි සිසිලස, ගංගා දියඇලිවල සුන්දරත්වය යනාදී සියල්ල අපට ලබා දෙන මේ ලෝකයට අප ලබා දෙන්නේ මොනවා ද?

ඉස්සර කාලේ ඉර හඳ සෙවණේ
ගහ කොළ නැමඳූ මිනිසුන්නේ
ඔබ දැන සිටියා වනන්තරේ වග
ඒකයි කළ ගුණ මෙනෙහි කළේ ...

**- විනීතා බී. අබේවික්‍රම**

අතීතයේ ගොවියා කුඹුරු ලියැද්දක් ඉතිරි කළේ ද කුරුල්ලන්ට ය. එය 'කුරුලු පාළුව' නමින් හැඳින්විණි. අද එය ද සමාජයෙන් ක්‍රමයෙන් ඉවත් වන ලකුණු පෙනේ. පොඩි මල්ලියේ නම් පද්‍ය නිර්මාණය, මේ සාරධර්ම සමාජය තුළ පෝෂණය කරවන්නට ගත් උත්සාහයක් ලෙස ද හැඳින්විය හැකි යි.

මේ සේරම තෑගි ලැබුණෙ ලොවින් - නුඹට
මොනවද මල්ලියෙ දෙන්නේ නුඹෙන් ලොවට
එක පාරට
ටකේ ගසන්නෙපා මලේ
කුරුල්ලංට
ඉඩක් දියං
එක කරලක් ඇදං යන්ට

**- පරාක්‍රම කොඩිතුවක්කු**

ආගන්තුකයකුට කරන සත්කාරය ද සමාජයේ වැදගත් සාරධර්මයකි.

පෙර දැක නොමැති මුත් සුන්දරහාමි විසින්
මගෙ තොරතුරු ඇසූ සැටි හිතවතකු ලෙසින්
ගෙඩියක් කඩාගෙන ගෙමිදුල තැඹිලි ගසින්
පිළිගැන්වී ය මට සොම්නස පිරුණු ඇසින්

**- විමලරත්න කුමාරගම**

සිංහල සාහිත්‍යයේ පමණක් නොව **භගවද් ගීතාව, උපදේශ ශතකය, නීති ශතකය, හිතෝපදේශය, පඤ්චතන්ත්‍රය ප්‍රත්‍යය ශතකය** වැනි සංස්කෘත ග්‍රන්ථ මගින් ද සාරධර්ම වර්ධනය කර ගැනීම සඳහා සපයන උපදේශ බොහෝ ය. නූතන සමාජයෙහි පවතින අපරාධ, අසාධාරණ හා ව්‍යසන සඳහා ප්‍රධාන වශයෙන් බලපාන්නේ සාරධර්ම පිරිහීම යි. ඊට පිළියමක් ලෙස පොත පත ඇසුරෙන් සාරධර්ම වටහා ගෙන, ඒවා අප තුළ වර්ධනය කර ගෙන අන්‍යයන් තුළත් සාරධර්ම ඇති කිරීමට ඇප කැප වෙමු.

පිදුරුතලාගල සේ උස් ප්‍රාර්ථනා
සමනොළ ගල එකමුතුකම
මිහින්තලාවේ නැණ ගුණ
සීගිරියේ යසිසුරු
මහපොළොව සේ පැරණි දිවයිනක
මහවැලිය සේ පැරණි ලේ නහර
ධර්මේ,
කාසිම්,
රාජසුන්දරම්
වරෙල්ල
අපි ඔක්කොම එකතු වෙලා
මේ ලෝකය
යහපත් තැනක් කරමු මීට වැඩිය ...

**- මහගම සේකර**

## අවබෝධය

1. සාරධර්ම යනු මොනවා දැ'යි කෙටියෙන් පැහැදිලි කරන්න.
2. සිංහල සාහිත්‍යයෙහි එන උපදේශ කාව්‍ය තුනක් නම් කරන්න.
3. මේ පාඩමේ විස්තර කෙරෙන සාරධර්ම පහක් කෙටියෙන් හඳුන්වන්න.
4. විවිධ ආගම් අදහන්නන් තුළ සාරධර්ම වර්ධනය කිරීම සඳහා භාවිත කරන ධර්ම ග්‍රන්ථ තුනක් නම් කරන්න.
5. වර්තමාන සමාජය තුළ සාරධර්ම ඇති කිරීම සඳහා නිර්මාණ බිහි කළ ලේඛකයන් තිදෙනකු නම් කරන්න.

## ලිඛිත අභ්‍යාස

1. **පන්තියේ සිසුන් කණ්ඩායම් පහකට බෙදී, පහත සඳහන් පැවරුම්වල නිරත වන්න.**

I කණ්ඩායම

සාරධර්ම පිළිබඳව කියැවෙන කවි දහයක් **සිරිත්මල්දම** ග්‍රන්ථයෙන් උපුටා දක්වන්න.

II කණ්ඩායම

**සුභාෂිතයෙන්** තෝරා ගත් කවි දහයක ඇතුළත් උපදේශ විස්තර කරන්න.

III කණ්ඩායම

**ලෝකෝපකාරය** නම් ග්‍රන්ථයේ දැක්වෙන උපදේශ දහයක් සඳහා උදාහරණ දක්වන්න.

iv කණ්ඩායම

කණ්ඩායමට ඇතුළත් සෑම කෙනකුම **ලෝවැඩ සඟරාවෙහි** ඇතුළත් පද්‍යයක් බැගින් තෝරා ගෙන එයින් කියැවෙන උපදේශ මගින් සාරධර්ම පෝෂණය වන ආකාරය පැහැදිලි කරන්න.

v කණ්ඩායම

උපදේශයක් ඇතුළත් ගීත ඉදිරිපත් කර, එමගින් සාරධර්ම වර්ධනය කර ගත හැකි ආකාරය පැහැදිලි කරන්න.



# නිපාත පද

අප උගත් නාම පද හා ක්‍රියා පද විවිධ ආකාරයෙන් වර නැඟිය හැකි ය. වචන භේදයෙහි හා ලිංග භේදයෙහි නාම පද වර නැගේ. ක්‍රියා පද පුරුෂ භේදයෙහි හා කාල භේදයෙහි වර නැගේ. එහෙත් එලෙස වෙනස් කළ නොහැකි පද විශේෂයක් සිංහලයෙහි ඇත. ඒවා 'අව්‍යය පද' ලෙස හැඳින්වෙයි. අව්‍යය පද නිපාත හා උපසර්ග ලෙස වර්ග දෙකකි. පදයක මුලින් යෙදී එම පදයේ අර්ථයට විරුද්ධාර්ථයක් දෙන, අර්ථය තීව්‍ර කරන පද විශේෂය උපසර්ග නම් වේ. නිපාත පදවලින් කෙරෙන්නේ වාක්‍යයක අර්ථය පැහැදිලි වන සේ එහි පද සම්බන්ධ කිරීමේ කාර්යය යි. පහත සඳහන් වැකිය කියවන්න.

**අම්මා දරුවා ගමට යයි.**

මෙහි අර්ථය පැහැදිලි නැත. අර්ථය පැහැදිලි කිරීම සඳහා මේ වාක්‍යය වෙනස් කරන්නට නිපාත පද යෙදිය යුතු යි.

| |
|---|
| අම්මා **සමග** දරුවා ගමට යයි. |
| අම්මා **ද** දරුවා **ද** ගමට යති. |
| අම්මා**ත්** දරුවා**ත්** ගමට යති. |
| අම්මා **නොහොත්** දරුවා ගමට යයි. |
| අම්මා එන **තුරු** දරුවා ගමට යයි. |
| අම්මා **වෙනුවෙන්** දරුවා ගමට යයි. |
| අම්මා **නිසා** දරුවා ගමට යයි. |

මේ ආදි වශයෙන් නිපාත පද යොදා, පද සම්බන්ධ කර අර්ථය පැහැදිලි වාක්‍යයක් නිර්මාණය කළ හැකි ය. නිපාත පද වෙන් කොට ලිවිය යුතු වුවත් විටෙක සමහර නිපාත පද අනෙක් පදයක් සමඟ එක්ව ද භාවිත වේ. නිපාත පද විවිධ අර්ථවල යෙදෙයි.

පහත සඳහන් වගුව හොඳින් අවබෝධ කර ගනිමු.

| අර්ථය | අදාළ නිපාත |
|---|---|
| කාලාර්ථය<br>(කාලය හැඟවීම) | අද, හෙට, ඊයේ, යළි නිරතුරු, ඉක්බිති, නිතොර, දැන්, නිති, පුන, පැසුළු |
| සමුච්චයාර්ථය<br>(පද සම්බන්ධ කිරීම) | ද, ත්, සහ, හා, සමග, කැටුව, යි |
| භාවාර්ථය<br>(හැඟීම් දැනවීම) | අනේ, අපොයි, අය්යෝ, අහා, ඔහෝ, ආයි, ඌයි, චිඃ, ඌඃ |
| ආමන්ත්‍රණාර්ථය<br>(ඇමතීම) | එම්බා, එම්බල, කොල, ඒයි, බොල |
| ප්‍රමාණාර්ථය<br>(ප්‍රමාණය දැක්වීම) | විතර, තරම්, සා, තාක්, තුවක්, බැගින් |
| විකල්පාර්ථය<br>(යමක් වෙනුවට යන අදහස දීම) | හෝ, නොහොත්, හෙවත් |
| පිණිස අර්ථය<br>(යමක් වෙනුවෙන් යන අර්ථය) | උදෙසා, සඳහා, පිණිස, නිසා, වස්, අරබයා, වෙනුවෙන් |
| සීමාර්ථය<br>(සීමාව දැක්වීම) | සිට, පටන්, තෙක්, දක්වා, තුරු |
| ශීඝ්‍රාර්ථය | සෙද, වහා, සැණින්, හනික |
| විනාර්ථය | විනා, හැර, මිස, මිසක්, මුත් |
| විභක්ත්‍යාර්ථය | විසින්, ගෙන්, කෙරෙන්, හට, කෙරෙහි, තුළ, මත, උඩ |
| උපමාර්ථය | මෙන්, සේ, වැනි, වගේ, අයුරු, ලෙස, බඳු, එව් |
| හේතු අර්ථය | නිසා, බැවින්, හෙයින්, අරබයා |
| ප්‍රශ්නාර්ථය | ඇයි, කිම, ද, මන්ද, |

## ලිඛිත අභ්‍යාස

1. පහත සඳහන් නිපාත පද කවර අර්ථයක් ප්‍රකාශ කරන්නේ දැ'යි ඉදිරියෙන් ලියා දක්වන්න.

| | | | |
|---|---|---|---|
| සඳහා | - | අද | - |
| පුන පුනා | - | අයියෝ | - |
| සහ | - | මෙන් | - |
| නොහොත් | - | දක්වා | - |
| විසින් | - | නිසා | - |

2. පහත සඳහන් වාක්‍යවල හිස්තැන් පිරවීම සඳහා සුදුසු නිපාත යොදන්න.

i. දෙවියන් ............................ පුද පූජා පැවැත්වීම විපතට පත් වූ බොහෝ දෙනාගේ කාර්යයකි.

ii. ශීඝ්‍රගාමී දුම්රිය මරදාන දුම්රිය ස්ථානයේ ............................ අනුරාධපුර ............................ ගමන් කරයි.

iii. රූපශ්‍රීය ............................ ඈ දෙවඟනක ............................ බබළයි.

iv. පරිසර දිනය සැමරීම ............................ විදුහල්පතිතුමා ............................ සිසුහු ......................... කටයුතු සූදානම් කරති.

v. ............................ දුෂ්ටය, තා මේ මග රැක සිටිමින් තැත් කරන්නේ මා ............................ මාගේ සේනාව ආක්‍රමණය කරන්නට ද?

3. පහත සඳහන් පද්‍ය පාඨවල යෙදී ඇති නිපාත උපුටා දක්වන්න.

i. "ළමයෙක් ඒ අසා - හැඬී බළලකු විලසා"

ii. "කිම් ද මැණියනි ඔබ මේ - පවසන වදනා"

iii. "ළිප ගිනි මොළොවන තෙක් දිය සැළියේ
සැපයක් යැයි කකුළුව දිය කෙළියේ"

iv. "නිති නිරිඳුගෙ රැකවලෙහි නියුත්තෝ
රැති ලෙස රුපුනොද බිඳ ජය ගත්තෝ"

v. "සුරන් සහ සහසැස් - නොකර සිටියේ අහස් කුස් හිස්"

## ප්‍රායෝගික අභ්‍යාස

1. විවිධාර්ථවත් නිපාත පද විවිධ හැඩතල සහිත පත්‍රිකාවල ලියා, පන්තියේ ප්‍රදර්ශනය කරන්න.
2. නිපාත පද යොදා වාක්‍ය නිර්මාණය කරන්න.
3. පෙළපොතෙහි ඔබ කැමැති පාඩමක යෙදී ඇති නිපාත පද තෝරා ලියන්න.
4. පහත සඳහන් නිපාත විවිධ හැඟීම් ඇති වන ආකාරයට උච්චාරණය කරන්න.

| | | | | | |
|---|---|---|---|---|---|
| i. | අනේ | - | ii. | අයියෝ | - |
| iii. | එපා | - | iv. | ඇයි | - |
| v. | ඉතින් | - | | | |



# නිවැරදිව වචන වෙන් කරමු

අදහස් ප්‍රකාශ කිරීමේ දී එය ශ්‍රාවකයාට අවබෝධ කරවීමේ උපාය මාර්ග ලෙස, අවශ්‍ය තැන්වල දී හඬ උස් පහත් කිරීම හා ඒ ඒ අදාළ වචනවලට පසුව විරාමයක් තැබීම භාවිත කෙරෙයි. එහෙත් ලේඛනයේ දී පාඨයක අදහස පැහැදිලි කිරීම සඳහා උපක්‍රම දෙකක් භාවිත කෙරේ. ඒ විරාම ලක්ෂණ යෙදීම හා නිවැරදිව වචන වෙන් කිරීම යි. සිංහලයේ ප්‍රධාන වශයෙන් පද වර්ග තුනකි. නාම පද, ක්‍රියා පද හා අව්‍යය පද යනුවෙන් එම පද වර්ග හැඳින්වේ. නාම පද හා ක්‍රියා පද වෙන් කොට ලියා දක්වන අතර අව්‍යය පද ගණයට අයත් උපසර්ග වෙන් කොට ලියා දක්වන්නේ නැත. නිපාත පද වෙන් කොට ලිවිය යුතු වුවත් සමහර නිපාත වෙන් කොට ලියන්නේ නැත.

පද බෙදා ලිවීම හා සම්බන්ධ රීති හා සම්මත රාශියක් වෙයි. ඒ අතුරින් රීති හා සම්මත කීපයක් අපි උගනිමු.

### සම්බන්ධවාචී 'ත්' නිපාතය පෙර පදය හා එක් කොට ලිවීම

උදාහරණ:- ඔහුත් මමත් තරගයට සහභාගි වෙමු.
අම්මාත් අයියාත් පාසලට යෑමට පිටත් වූහ.

### විධි ක්‍රියා පදවල යෙදෙන 'ව' 'වු' ප්‍රත්‍යය එක් කොට ලිවීම

උදාහරණ :- කරව, කරවු, බලව, බලවු.
ඔබට පැවරූ කාර්යය හොඳින් ඉටු කරවු.
සෙබළුනි, යුද්ධය සඳහා පිටත් වී යෑමට සැරසෙවු.
නිරතුරුව කුසල් රැස් කරවු.
ඔවුන් පලා ගියේ දැ'යි විමසවු.

### ප්‍රාර්ථනාර්ථ 'වා' ප්‍රත්‍යය එක් කොට ලිවීම

උදාහරණ:- මම නිදුක් වෙම්වා!
නුඹලාට ශිල්ප සෑදේවා!
දරුවෝ යහමග යත්වා!
නුඹ නීතිගරුක වෙහිවා!

### ප්‍රයෝජ්‍ය ක්‍රියා අර්ථයේ 'ව, වී, වූ, වන' ප්‍රත්‍යය එක් කොට ලිවීම

උදාහරණ:- තාත්තා පෙදරේරුවන් ලවා ගොඩනැගිල්ල තනවයි.
සංවිධායකයා, නිවේදකයා ලවා උත්සවය ආරම්භ කරවී ය.
රජවරුන් කරවූ වැව් අපට සම්පතකි.
අලසයන් ලවා කරවන කුඹුරුවලින් නියමිත අස්වැන්න නො ලැබේ.

ඉහතින් දැක්වූයේ පද බෙදීම සම්බන්ධයෙන් සම්මත වූ රීති කීපයකි. ලේඛනයේ දී මේ රීති හඳුනා ගෙන ඒවා අනුගමනය කරමින් නිවැරදි ලේඛන ව්‍යවහාරයක යෙදෙන්න.

## ලිඛිත අභ්‍යාස

1. **පහත සඳහන් පාඨ නිවැරදිව පද බෙදා ලියන්න.**

   i. නවය ශ්‍රේණියේ පන්තිභාර ගුරුතුමිය සිසුන් ලවා සූදානම් කර වූ චාරිකාවට ගුරුවරු ත් විදුහල්පතිතුමා ත් සතුටින් සහභාගි වූහ.

   ii. සංවිධායක මණ්ඩලය විසින් කැඳ වන ලද දේශකයා සියලු දෙනාට ම සුබ දවසක් වේ වා! යි පතමින් දේශනය ආරම්භ කළේ ය.

   iii. තෙලු ත් මලු ත් රැගෙන පන්සලට යන සැදැහැවතුන් දේවාලයට ද ගොස් වෙනත් අය ලවා යාතිකා කර වන අයුරු අපි බලා සිටියෙමු.

   iv. බල ව අනුරාපුර හා පොලොන්නරු වැව් සයුරුවල අපූරුව!

   v. නැර ලොලය වඩ වන දුටු දනන් හට<br>කැරගලය වැජඹෙයි මේ ලෙසින් සිට

2. **පහත සඳහන් පාඨවල වචන නිවැරදිව වෙන් කර නැවත ලියන්න.**

   i. පාසලනිමවීනිවෙසටයනවිට වැස්සක්ඇදහැළුණුනිසා මල්ලීත්මමත් අඩක්නිමකරවූනිවෙසකට ගොඩවැදුණෙමු.

   ii. රාජපුරුෂයිනිවහා කුමරුන්කැඳවවූ.

   iii. ඔබටයහපතක්මවේවා!

   iv. කරවපියාසරසකිකොන්තගංතොටින්

   v. මිනිසුන්ලවාපොල්කඩවනඅම්මා දෙසමල්ලීත්අයියාත්බලාසිටිති.

## ප්‍රායෝගික අභ්‍යාස

1. **පෙළපොතෙහි පාඩම් හොඳින් කියවා, ඒවායෙහි වචන වෙන් කර ඇති ආකාරය හඳුනා ගන්න.**

2. **නිවැරදිව වචන වෙන් නොකිරීම නිසා අදහස වෙනස් වන අවස්ථාවලට උදාහරණ සපයන්න.**

   උදාහරණ - ඔහු බලියා ගත් පහ තරට බෙර වාද නයත් උගත් තේ ය.



# 19

# රස විඳිනා දැනුම මනා

සාහිත්‍ය කෘතියක් යනු භාෂාව පදනම් කොට ගත් නිර්මාණයකි. එබඳු කෘතියක් කියවා එහි අගය හැඳින ගැනීමටත් එහි ඇතුළත් වන රස විඳ ගැනීමට හා එයින් විඳ ගත හැකි රස මෙසේ යැයි අනුන්ට හේතු සහිතව පෙන්වා දීමටත් ඇති හැකියාව සාහිත්‍ය විචාරය යි. හොඳ සාහිත්‍ය කෘතියක් හඳුනා ගත නොහැකි තැනැත්තාට තමන් කියවන හැම දෙයක් ම ‘හොඳ’ විය හැකි ය. එබැවින් රස - නොරස හඳුනන්නකු - එනම් විචාරකයකු - ඉදිරිපත් වී ‘හොඳ’ සාහිත්‍ය කෘතියක් හඳුනා ගැනීමට මග පෙන්විය යුතු ය.

එබඳු මග පෙන්වීමකින් උසස් සාහිත්‍ය නිර්මාණ පරිශීලනයට ආධුනිකයන් යොමු කළ හැකි ය.

